සැඟවුණු බෝදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2558ක් වූ දුරුතු මස (ව්‍යවහාරික වර්ෂ 2015 ජනවාරි)

39 වෙනි කලාපය



## සෙනසුරු ව්‍රාෂ්ටකය සහ බලු කපුටු දානය දහම් ඇසින්...

සැඟව ගිය බෝදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

රු. 20/-





# හදේ නැති දෙවියෝ දෙවොල් අරමෙට වැඩියෝ

දෙවන ගතිය දෙව් භව ලැබ දෙන්නේ
කරන පවු දහම් හොඳ නොකියන්නේ
පෙනෙන මනු සතුන් දිවැසට එන්නේ
නොදැන හෙවෙයි ආසිරි සලසන්නේ

පිදුවට පුරවා දහසින් පළතුරු
තමනට නැතිනම් මනසක් පිවිතුරු
සවනට නොගනියි ගුණයක් එන තුරු
පිහිටට නොම එයි දෙවියන් සුමිතුරු

හද තුළ නැති බැති පිටතට පෙන්වා
තද අකුසල් ගති හද තුල ගන්වා
වැඳ තම දුක දෙවියන් හට දන්වා
අදහස ඉටු වෙද දෙව් දුව ගෙන්වා

සුවඳ සඳුන් දුම් කපුරු පහන් යන
තවද අවුල් පත් පඬුරු පිටින් ගෙන
නොවැඳ බුදුන් දම් සඟ තෙරුවන් ගුණ
ලොවද අවුල් කර මියෙති දුකින් දන

තුරන් කරල දෙන ලෙසින් ඇසීමට
වරම් නොමැත දෙව් අනුන් නැසීමට
දරන් ඉන්න දෙයි හොඳින් විසීමට
මුරණ්ඩු නම් වෙයි දුකින් පැසීමට

තම වාසියටම දෙවියොත් රවටා
පමණාට වැඩියෙන් පඬුරුද දවටා
එම තැන් අරගෙන වින කර ලොවටා
නොම දෙත් දෙවියන් නම් තැන පවටා

දෙනවා නම් ඉල්ලන හැම දේමත්
වෙන අය කුමටද ඇති හැම දාමත්
පණ මෙන් හිටියට දෙව් ළඟ තාමත්
වැනසෙන දවසට වෙන් වෙති කෝමත්

පස් පවු නොකරන මනු සත පේවී
දොස් හැර දා දෙවියන් වෙත යාවී
ඇස් ඇරලා දෙව් ආසිරි දේවී
වස් නැත දෙවියන් හදෙහි ළඟීවී

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

# නිවන් මාර්ගයේ මුල පටන් ගැන්ම අපදාන පාළිය තුලින්...

**19 වන කොටස**



බුද්ධ සාසනය වෙනුවෙන් අපූරු දානයක් දුන්න උතුමෙක්ගෙ කතාවක් තමයි මේ කියන්න යන්නෙ. මෙකල බුද්ධ සාසනයේ මහා ශ්‍රාවකයෙක් නොවුනත්, උන්වහන්සේ බුද්ධ සාසනය වෙනුවෙන් දුන්න දානය හරිම අපූරු එකක්. උන්වහන්සේ ප්‍රසිද්ධ වුනේ පංච සීල සමාදානිය රහතන් වහන්සේ නමින්. ඒ නම ලැබුනෙ, උන්වහන්සේ කරපු ඒ ක්‍රියාව නිසා. ඉතින් අනෝමදස්සි බුදු පියාණන් වහන්සේ වැඩ ඉන්න කාලෙ, මේ අරිහතුන් වහන්සේ චන්ද්‍රවතී කියන නගරයේ බැල මෙහෙවරකම් කරල තමයි ජීවත් වුණේ. කෑම බීම විතරයි ලැබුණෙ. මේ පහත් කුලය නිසා කිසිම තැනක පැවිද්දක් ලැබුනෙත් නෑ. පැවිද්ද ලැබුනෙ නෑ කිව්වෙ බුද්ධ සාසනය තුල නෙවෙයි, අන්‍ය සාස්තෘන් කෙරෙන් තමයි පැවිද්ද නොලැබුනේ. ඒ කාලෙ තිබ්බ ක්‍රමය ගැන, රාග, ද්වේශ, මෝහයෙන් කරන වැඩ ගැන මිනිස්සු කළකිරිල හිටියෙ. ඒ නිසා පැවිදි වෙලා වෙන් වෙලා ඉන්න හිතෙන්න ඇති. නමුත් අඩු කුලයක ඉපදිලා අනුන්ගෙ බැල මෙහෙවරකම් කරල ජීවත් වුන නිසා අන්‍ය සාසනයකවත් පැවිද්ද ලැබුනෙ නෑ.

ඉතින් එතුමා අනෝමදස්සි බුදුන් වහන්සේ කෙරෙහි පැහැදිලා, දානයක් දෙන්න ක්‍රමයක් නැතුව නිතරම කල්පනා කර කර හිටියා. ''අනේ මම කිසි දෙයක් කර කියාගන්න බැරි බැලයෙක්, මෙහෙකාරයෙක්, මම කොහොමද දානයක් දෙන්නෙ, මමත් කන්න හොයා ගන්නෙ බොහොම අමාරුවෙන්, කොහොමටවත් එහෙම දානයක් දෙන්න ක්‍රමයක් මට නෑ. ඒත් මට දෙන්න පුළුවන් දෙයක් තියෙනවා, මම බුද්ධ සාසනය වෙනුවෙන් සිල් රකිනවා.'' මෙහෙම හිතල අනෝමදස්සි බුදුන් වහන්සේ ළඟ නිසභ නමින් පැවිදි වුනා. පංච සික්ෂාව ඉගෙන ගෙන දරා ගත්තා. කිසිම අඩු පාඩුවක් නැතුව බුද්ධ සාසනය වෙනුවෙන් ඒක රැක්කා. කොච්චර කල් රැක්කද කියනව නම්, ඒ කාලෙ ආයුස අවුරුදු ලක්ෂයක් වෙන කල්ම ඒ පංච සික්ෂාව රැක්කා. ඉතින් මරණ මොහොත එනකොට ඒ ඒ අයගෙ දිව්‍ය රථ ගෙනල්ල දෙවියො පොර කනවා, මේකට නගින්න මේකට නගින්න කියල. මොකද **බුද්ධ දේශනාවෙ සඳහන් වෙනවා, වත රැකීම කියන්නෙ දෙවු ලොවට ඉනි මගක් කියල. ඒ වගේම සීලය සමාධියටත්, ප්‍රඥාවටත් හේතු වෙනවා.** ඉතින් ඒ කතාව මේ අරිහතුන් වහන්සේගෙ අතීත භවය ගැන කියන කතාවෙන්ම ඔප්පු වෙනවා.

මෙතනදි බුද්ධ සාසනයට දානයක් දීපු අපූරු ක්‍රමයෙන්, කෙනෙකුට ගන්න වටිනා දෙයක් තියෙනවා. අදටත් ඇහෙන කතාවක් තමයි, අපි කොහොමද අර විදිහට දන් දෙන්නෙ, අනේ අපිට වත්කමක් නෑනෙ, අනේ අපිට කට්ටිය නෑනෙ උදව් කරන්නවත් කියල. එහෙම නැත්නම්, මට ඇවිද ගන්නවත් බෑනෙ කොහොමද මම දානෙ අරගෙන ගිහින් පූජා කරන්නෙ කියල මෙහෙම අදහස් ගන්නවා. දානයක් කිව්වම බොහෝ අයගෙ මතකයට එන්නෙ යම් කිසි භෞතික වස්තුවක් හෝ ආහාර පාන හෝ අරගෙන ගිහින් බුදුන් වහන්සේ ප්‍රමුඛ ආර්ය සංඝයා උදෙසා පූජා කිරීම. එහෙම බැරි කෙනෙක් කරන්නෙ, ඒ කරපු පිංකම සිහි කරල අනුමෝදන් වීම. අනුමෝදන් වෙනව කියන්නෙ තව කවුරු හරි කරපු පින්කමක් දැකල, අනේ කොච්චර වටින දෙයක්ද, කොච්චර හොඳ වැඩක්ද, බුද්ධ සාසනය වෙනුවෙන් කරපු ඒ වැඩේ කොච්චර වටිනවද කියල නුවණින් දැකල සතුටු වෙන එක. ඒකත් කර ගන්න බැරි නොතේරෙන අය කරන්නෙ, අනේ අපිට බෑනෙ කියල ලතැ වෙන එක. නමුත් ඉහත සඳහන් කළේ, කිසිම භෞතික වස්තුවක් හෝ ආහාර පාන හෝ වස්ත්‍ර හෝ දන් දුන්න කතාවක් නෙවෙයි. දන් දුන්නෙ ප්‍රතිපත්ති ගරුකව වාසය කිරීමෙන්. මම බුද්ධ සාසනය වෙනුවෙන් කැප වෙනවා කියල හිතාගෙන පංච සික්ෂාව නොකඩවා රැක්කා. භික්ෂූන් වහන්සේ නමක් විදිහට පැවිදි වෙලා හිටපු නිසා ඒ සික්ෂාව රැක්කා.

ගිහි කෙනෙක් නම් කරන්න පුළුවන් දෙයක් තමයි, පංච දුෂ්චරිතයෙන් වෙන් වෙලා සිටීම. මම මේ දවසම බුද්ධ සාසනය වෙනුවෙන් කැප වෙලා සතුන් මැරීමෙන් වැලකිලා ඉන්නවා, සොරකම් කිරීමෙන් වැලකිලා ඉන්නවා, දුසිරිතෙන් දුරු වෙලා ඉන්නවා, බොරුවෙන් වැලකිලා ඉන්නවා, මත් පැන්වලින් වැලකිලා ඉන්නවා කියල අධිෂ්ඨාන කරගෙන ඉන්න පුළුවන්. මේකත් තමන්ගෙ සත් පුරුෂකම දන් දුන්න වෙනවා. ඉතින් කිසිම මිල මුදලක් යන්නෙත් නෑ, තමන්ට එන සිතිවිල්ල සහ අධිෂ්ඨානය විතරයි වැදගත් වෙන්නෙ. ඒ වගේම විශේෂම කාරණය තමයි, මේ කරන්නෙ අප්‍රමාණ ගුණ ඇති බුද්ධ සාසනය වෙනුවෙන් කියල නුවණින් තේරුම් ගැනීම. අප්‍රමාණය කෙනෙකුට හිතා ගන්න අමාරු නම්, මේ අනන්ත අහස වගේ ගුණ ඇති .... කියල අනුමානයෙන් හිතල ගන්න පුළුවන්.

මේ කාරණය තේරුම් ගන්න දහමෙ එන කතාවක් තියෙනවා. එක්තරා රජ කෙනෙක් භික්ෂූන් වහන්සේ ☞

නමකගෙන් බණක් අහන්න ගිහින්, බුදුන් වහන්සේ කෙබඳු ගුණ ඇත්තෙක්ද කියල අහනවා. එතකොට උන් වහන්සේ, මහ පොළව තරම් ගුණ ඇත්තෙක් .... ආදී වශයෙන් උත්තර දෙනවා. එතකොට රජතුමා කියනවා, මහ පොළව සීමා සහිත නිසා ඒ උපමාව බුදුන් වහන්සේට ගැලපෙන්නෙ නෑ කියල. ඊළඟට මහා සාගරය තරම් ගුණ ඇත්තෙක් කියල මේ හාමුදුරුවො දෙවනුව විස්තර කරනවා. මහා සාගරයත් සීමා සහිතයි, බුදුන් වහන්සේගෙ ගුණ සීමා කරන්න බෑ කියල, ඒ උපමාව ගැලපෙන්නෙත් නෑ කියල රජතුමා කියනවා. මෙහෙම එකින් එකට ගිහින් අන්තිමට අනන්ත ආකාසය වගේ කිව්වම තමයි, ඒක නම් ගැලපෙනව කියල රජතුමා පිළිගත්තෙ.

එතකොට නමාමි බුද්ධං ගුණ සාගරන්තං කියල කිව්වට, එතනින් කියවෙන්නෙ සාගර අන්තං කියල. ඒ කියන්නෙ ගුණ සාගරය නෙවෙයි, සාගර සීමාව ඉක්මවා ඇති කියන අදහස. ඒ කියන්නෙත් ගුණ අනන්තයි කියන එකම තමයි. එහෙම නැතිව සාගරයට උපමා කරන්න බෑ. ඒ ගුණස්කන්ධය සාගරයත් ඉක්මවා යනවා. ඒ නිසා ගුණ සාගරයක් වගෙයි කිව්වොත් ගැලපෙන්නෙ නෑ. ඒ වගේම මහ පොළවයි, මහ සාගරයයි කිව්වම දෙකම එක හා සමානයි කියල අදහස් එන්නත් පුළුවන්. මෙතනදි සිවු මහ සාගර කියල 4 ක් ගැන කියවෙනවා. ඒ කියන්නෙ මේ අපේ මනුස්ස ලෝකයට පේන සාගර නෙවෙයි. කිරි මුහුද, පබළු මුහුද, ස්වර්ණ මුහුද, නිල් මුහුද වශයෙන් කියන මේ සක්වලේ පිහිටි මනුස්ස ලෝක 4 වටා පිහිටල තියෙන මහා සාගර හතර. ඒවා මේ අපිට පේන මහා සාගරවලටත් වඩා සිය දහස් ගුණයක් විසාලයි. නමුත් ප්‍රමාණයෙන් ඒවත් සීමා සහිතයි. (මේ සාගර 4 ගැන විස්තරයක් ''අපට නොපෙනෙන ලෝකය දහම් ඇසින්'' ලිපි පෙළ යටතේ විග්‍රහ කරල තියෙනවා.)

ඉතින් මේ වගේ තම තමන්ට පුළුවන් ප්‍රමාණයෙන් හිතල ඒ විදියට කටයුතු කිරීමත් හරිම වටින දෙයක්. කොටින්ම, බුදුන් වහන්සේ පවු කරන්නෙ නැති කෙනෙක්, ඒක මම හොඳාකාරවම දන්නවා, උන්වහන්සේ පිහිටවපු සාසනය කාටවත් පාපයක්, අසාධාරණයක් කරන තැනක් නෙවෙයි, එහෙම ගුණ තියෙන තැනක්, ඒ වෙනුවෙන් මම ඉන්නවා කිව්වත් ඇති. කොහොම හිත තිව්වත්, හිත තියන්නෙ බුදුන් වහන්සේ කෙනෙකුට පමණක් හිතාගන්න පුළුවන් අප්‍රමාණ ගුණ තියෙන බුද්ධ සාසනය වෙනුවෙන්.

මේ කිව්වෙ එක පැත්තක්. අනෙක් පැත්ත තමයි මේ සිල් රකින අය, එහෙම නැත්නම් සිල් වතක් රකින පින්වතුන්ව, තවත් සමහර පින්වතුන් විසින් විවේචනය කරන්න පුරුදු වෙලා තියෙනවා. ''ඔහොම සිල් රැක රැක ඉඳල නිවන් දකින්න පුළුවන්ද ? සිල් වතක් රැක්කම සීලබ්බත පරාමාසයට වැටෙනවා. සෝවාන් වෙන්න ඒකෙන් ඉවත් වෙන්න ඕන ...'' මේ ආදී වශයෙන් විවිධාකාරයේ පණ්ඩිත කතා කියනවා. එහෙම කියන කෙනෙක්, අර සිල් වතක් රකින ගිහි පින්වතාගෙන් හෝ පැවිදි උතුමාගෙන් නිකමටවත් ඇහුව නම්, ඇයි එහෙම කරන්නෙ කියල, ඒ ගිහි පින්වතා හෝ පැවිදි උතුමා දෙන උත්තරය මොකක් වෙයිද? ඒ අය ඒ සීලය රකින්න කලින්, විශේෂයෙන් කියන දේවල් මොනවද කියල නිකමටවත් හිතුවද? මුලින්ම නමෝ තස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස කියල තුන් වරක් කියල, බුද්ධං සරණං ගච්ඡාමි, ධම්මං සරණං ගච්ඡාමි, සංඝං සරණං ගච්ඡාමි කියල තමයි වතක් හෝ රකින්න පටන් ගන්නෙ. එතකොට ඒ උතුමන් කා වෙනුවෙන්ද ඒ සිල් රකින්නෙ, කාගෙ උපදෙස් අනුවද ඒ සීලය රකින්නෙ කියල පැහැදිලි වෙනවා. නමස්කාරය කියල බුදුන්, දහම්, සඟුන් සරණ ගිහින් තමයි පටන් ගන්නෙ.

බුදුන් වහන්සේගෙන් ලැබෙන සරණ මොකක්ද, උන්වහන්සේලා සාරාසංඛ්‍ය, අටාසංඛ්‍ය, සොළොසාසංඛ්‍ය කියන අප්‍රමාණ කාලයක් පාරමිතා ධර්ම පුරල අවබෝධ කරගත්තු චතුරාර්ය සත්‍ය ධර්මය, පටිච්ච සමුප්පාද ධර්මය කියන සද්ධර්මයෙන් ලැබෙන සරණ මොකක්ද? ඒ ධර්ම මාර්ගය පූර්ණත්වයට පත්වුන ආර්ය සංඝයා වහන්සේලාගෙන් ලැබෙන සරණ මොකක්ද? හිතාගන්න බැරි අප්‍රමාණ කාලයක් ලෝක සත්වයා රාගයෙන් මිරිකිලා, ද්වේශයෙන් මිරිකිලා, මෝහයෙන් මිරිකිලා මේ සංසාරය පුරා කිසිම සරණක් නැතිව අසරණයො වගේ ඉබාගාතෙ යනවා. ඉතින් මේ අසරණයන්ට රාගයෙන් මිදෙන්න, ද්වේශයෙන් මිදෙන්න, මෝහයෙන් මිදෙන්න තමයි සරණ ලැබෙන්නෙ. **මොන ලෞකික දෙයක් ඉල්ලුවත් අවසානයේ බුද්ධ සාසනයෙන් ලැබෙන සරණ තමයි අමා මහ නිවන් සුවය.** අන්න ඒ සරණ මුලින්ම පතලයි ඊළඟට රකින වතක් හෝ සීලයක් සමාදන් වෙන්නෙ. එහෙම අය දිහා පිටින් බලල කෙනෙකුට කියන්න පුළුවන්ද, මොන පිස්සු වැඩක්ද මේ නිවන් දකින්නෙ නැතුව කර කර ඉන්නෙ කියල. ඉතින් බණ අහල අවබෝධ කර ගෙන සංවරත්වයෙන් ලැබෙන සීලය ලබා ගත්තම, මේ වත පුරන එකේ වරදක් තියෙනවද කියල විවේචනය කරන්න කලින් හිතන්න ඕන.

මෙහෙම සිල් රැකල දෙව් ලොව ගියත්, ඒ දෙව් ලොව ඉන්න දෙවියන්ට තේරෙනවා මොනව කරලද මේ සැප සම්පත් ලැබුනෙ, අනේ මම මේ බුද්ධ සාසනය තුල සිල් රැකල නේද මේ දේවල් ලැබුනෙ කියල. ඒ ඒ මට්ටමින් ඒ අයට ඒ කාරණය වැටහෙනවා. ලැබුන සම්පත්තියෙන් සතුටු වෙනව වගේම, ඒක ලැබුනෙ බුද්ධ සාසනය නිසානෙ කියල හිතල තව තවත් බුද්ධ සාසනයට ළං වෙනවා. ඉතින් කවදා හෝ නිවන පූර්ණ කරන්න ඒ ළංවීම උදව් වෙනවා. එහෙම පැහැදිලා පුරුද්දක් ඇති කෙනෙකුට තමයි අඩුම තරමෙ, මේ පැවිදි උතුමා මොනවද කියන්නෙ කියල අහල බලමු කියල හිතක්, ශ්‍රද්ධාවක් පහල වෙන්නෙ. ඒ උතුමගෙන් ඒ ධර්ම කරුණු අහගෙන සෝවාන්, සකදාගාමි, අනාගාමි, අරිහත් කියන මාර්ග ඵලවලට එන්නත් ඒ ශ්‍රද්ධාව උපනිශ්‍රය වෙනවා. හරියට මහ මුදලක් අතේ තියෙනව වගේ. මහ මුදලක් අතේ තිබුනම මොනවද ගන්න බැරි? ඒ වගේ තමයි ශ්‍රද්ධාවත්. ඒ නිසා තමයි ශ්‍රද්ධාව ධනයක් කියල බුද්ධ දේශනාවෙ තියෙන්නෙ.

ඉතින් මේ අතීත භවය සිහි කරමින් මේ අරිහතුන් වහන්සේ සඳහන් කරනවා, ඒ සීලය නමැති දානය දුන්නට පස්සෙ, නිවන් දකින ජාතිය දක්වා දුගතියක් නම් ලැබුවෙ නෑ කියල. මොකවත් නැතිව තමන්ගෙ සත් ගුණවත් භාවය බුද්ධ සාසනයට පූජ කළා, දන් දුන්නා, ඒ නිසා ලැබුන ලැබීම තමයි ඒ. මේ බුද්ධ සාසනයේ නිවනට ඒක හේතු වුනා. දැන් මේ භික්ෂූන් වහන්සේගෙ අවසාන අත්බැවත්, අරිහත් වුන හැටිත් අපූරු සිද්ධියක්. කුඩා කාලයේ පටන්ම දෙමව්පියන් එක්ක පන්සලට යන්න පුරුදු වෙලා හිටියෙ. ඒ කියන්නෙ බුද්ධ සාසනය බබලන කාලෙ, ගෞතම බුදුන් වහන්සේ වැඩ ඉන්න කාලෙ, අරිහතුන් වහන්සේලා වැඩ ඉන්න කාලෙ. ඉතින් ඔහොම දවසක් පන්සලට ගියාම ඒ පන්සලේ හිටපු ආර්යන් වහන්සේ, මේ අම්මටයි තාත්තටයි පන්සිල් දුන්නා. එහෙම නැත්නම් පංච සික්ෂාවෙ වටිනකම කියල දීල සමාදන් වෙන හැටි කියල දුන්නා. මේක අහගෙන හිටපු පස් අවුරුදු පොඩි ළමයට එකපාරටම අනෝමදස්සි බුද්ධ සාසනයේ අවුරුදු ලක්ෂයක් පුරාවට වඩපු සීලය මතක් වුනා. එතනම අරිහත් ඵලයට පත් වුනා.

දැන් කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්, අවුරුදු 5 ක ළමයෙක් රහත් වෙන්නෙ කොහොමද, අඩු ගානෙ සෝවාන් වෙන්නත් අවුරුදු 7 ක් වත් වයස වෙන්න ඕන නේද කියල. මොකද පසු කාලයකදි බොහෝ කොටම හදා ගත්ත මතයක් තමයි, සෝවාන් වෙන්න හත්

අවුරුද්දක්වත් වයස වෙන්න ඕන කියල. නමුත් ඒ කාරණය ආචාර්යවරු හදාගත්ත මතයක් මිසක් ධර්මයේ සඳහන් වෙන කතාවක් නෙවෙයි. ඉතින් මේ ආචාර්යවරු මුලදි අවුරුදු 12 - 13 ආදී වශයෙන් විවිධ වයස් පූර්ණ වෙච්ච අය තමයි මහණ කරන්නෙ කියල පෙන්නුවෙ. ඊළඟට **මහණ කරන්න සුදුසු අය කවුද කියල ඇහුවම, පාත්තරයෙ වහපු කපුට පන්න ගන්න පුළුවන් කෙනෙක් මහණ කරන්න කියල බුදුන් වහන්සේ විනය පිටකයේ පෙන්වල තියෙනවා.** එතකොට ඒ කාරණය ආචාර්යවරු අරන් තියෙන්නෙ, පාත්තරයෙ වහපු කපුටෙක් පන්නන්න අවුරුදු 7 ක් වයස ළමයෙකුට හොඳට පුළුවන් කියල. ගල් කැටයකින් ගහල හරි කපුටෙක් පන්න ගන්න පුළුවන් ළමයෙක් කියල තමයි අදහස අරගෙන තියෙන්නෙ. එහෙම අදහස් අරගෙන තමයි මේ අටුවා කතා ලියල තියෙන්නෙ.

නමුත් එහෙම දෙයක් නෙවෙයි මේ පෙන්වන්නෙ. මේකෙ සැඟවිච්ච දහම් අරුතක් තියෙනවා. **පාත්තරයෙ වහපු කපුට කියන්නෙ කෑදරකම. කෑ දේ දරා ගන්න නිසා කෑදරකම කියනවා.** ඒ කියන්නෙ කෑ දේ කාල එතනින් නතර නොවී, ඉදිරියටත් නැවත නැවත කන්න ඇත්නම් කියල හිතනවා, ඒවා දරාගන්නවා, පසුවට කන්න ගොඩ ගහගෙන තියාගන්නවා. ඉතින් පොඩි කාලෙ හෝ කෑමට තියෙන කෑදරකම දුරු වෙච්ච ළමයෙක් ඉන්නව නම්, ඒ ළමය මහණ කරන්න සුදුසුයි. ඒ ළමයට ආර්ය මාර්ගය වඩන්න පුළුවන්.

මෙතනදි කෑම කිව්වම මේ කන බොන ආහාර විතරක් නෙවෙයි, කබලිංකාර ආහාර, ස්පර්ශ ආහාර, විඤ්ඤාණ ආහාර, මනෝ සංචේතනා ආහාර කියන මේ හතරම අයිති වෙනවා. මේ 4 ටම තණ්හාව සම්බන්ධයි. තණ්හා නිධානයි, තණ්හා සමුදයයි, තණ්හා ජාතියි, තණ්හා ප්‍රභවයි කියන යමක් ඇත්නම් ඒ සියල්ලම මේ ආහාර වර්ග 4 ට වැටෙනවා. හර බැර කියල වචන 2 ක් තියෙනවා. බැර කියන්නෙ පහ කර දැමීම. හර කියන්නෙ එකතු කර ගැනීම. ආ + හර කිව්වම, හරයට හෙවත් එකතුවට ආපු කියන අදහස තමයි එන්නෙ. ඒ කියන්නෙ රූප, වේදනා, සඤ්ඤා, සංඛාර, විඤ්ඤාණ කියන මේවා ඡන්දරාගයෙන් ගත් එකතුව. ඉතින් මේවායින් ස්පර්ශ ආහාර, විඤ්ඤාණ ආහාර, මනෝ සංචේතනා ආහාර කියන්නෙ නාම ආහාර. හැබැයි ඒවා රූපය මුල් කර ගෙන පවතින්නෙ. ඒ නිසා සංයෝජනීයයි. ඒ කියන්නෙ ඡන්ද රාගයෙන් ගන්න සංයෝජනයට හිතකරයි කියන එක. ඡන්ද රාගයට හිතකර නම් ඒක සංයෝජනීයයි. කබලිංකාර ආහාර කියන්නෙ ඒවායින් රූප ස්කන්ධය සඳහා ගැනෙන ආහාර (සතර මහා භූත). ඒව සංයෝජනයි. ඒ කියන්නෙ ඡන්ද රාගයට හිතකර සංයෝජනීය දහම් ඡන්දරාගයෙන් ගත්තම එන අවස්ථාව. එතකොට මේ දෙකෙන් නාම ධර්මයි, රූප ධර්මයි (සතර මහා භූත) තමයි එකතු කරන්නෙ. ඒ අර්ථයෙන් ආහාර වෙනවා.

එතකොට මේ කබලිංකාර ආහාර කියන්නෙ කන බොන ආහාරම නෙවෙයි. කන බොන ආහාර ඇසුරු කර ගෙන, රස තණ්හාවෙන් ඒ ආහාර ලබා ගත්තම කය බලි කරන නිසා කබලිංකාර ආහාර වෙනවා. රස තණ්හාව තමයි ඒකට සම්බන්ධ වෙන්නෙ. ඒ කියන්නෙ ආහාරයට තියෙන කෑදරකම, බලාපොරොත්තු සහගත හිත. යම් කිසි කෙනෙක් බඩගින්නට ආහාර ගැනීමයි, ආස්වාදය සඳහා ආහාර ගැනීමයි කියන්නෙ කාරණා 2 ක්. උදාහරණයක් විදියට කෙනෙකුට යම් කිසි ප්‍රණීත ආහාරයක් කොහෙන් හරි ලැබුනොත්, තමන්ට යන්න තියෙන ගමනත් පැත්තකට දාල ඒක කාල යන්න බලාගෙන ඉන්නවා. හැබැයි පුද්ගලයට බඩගිනි නෑ. එතකොට ඒ පුද්ගලය ආහාරයට තියෙන තණ්හාව නිසා ඉන්නවා.

බඩගිනි කෙනෙක්, බඩගින්න නිසා මොනව හරි ලැබිච්ච දෙයක් කාල යන එක ආහාරයට තියෙන තණ්හාවක් නෙවෙයි. එතකොට යම් කිසි කෙනෙක් ඒ ආහාර සඳහා ඉන්නව කියන්නෙ ඒ පුද්ගලයගෙ ජීවිත පැවැත්ම තණ්හා සහගතව හෙවත් ඡන්ද රාග සහගතව පවතින්න ඒ ආහාරය හේතු වෙනවා. තණ්හා නිධාන, තණ්හා සමුදය වෙන්නෙ එහෙමයි. ගෙදරකට කන බොන ආහාරයක් ගෙනාවොත්, කෙනෙකුට ඒක කනකල් ඉස්පාසුවක් නෑ. අනෙක් වැඩ ඔක්කොම පැත්තකට දාල ඉක්මනට ඒක කාල ඉන්නවා. ඒ සඳහා පුද්ගලයා මෙහෙයවනවා. හැබැයි ඒ බඩගින්නට නෙවෙයි, ආහාර තණ්හාවට. ඒ නිසා ආහාරය හේතු කොට ගෙන ඒ පුද්ගලයගෙ තණ්හා සහගත පැවැත්මට අවස්ථාවක් එනවා.

එතකොට දැන් අපි මේ කන බොන ආහාර මේ මනුස්ස ලෝකෙ තමයි තියෙන්නෙ. මනුස්ස ලෝකයේ තියෙන ආහාර ගන්න තවදුරටත් කැමැත්ත තියෙනව නම්, ඒ පුද්ගලයට මනුස්ස ලෝකයේ පවතින්න හේතු වන ආහාර ගන්න කය අත්හරින්න බෑ. ඒ නිසා නැවතත් ඒ ජාතියේ කයක් හට ගන්න හේතු වෙනවා. ඒ නිසා තමයි ධර්මයේ පෙන්වා තියෙන්නෙ, කබලිංකාර ආහාරයට තියෙන තණ්හාව අත හැරියොත් පුද්ගලය අනාගාමී වෙනවා, නැවත වරක් මේ වගේ මනුස්ස කයක් හට ගන්නෙ නෑ කියල. ස්පර්ශ ආහාර, මනෝ සංචේතනා ආහාර, විඤ්ඤාණ ආහාර කියන අනෙක් ආහාර තුන පිළිබඳව තියෙන බලාපොරොත්තුවත් අත් හැරියොත් ඒ පුද්ගලය අරිහත් ඵලයට පත් වෙනවා.

එතකොට රහතන් වහන්සේ මේ ආහාර වර්ග හතරෙන් එකක්වත් ගන්නෙ නෑ. උන් වහන්සේ ගන්න භෝජනය හේතු වෙන්නෙ පිරිනිවන්පාන කල් කයේ පැවැත්මට. ''භෝජනං භික්ඛවේ දද මාන දායකෝ පටිග්ගාහකානං පංචඨානානි දේතීති කථමානි පංච ආයුං දේති වණ්ණං දේති සුඛං දේති බලං දේති පටිභානං දේතීති.'' ඒ භෝජනය ආයුස, වර්ණය, සැපය, බලය, පටිභාන කියන කාරණා 5 වැඩෙන්න හේතු වෙනව මිසක් කාම සම්භෝගයට, සසර පැවැත්මට හේතු වෙන්නෙ නෑ. ඒ නිසා රහතන් වහන්සේ වළඳන භෝජනය මේ ආහාර වර්ග හතරට අයිති වෙන්නෙ නෑ. මේ ආහාර හතර නිසා තමයි සබ්බේ සත්ථා ආහාරට්ඨිතිකා කියල කිව්වෙ. ඒ කියන්නෙ සියලු සත්වයෝ පවතින්නෙ මේ ආහාර 4 නිසා. මේ 4 ට කෑදරකම තියෙන කල් සත්වයා සසර ගමනෙ යනවා. රහතන් වහන්සේ මේ සත්ව කියන කොටසට අයිති වෙන්නෙ නෑ. ආහාර සූත්‍රයේ මේ පිළිබඳව විග්‍රහ කරල තියෙනවා.

ඉතින් පුංචි ළමයෙකුට වුනත් මේ **ආහාර 4 තේරුම් ගන්න නුවණ තියේ නම්, මේ 4 ට තියෙන කෑදරකම අත් හැරියම සසර ගමන ඉවරයි. ඒ සඳහා ඥාන ශක්තිය තියෙන කෙනෙක් මහණ කරන්න පුළුවන්** කියන අදහස තමයි මේ උපමාවෙන් දීල තියෙන්නෙ. ඒ කියන්නෙ නෙයියා-ර්ථයෙන්. නමුත් අද මේ කාරණය තෝරන්න හදන්නෙ නීතාර්ථයෙන්. (නෙයියාර්ථ, නීථාර්ථ ගැන විග්‍රහයක් හෙළ බොදු පියුම 25 වන කලාපයෙන් ඉදිරිපත් කරල තියෙනවා.) එතකොට හරි අර්ථය වැහෙනවා. සමහර ආචාර්යවාද ලියන කොට, ඒ වගේ අය තමන්ගෙ මතය දාල තමයි ඒව ලියල තියෙන්නෙ. ඒ නිසා පාත්තරයෙ වහපු කපුටට උපමා කළේ ඇයි කියල පැහැදිලියි. මොකද වයසක් ගැන කතා කරල, යම් ඇඟේ පතේ හයියක් ගැන කියන්න ඕන වුනා නම්, පාත්තරේ වහපු කපුටෙක්ම ගන්න ඕන නෑ, මොන තැනක වහපු කපුටෙක් වුනත් පන්න ගන්න පුළුවන්. ඇයි එතකොට පාත්තරේ වහපු කපුට කියල විශේෂයෙන් සඳහන් කළේ. අර කියපු ආහාර 4 ට තියෙන කෑදරකම

තමයි ඒකෙන් පෙන්නුවෙ. ඒක ඉතින් ගැඹුරු තැනක්. තෝර ගන්න බැරිකම තමයි ගැටළුව වෙලා තියෙන්නෙ. ඒ නිසා හත් අවුරුද්දක් යන කල් මහණ කරන්න එපා කියන්නෙ පසුව හදාගත්ත මතයක්. අවුරුදු 4 - 5 ක් වුනත් කමක් නෑ, සසර පුරුද්ද තියේ නම්, හේතු වාසනා තියෙන අයට, කියන බණ වැටහිලා අරිහත් ඵලයට පත් වෙන්නත් පුළුවන්. දහමට අනුව එහෙම වෙන්න පුළුවන්.

ඒ වගේම තවත් අරිහතුන් වහන්සේ නමක්, උන්වහන්සේ පාරමිතා පිරීම පටන් ගත්තු හැටි දේශනා කරල තියෙනවා. උන්වහන්සේ ප්‍රසිද්ධ වුනේ අන්නසංසාවක අරිහතුන් වහන්සේ කියල. උන්වහන්සේ මේ ඵලය ලබාගන්න මොකක්ද කළේ? ඒ කාලය වෙන කොට වැඩ හිටියෙ සිද්ධාර්ථ බුදු පියාණන් වහන්සේ. උන්වහන්සේ වීරියක වඩින කොට ශ්‍රී දේහය බබලන ආකාරය දැකල, ඒ ගැන ඇති වෙච්ච චිත්ත ප්‍රසාදයෙන් බුදුන් වහන්සේට දානය පූජ කළා. ඉතින් උන්වහන්සේත් ඒ දානය වළඳල අර මනුස්සයට අනුමෝදනාවක් කළා.

ඊළඟට ධර්මයේ සඳහන් වෙන විදියට ඒ දාන පූජාවෙ බල මහිමයෙන් පමණක්, කල්පයක් සුගතියේ ඉඳල තියෙනවා. අවසානයේ ගෞතම බුද්ධ සාසනයේ අරිහත් ඵලය ලැබුවා. අනෙකුත් මහා ශ්‍රාවකයන් වහන්සේලා පෙරුම් පිරුව වගේ බුදුන් වහන්සේ ප්‍රමුඛ මහා සංඝයාට දින හතක් දන් දීලත් නෙවෙයි. මේ මහ පාරෙ වඩින බුදුන් වහන්සේ දැකල පැහැදිලා ළඟට ගිහින් කතා කරල දානයක් පූජ කළා, එච්චරයි. සාසන ගුණයක් කෙරෙහි පැහැදීමෙන් දෙන දානයකින් අන්තිමට ලැබෙන සරණ එකයි, අවසාන ප්‍රතිඵලය එකයි. ඒ එකම ප්‍රතිඵලය මහත්ඵල මහානිසංසයි. මහත්ඵල හතරයි තියෙන්නෙ. ඒ කියන්නෙ සෝවාන්, සකදාගාමි, අනාගාමි, අරිහත් කියන මහා ඵලයන්. ඒ වගේම නිවන නමැති මහා ආනිසංසය ලැබෙනවා. ඒ නිසා තමයි බුද්ධ සාසනයකට සුළුවෙන් හෝ පූජ කරන දෙයක වටිනාකමක් තියෙන්නෙ. මේ පුණ්‍යානුමෝදනා කොටස හොඳින් කියවල බැලුව නම්, ඒ කාරණය විශේෂයෙන් වැටහෙනවා.

''මේ දානමාන පූජා සත්කාර සඳහා යම් කෙනෙක් අතහිත දෙන ලද්දේද, ඒ සඳහා සුළු අත් උදව්වක් දෙන ලද්දේද, ඒ වාගේම යම් මිල මුදලකින් හෝ වේවා, තමන්ගේ ශ්‍රම කඳුලකින් හෝ වේවා ආධාරයක් උපකාරයක් කරන ලද්දේද, බඩු බාහිරාදියකින් උදව්වක් උපකාරයක් කරන ලද්දේද, වචනයකින් හෝ වේවා යම් ප්‍රසංසාවක් කරන ලද්දේද, චිත්ත ප්‍රබෝධයක් පහල කරන ලද්දේද, අංශු මාත්‍රයකින් හෝ විරුද්ධතාවයක් නොදක්වා මේ සත් කටයුතු කිරීමට ඉඩ ප්‍රස්ථාව දෙන ලද්දේද.....''

මේ වගේ පුණ්‍යානුමෝදනාවක් කරන උන්වහන්සේලා දන්නව මේ බුද්ධ සාසනයේ වටිනාකම. උන්වහන්සේලා අත්දකිනවා ඒ අප්‍රමාණ ගුණ. ඉතින් ඒ ගුණයන්ට පැහැදිලා, ඒ ගුණයන් කෙරෙහි පුද සත්කාර පූජා, දානමාන ආදිය අංශු මාත්‍රයකින් හෝ කරනව නම්, ලැබීම අප්‍රමාණයි. කරන්න කැමැත්තක් නැත්නම්,



අඩු තරමෙ විරුද්ධ නොවී හෝ හිටියනෙ කියල පින් අනුමෝදන් කරනවා. ඒකයි විශේෂයෙන් අංශු මාත්‍රයකින් හෝ විරුද්ධතාවයක් නොදක්වා කියල කියන්නෙ. ඉතින් සහසම්බන්ධ වෙන හැමෝටම, එක සාදුකාරයක් හරි දුන්න කෙනෙකුට, කවද හරි නිවන් ලැබෙන්න හේතු වෙනවා.

ඒ වගේම කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්, අප්‍රමාණ ගුණ අත්දකින්නෙ කොහොමද කියල. දැන් අපිට අනන්තය කියන එක අත්දකින්න බැරිද? අනන්තය කියන එක අනන්ත බව අත්දකිනවා. හැබැයි අනන්තයේ සීමාවක් දකින්න බෑ. නමුත් අප්‍රමාණය (අනන්තය), අප්‍රමාණ බව අත්දකින්න පුළුවන්. ප්‍රමාණයක් කියල බලද්දි, ඒ ප්‍රමාණය නොතේරෙනව නම් ඒක අප්‍රමාණයි. අප්‍රමාණයි කියල කියන කොට ඒ කාරණය ක්‍රම 2 කින් දකින්න ඕන. යම් කිසි පැවැත්මක් තුළ තියෙන දෙයක් අප්‍රමාණ කරන්න පුළුවන්, සීමා කරන්න බැරි මට්ටමකින් දක්කොත් ඒක අප්‍රමාණයි. උදාහරණ විදියට ලෝක කිව්වම කොච්චර ලෝක ගැන හිතල බැලුවත්, මේ ලෝක කියන ඒවා ප්‍රමාණයක් කියන්න බෑ. එතකොට අපිට හිතා ගන්න පුළුවන්, ලෝක ඉවර වෙන්න විදියක් නෑ කියල. ඒ නිසා ලෝකත් අනන්තයි, අප්‍රමාණයි කියනවා. මොකද ලෝක කියල විද්‍යමාන වෙන එකක් පිළිබඳව සීමා කරන්න බැරි නිසා.

ඒ වගේම තවත් තැනක යම් දෙයක් නැත්නම්, ඒ හේතුවෙන් ප්‍රමාණ කරන්න බෑ. උදාහරණ විදියට නිවන අප්‍රමාණයි, මෙච්චරයි කියල ප්‍රමාණ කරන්න බෑ. මොකද රූප, වේදනා, සඤ්ඤා, සංඛාර, විඤ්ඤාණ වශයෙන් පෙන්වන්න එකක් නැත්නම් ප්‍රමාණ කරන්න එකක් නෑ. ගුණ කියන එකත් ඒ වගෙයි. බුදු ගුණ අප්‍රමාණයි කියල කිව්වම, සමහර විට ප්‍රමාණ කරන්න පුළුවන් ගුණ කියල නොදන්න කමට මැනල බලන්නත් හදනවා. එතකොට අගුණ පැත්ත කියන්නෙ ලෝකය. ලෝකය මාත්‍රයක්වත් නැතිව කෙළවර වුනාට පස්සෙ එන ගුණය ප්‍රමාණ කරන්න බෑ. ප්‍රමාණ කරන්න දෙයක් ඉතිරි වෙලා නෑ. ඒ තමයි ලෝකෝත්තර ගුණ දකින එක ක්‍රමයක්. උදාහරණ විදියට යම් තැනක රහසක් නෑ කියල අරහං ගුණය ගැන කියනවා. ඉතින් කිසිම රහසක් නැති නිසා උන් වහන්සේට කිසිම ප්‍රශ්නයකුත් නෑ. මොකද කිසිම ප්‍රශ්නයක් සම්බන්ධ කරන්න තැනක් නෑ. මනස කොතැනද තැන්පත් වෙලා තියෙන්නෙ, ඒ විදියට තැන්පත් වෙන්න නම් අරමුණක් තියෙන්න ඕන. නමුත් අල්ල ගන්න අරමුණක් නැත්නම්, විමර්ශනය කරන්න එකක් නැත්නම්, ඒ හේතුවෙන් උන් වහන්සේගෙ මනස පිහිටන්න තැනක් නෑ. ඒ නිසා එතැන ප්‍රමාණ කරන්න එකක් නෑ. ප්‍රමාණ කරන්න පිහිටපු විද්‍යමාන තැනක් නෑ.

එතකොට මේ ගුණ කියන්නෙ රූපයත් නෙවෙයි, වේදනාවත් නෙවෙයි, සංඥාවත් නෙවෙයි, සංඛාරත් නෙවෙයි, විඤ්ඤාණත් නෙවෙයි. හැබැයි ගුණ පෙන්වන්නෙ, ගුණ තියෙන බව විද්‍යමාන වෙන්නෙ මේ පහ ඇසුරෙන්. මේ

පහ අත් හැරල ගුණයක් විද්‍යමාන කරන්න බෑ. හැබැයි මේ පහ ගුණ නෙවෙයි. බුදුන් වහන්සේ දෙතිස් මහා පුරිස ලක්ෂණ සහිතයි කිව්වම, ඒ 32 ක් මහා පුරිස ගුණ හට ගෙන පිටතට විද්‍යමාන වෙන්නෙ ශරීරය කියන රූපයෙන්. ශරීරය හැදිල තියෙන්නෙ සතර මහා භූතයන්ගෙන්. හැබැයි මේ පෙන්වන ගුණය කියන්නෙ ඒ ශරීරය නෙවෙයි. නමුත් ඒ ගුණ නිසාමයි බුද්ධ ශරීරය අනෙක් ශරීරවලින් වෙනස් වෙලා ඒ විදියට විද්‍යමාන වෙන්නෙ.

ඒ වගේම නිරෝධ සමාපත්තියත් ප්‍රමාණ කරන්න බෑ. මොකද ඒ අවස්ථාවට හිතක් නැති නිසා. ඒ නිසා ඒ අවස්ථාවට ප්‍රමාණයක් දෙන්න බෑ. එතකොට ඒ අවස්ථාවට ගියේ මොකද කියල ඇහුවොත්, අල්ලන්න දෙයක් නැති නිසා ඒකෙන් නිදහස් වුණා. කලින් තිබ්බ වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන නාම ධර්මයන් දැන් නැති නිසා ප්‍රමාණ කරන්න එකක් නෑ. ඒ අර්ථයෙනුත් අප්‍රමාණ වෙනවා.

ඒ වගේම අපි යම් කිසි ගණිත ක්‍රමයකට ගණින්න ගියොත් 1, 2, 3 ... ආදී වශයෙන් ගණින ක්‍රමයෙන්, ඒක ගැණල ඉවර කරන්න පුළුවන්ද? කවදාවත් ඉවර කරන්න බෑ. ඒ නිසා අපි මෙයින් එහාට ගණන් නෑ, සංඛ්‍යා ඉවරයි කියල ලෝක සම්මතයේ ගණනක් කියනවා. ඒක අවසාන සීමාව හැටියට දක්වල අසංඛ්‍යය කියල නමකුත් දා ගන්නවා. එතකොට ඒක අපි හදාගත්තු එකක් මිසක් සංඛ්‍යා ඉවර වීමක් වෙන්නෙ නෑ.

එදා කෝටිය කියල හැඳින්නුවෙත් අසංඛ්‍යයමයි. නමුත් අද ඒ වචනය භාවිතා කළාට අදහස වෙනස්. එදා පරමාර්ථ අර්ථයෙන් කෝටියක් කිව්වෙ කෙළවර කියන එක. ඒ කියන්නෙ ඉන් එහාට නෑ කියන එක. ''පුබ්බා කෝටි න පඤ්ඤායති'' කියන පෙළ දහම් වැකියෙනුත් මේ කාරණය ඔප්පු වෙනවා. ඒ කියන්නෙ මුල් කෙළවර ප්‍රඥාව නෑ කියන එක. මොකද මුල් කෙළවර කියන්නෙ මේ සංසාරය පටන් ගත්තු තැන. එතැන ප්‍රඥාවක් තිබුනෙ නෑ. අවිද්‍යාව තමයි තිබුණේ. ඒ නිසා තමයි සංසාරයේ මේ තාක් දුර ආවෙ.

නමුත් ඉතින් මේ කාරණය අද සමහර පොත්වල පෙන්වන්නෙ ''මහණෙනි, මේ සංසාරයේ අගක් නෑ, මුල් කෙළවර පේන්නෙ නෑ'' කියල බුදුන් වහන්සේ දේශනා කරපු හැටියට. හැබැයි එහෙම පෙන්නුවොත් ධර්මයට ගැලපෙන්නෙ නෑ. මොකද අනාවරණ ඥානය / සර්වඥතා ඥානය තියෙන බුදුන් වහන්සේට මුල් කෙළවර පේන්නෙ නෑ කියල ගත්තොත්, එතකොට ඒ ඥානයේ අඩුවක් කියවෙනවා. නමුත් ඒක වෙන්න විදියක් නෑ. ඒ වුනත් ඒ කාරණය හිතන්නෙ නැතිව අද අර විදියට කියනවා. නමුත් මෙතන පද බෙදන ක්‍රමයක් තියෙනවා. හැබැයි ඒක භාෂා රීති මත පදනම් වෙලා කරන පද බෙදීමක් නෙවෙයි. ''න අමත අග්ගෝ අයං භික්ඛවේ සංසාරෝ පුබ්බා කෝටි න පඤ්ඤායති'' සංසාරයේ මුල් කෙළවර ප්‍රඥාව නැති නිසා අග නිවන නෑ. ඒ කියන්නෙ හුගක් ඈත කාලයක් නෙවෙයි. මේ සංසාරය කියන්නෙ පටිච්ච සමුප්පාදය පිළිබඳ එක මාත්‍රයක්. අවිද්‍යා පච්චයා සංඛාර කියල කියන්නෙ එහෙම දෙයක්. එතකොට මේ සංසාරෙ මුල් කෙළවර එන්නෙ අවිද්‍යා ප්‍රත්‍යයෙන් එන සංඛාර නිසා. මහණෙනි, මේ සංසාරෙ අග නිවන නෑ, ඒක ජරා මරණ සෝක පරිදේව දුක්ඛ දෝමනස්ස උපායාස සහිතයි. ඒකට හේතුව තමයි, පුබ්බා කෝටි න පඤ්ඤායති. පුබ්බා කෝටි කිව්වෙ මුල් කෙළවර. න පඤ්ඤායති කියන්නෙ ප්‍රඥාව නෑ. මොකද මුල් කෙළවර තියෙන්නෙ අවිද්‍යාව. න අමත අග්ගෝ - ඒ නිසා ජරා මරණවලින් කෙළවර වෙනව මිසක් අග නිවන නෑ. එතකොට කෝටි කියන වචනය ''කෙළවර'' කියන අදහසින් ගන්න බව පෙන්වන්න තමයි මේ කාරණය කිව්වෙ.

ඉතින් සංඛ්‍යා එකින් එකට ගැණ ගෙන යන කොට කෝටියයි කියල යම් සීමාවක් දැම්මොත්, එයින් එහාට සම්මතය තුළ ගණන් කරන්න සංඛ්‍යාවක් හදල නෑ. ප්‍රකෝටි, කෙළ කෝටි ආදී වශයෙන් කියන්නෙත් ඒ කෝටියේම මිටි වශයෙන් එකතු කරපු සංඛ්‍යා. කෝටිය කිව්වෙ එක්තරා සීමාවක්. එතකොට ලෝකෙ මොනව හරි මනින්න මිම්මක් අවශ්‍යයි. ඒ ලෝක සම්මතයේ තියෙන මිම් ගත්තම, මනුස්සයින්ට ඒ කාලෙ මනින්න අවශ්‍ය ප්‍රමාණයට විතරයි සංඛ්‍යාත්මක අගය අරගෙන තියෙන්නෙ. එයින් එහාට අවශ්‍යතාවයක් නැත්නම් එතනින් සීමා කරනවා. නැවතත් අවශ්‍යතාවය අනුව ඒ සම්මත කරපු උපරිම සංඛ්‍යාවෙ විවිධ ගුණාකාර ගන්නවා.

උදාහරණ විදියට මුල් කාලෙ අපිට රුපියල් 1, 2, 5, 10, 50 කියන මුදල් නෝට්ටු තිබුණා. කාලයක් ගියාට පස්සෙ රුපියල් 100 ආවා. තවත් කාලයක් ගියාම රුපියල් 200, 500, 1000 ආවා. දැන් 5000 ත් ඇවිත්. එතකොට මුදලෙ වටිනාකම මනින්න, සංඛ්‍යාත්මක අගය වෙනස් කරන්න කරන්න, ඉන් එහාට තවත් මුදල් කොළයක් නැති විදියට ඒ තිබ්බ සංඛ්‍යාවම ගුණාකාර විදියට සකස් කරනවා. මීට අවුරුදු 50 - 60 කට විතර පෙර රුපියල් 100 නෝට්ටුව තිබුනට ඉන් එහා කාලයේ 100 නෝට්ටු තිබුනෙ නෑ. නමුත් එහෙම පහුකර ගෙන දැන් 5000 නෝට්ටුවටත් ඇවිත්, තවත් කාලයක් යන කොට 10000 නෝට්ටුවත් එන්න පුළුවන්. සංඛ්‍යාත්මක වශයෙන් ගනුදෙනුවක් කරන්න ඒ සීමාව ඇති කියන මට්ටමක් තියෙනවද, ඒ සීමාව තමයි භාවිතාවෙ තියෙන්නෙ.

ඒ වගේ මේ ලෝකෙ තියෙන දේවල් පිළිබඳව ගණන් හිලව් හදන්න යම් කිසි මට්ටමක් ප්‍රමාණවත් කියල හිතෙනව නම්, ඒ මට්ටමට තමයි ඔය සීමාව ගන්නෙ. හැබැයි ඊට පස්සෙ ඒ වගේ සීමා සහිත සංඛ්‍යා ගොඩක් එකතු කරල ඊට වඩා විසාල සංඛ්‍යාවක් හදල මනින්න ගන්නවා. උදාහරණ විදියට 1000 ක් කිව්වම 100 ඒව 10 ක් එකතු කරල ගන්නවා. ඒ ක්‍රමයම තමයි මේ හැම තැනම තියෙන්නෙ. ඒ ක්‍රමයට කෝටියේ ඒවා කෝටියක් කියල වුනත් ගන්න පුළුවන්. හැබැයි දැන් කෝටිය කියල කියන්නෙ මොකද, අපේ මේ ලෝකෙ තියෙන වැඩ කටයුතුවලට ප්‍රමාණවත් වෙන යම් ගණිත සම්මතයක් ඇත්ද, ඒ මට්ටමට සීමා කරපු ගණනක්. තවත් ගන්න ඕන නම් කෝටි 1, 2, 3 ආදී වශයෙන් ගන්න පුළුවන්. ඒ වගේම අසංඛ්‍ය 1, 2, 3, 4 ... ආදී වශයෙන් ඕන ප්‍රමාණයක් විදියට ගන්න පුළුවන්. ඒ කාලෙ අංසඛ්‍යය කියල කියන්නෙ, ඒ කාලෙ තිබ්බ කෝටියමයි. එතකොට ඒකත් සීමා සහිතයි. ඒ නිසා බුදුන් වහන්සේ බුදු වෙන්න සාරාසංඛ්‍ය කල්ප ලක්ෂයක් පෙරුම් පිරුවයි කියන කතාවෙදි ඒ කාලය සීමා සහිත වුනත්, බුදු ගුණ සාරාසංඛ්‍ය කල්ප ලක්ෂ මෙච්චරයි කියල කොහොමටවත් සීමා කරල සංඛ්‍යාත්මක අගයක් දෙන්න බෑ. ඉතින් මේ විග්‍රහය අති සියුම් තැනක්. අප්‍රමාණ ගුණ කියන කොට ඒකෙ අදහස යම් පමණකට හෝ තේරුම් ගන්න තමයි මේ විස්තරය ඉදිරිපත් කළේ.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සමග අපදාන පාලිය 1 - පංච සීල සමාදානිය ස්ථවිරාවදානය සහ අන්නසංසාවක ස්ථවිරාවදානය ඇසුරින් සකස් කළේ:*

**ෆික්රි ඉස්මයිල්**

**පරිගණක ඉංජිනේරු - ගොතටුව**

# ධම්ම පදය තුලින් නිවන් මග

**6 වන කොටස**

මේ කියන්න යන්නෙ ධම්ම පදයේ බාල වර්ගය ඇසුරෙන් එන පළමු ගාථාව ගැන. බාල වර්ගයට අයිති වෙන්නෙ, කෙනෙක් තමන්ගෙ අනුවණකම නිසාම සිතින්, කයින්, වචනයෙන් හිතන, කියන, කරන දේවල් නිසා සසර දික්වෙන ආකාරයත්, ඒ වගේම දුගතියේ පවා උප්පත්තිය ලැබෙන ආකාරයත් ගැන විස්තර කෙරෙන කෙටි ගාථා. ඉතින් අනෙක් සියලු ධම්ම පද ගාථා වගේම මේ ගාථාව කියන්නත් යම් කිසි සිද්ධියක් මුල් වුණා.

මේ සිද්ධිය වුනේ කොසොල් රජතුමාට. කොසොල් රජතුමා තමන්ගෙ රාජ්‍යයේ හිටපු එක්තරා වැසියෙක්ගෙ රූමත් බිරිඳ දැකල, ඇය කෙරෙහි ඇල්මක් බැඳීමක් ඇති වුණා. ඇයව කොහොම හරි ලබාගන්නයි උවමනාව තිබුනෙ. හිත දුවන්නෙම අසාධාරණයෙන් හරි ඇයව ලබා ගන්න. හිත කොච්චර දගලනවද, දාහයට පත්වෙනවද කියල විස්තරයක් පසුගිය 37 වන කලාපයේ ධම්ම පදය කොටසින් විග්‍රහ කළා. කොසොල් රජතුමාගෙ හිතත් මේ වගේ වුණා. රෑට නින්ද යන්නෙ නෑ, කොහොම හරි අර තැනැත්තියව ලබා ගන්නමයි උවමනාව. මහ රෑ වෙනකල් ඇහැරිල ඉන්නව නින්ද යන්නෙත් නෑ. ඔය විදියට කාමය විඳගන්න බැරුව දාහයෙන් නින්ද යන්නෙත් නැතිව ඉන්න මොහොතක, මැදියම් රෑ මහා භයංකාර සද්දයක් ඇහුණා. ඒකත් හතර වතාවකට, එක එක අකුරු විදිහට තමයි ඇහුණෙ. එක වතාවකට ''දු'' කියන සද්දය. නැවත ටික වෙලාවකින් ''ස'' කියන සද්දය. නැවතත් ටිකකින් ''න'' කියන සද්දය. අන්තිමට ''සො'' කියන සද්දය. හරිම භයානක විලාප තියන දෝංකාර දෙන සද්ද විදිහට තමයි ඇහුණෙ.

ඉතින් මේකට බය වෙච්ච කොසොල් රජතුමා, මේ කාරණය බුදුන් වහන්සේට කියා සිටියා. උන්වහන්සේ කොසොල් රජතුමාට බය නොවන ලෙසත්, ඒකෙන් අනතුරක් ඇති වෙන්නෙ නැති බවත් පවසල බය තුනී කළා. ඒ වගේම ඒ සද්දය කොහෙන්ද එන්නෙ කියන කාරණයත් පැහැදිලි කළා. ඒ කාරණය තමයි, මීට පෙර අත් බැව්වල ඔය විදිහට අසාධාරණයෙන් කම් සැප විඳපු සිටුවරු හතර දෙනෙක් ලෝකුඹු කියන නිරයේ පැහෙන ආකාරය. හරියට බත් හැලියක හාල් ඇට පැහෙන කොට, එක එක හාල් ඇට උඩට ඇවිත් නැවතත් යට යනව වගේ, මේ සිටුවරු හතර දෙනා අර නිරයේ පැහෙමින් නිරයේ කට ළඟට එන කොටම ගාථාවක් කියන්න උත්සාහ කරනවා. නමුත් ඒ ගාථාවෙ මුල අකුර කියන කොටම නැවතත් නිරයෙ යටටම ගිහින් පැහෙනවා.



ඔය විදියට හතර දෙනා මාරුවෙන් මාරුවට යම් කිසි ගාථාවක් කියන්න උත්සාහ කරන කොට මුල් අකුර විතරයි කියාගන්න ලැබෙන්නෙ.

ඉතින් බුදුන් වහන්සේ, තවත් කෙනෙකුට නිරය ගැන හෝ යම් කිසි අකටයුත්තක් ගැන හෝ විස්තර කරන කොට, ඒ සංඥාව ඒ අහන කෙනාට කිසිම අඩුවක් නැතිව දැනෙනවා. සියල්ලෙන් සියල්ල දත් උන්වහන්සේට ඒ සංඥාව, වෙනත් කෙනෙකුට 100% ක් හරියටම දැනෙන්න කියන්න හැකියාව තියෙනවා. මේ ලිපිය කියවන පින්වතුන්ට වුනත් පුද්ගලික අත්දැකීම් ඇති, කෙනෙක් අනතුරකට විපතකට පත්වුන විස්තරයක් අහන කොට ඇගේ හිරිගඩු පිපෙනවා. අප්පේ ඇහෙන කොටත් ඇඟ සීතල වෙනවා, ඇඟේ මවිල් කෙලින් වෙනවා කියල සමහර විට වචනයෙන් පවා කියවෙනවා. ඉතින් හිතන්න ෂඩ් අසාධාරණ ඥාණ එක්ක 73 ක් ඥාණයන් සහිත, කිසිම අඩුවක් නැතුව සියල්ලෙන් සියල්ල දකින ලොව්තුරා බුදු පියාණන් වහන්සේ නමක් අෂ්ඨ බ්‍රහ්ම ස්වරයෙන් (පසුගිය 31 වන කලාපයේ මේ අෂ්ට බ්‍රහ්ම ස්වර ගැන දීර්ඝ විස්තරයක් ඉදිරිපත් කරල තියෙනවා.) නිරයක පැහෙන විස්තරයක් කියන කොට, ඒ අහන කෙනාට නැවතත් ඒ ජාතියේ පාපයක් කරන්න හිතෙයිද? අවංකව උන්වහන්සේගෙන් පිළිසරණක් බලාපොරොත්තුවෙන් ආපු කෙනෙකුට එහෙම හිතක්වත් එයිද? ඉතින් කොසොල් රජතුමාට අර කාන්තාව කොහොම හරි ලබා ගන්න තියෙන උවමනාව ඒත් එක්කම නැති වෙලා ගියා. රෑයක් මෙච්චර දිග බව ඊයෙ රෑ තමයි මම දැනගත්තෙ කියල, කොසොල් රජතුමා බුදුන් වහන්සේට කියා සිටියා. ඉතින් මේ කාරණය මුල් කරගෙන උන් වහන්සේ මේ ගාථාව දේශනා කළා.

දීඝා ජාගරතෝ රත්ති
දීඝං සන්තස්ස යෝජනං
දීඝෝ බාලානං සංසාරෝ
සද්ධම්මං අවිජානතං

මේ ගාථාවෙ සරල සිංහල තේරුම නම්, **නිදි මරන්නා හට රැය ඉතා දික් වැ වැටහෙයි. ගමන් ගොස් වෙහෙසුණු අයට එක යොදුනක් ඉතා දික් වැ වැටහෙයි. සද්ධර්මය නොදන්නා වූ අඥාණයන්ට ස්වභාවයෙන්ම සංසාරය දිගය.**

මේ ගාථාවෙන් පැහැදිලි වෙන කාරණයක් තමයි, මේ ලෝකයේ අත්දැකීම් තියෙන සිද්ධි දෙකක් උන්වහන්සේ උපමා වශයෙන් අරගෙන තියෙන බව. රෑ පුරා නිදා ගත්ත කෙනෙකුට රෑ එළිවෙනව ඉක්මනට දැනෙනවා. ඒ පුද්ගලයට, අනේ ඉක්මනට එළිවුනානෙ කියල දැනෙන්න පුළුවන්. නමුත් නිදි මරල අත්දැකීම් තියෙන කෙනෙක් දන්නවා, කොච්චර වෙලා ගෙවන්න ඕනද කියල. ඉක්මනට එළිවෙන්නෙත් නැනෙ කියල ඒ පුද්ගලය

බලා ගෙන ඉන්නවා. ඒ වගේ තමයි දිග ගමනක් යන කොට මහන්සිය වැඩි වෙන්න වැඩි වෙන්න, කෙටි දුරක් පවා දැනෙන්නෙ මහා දුරක් විදිහට. තව දුරද තව දුරද කියල අහනවා. ඉතින් ඔය උපමා දෙකෙන් පෙන්වන්නෙ, බාලයාට හෙවත් නුවණ නැත්තාට සංසාරයත් ඔය වගේම දික් වෙනව කියල. දැන් කෙනෙකුට හිතෙන්න පුළුවන්, මේ බාලයා කියන්නෙ පොඩි ළමයිද, වයසෙන් අඩු අයද කියල. පොඩි ළමයි හෝ වයසෙන් අඩු කෙනෙක් ළඟට ආවම සමහරු විහිළුවට වගේ කියනවා, බුදුන් වහන්සේ කියල තියෙන්නෙ බාලයො ඇසුරු කරන්න එපා කියල. ඒ නිසා ඒ අයව එලවල දානවා. මේ ගාථාවෙන් නම් එහෙම වයසින් අඩු වැඩි කතාවක් කියවෙන්නෙ නෑ. ඉතින් එතකොට කවුද මේ බාලයා?

අවසාන පේළියේ තියෙනවා, සද්ධර්මය නොදන්නා වූ බාලයා කියල. එහෙම නැත්නම් අඥාණයා කියල. එතකොට සද්ධර්මය නොදන්න කෙනා තමයි බාලයා. එහෙම නැතිව වයසක් ගැන නෙවෙයි මේ කියන්නෙ. තමන්ට වඩා වයසින් මුහුකුරා ගිය කෙනෙක් ඉන්නව නම්, ඒ පුද්ගලයත් සද්ධර්මය දන්නෙ නැත්නම්, බාලයා කියන කොටසට තමයි වැටෙන්නෙ. මේ බාල කියන වචනය අපි යොදා ගන්න තැන් බලන කොට හොඳට වැටහෙන දෙයක් තමයි, වටිනාකමක් නැති දේකට යොදන වචනයක් කියන කාරණය. කෙනෙක් කඩේට ගිහින් යම් කිසි දෙයක් මිලදී ගන්නවා. ඒක ලීයකින් හදපු පුටුවක් කියල හිතුවොත්, හොඳට ලී ගැන දන්න කෙනෙක් ඒක අල්ලල බලල හෝ තමන්ගෙ අත්දැකීම් අනුව, පලපුරුද්ද අනුව කියනවා, අපෝ මේක හදල තියෙන්නෙ බාල ලීයකින් කියල. දැන් එතනත් බාල කියන වචනය පාවිච්චි කළා. ඒ බාල කිව්වෙත් කිසිම කල් පැවැත්මක්, වටිනාකමක් නැති කියන අර්ථයෙන්මයි.

තවත් කෙනෙක් යම් කිසි ස්වභාවයක නොගැලපෙන අසභ්‍ය වැඩක් කරනවා. අසභ්‍ය කිව්වම අද පොදුවෙ හිතාගෙන ඉන්න නිරුවත් දර්ශන, කාමුක දේවල් විතරක් නෙවෙයි ගැනෙන්නෙ. ඊට වඩා පුළුල් පරාසයකට ඒ කාරණය විහිදෙනවා. කොටින්ම කිව්වොත්, තැනකට නොගැලපෙන දෙයක් කියන අදහස තමයි එන්නෙ. උදාහරණයක් විදියට නිශ්ශබ්දව සිටිය යුතු තැනක කෙනෙක් කෑ කෝ ගහනවා. ඒකත් අසභ්‍ය වැඩක් හැටියට ගන්න පුළුවන්. ඉතින් ඔහොම කෑ කෝ ගගහ ඉන්න කෙනාට කියනවා, ඒක නවත්වන්න කියල. කියන දේ තේරුම් ගන්න කෙනෙක් නම් ඒක නවත්වයි. නමුත් ඒක තේරුම් ගන්න බැරි, එහෙම ගානක් නැති කෙනෙක් නම් ඒක නවත්වන්නෙ නෑ. දැන් ඉතින් ටිකක් සැරෙන් කියන්න වෙනවා, බාල වැඩ කරන්න එපා කියල. එහෙම අදහසින් බාල කියන වචනය භාවිතා කරනවා. එහෙම වැඩ කරන අයට වයස් භේදයකින් තොරව බාලයා කියල කියනවා.

නමුත් අත්දැකීම්වලින් පරිපූර්ණ, සාරාසංඛ්‍ය කල්ප ලක්ෂයකට වඩා විවිධ අත්දැකීම් ලබපු ලොව්තුරා බුදුන් වහන්සේ, පොදුවේ සද්ධර්මය නොදන්න කෙනාට බාලයා කියන වචනය භාවිතා කළා. ඇයි එහෙම කිව්වෙ ? එතකොට ලෝකයේ විවිධ නිර්මාණ, විවිධ මත ඉදිරිපත් කරපු මහා විද්‍යාඥයින් පවා බාලයොද ? බුද්ධ දේශනාවට අනුව නම් ඒක එහෙමයි. ඒ අය සද්ධර්මය නොදන්නව නම් බාලයො තමයි. එතකොට ඒ අය කරන නොවටිනා වැඩේ මොකක්ද ? අන්න ඒ අනුව තමයි උන්වහන්සේ සද්ධර්මය නොදන්න අයට බාලයො කිව්වෙ. ආල කිව්වම ලෝකයට බැඳීමට ගන්න හැම දෙයක්මත් අයිති වෙනවා. ළය ආපු තැන තමයි ආල කියන්නෙ. ''ආ'' යන්නයි, ''ළ'' යන්නයි දෙකක් විදියට බෙදුවම ඒ විදියට නිරුක්තියක් එනවා. ළය කියන්නෙ හිතවත්කම හෙවත් බැඳීම. ළයාන්විත බව ආව නම් ඒක ආලය වෙනවා. එතකොට පහත් තත්ත්වයකට හෙවත් බාල දෙයකට ළයාන්විත බවක් ආව නම් ඒක බා + ආල - බාල වෙනවා. ඒක තමයි පද නිරුක්තිය.

කෙනෙක් ලෝකයට තමන් ඇළුන ප්‍රමාණය අනුව විවිධ වටිනාකම් දීල තියෙනවා. මගේ වස්තුව, මගේ රන් කඳ, මගේ තට්ටු දෙකේ ගෙදර, මගේ කෝටියක් වටින වාහනේ... ආදී වශයෙන් මේවට තමයි බොහෝ අය ඇලිල බැඳිල ඉන්නෙ, වටිනාකම් දීල තියෙන්නෙ. කෙනෙක් කෝටියක් වටින වාහනයට ඇළුන ප්‍රමාණයටම තව කෙනෙක් ගෙදර තියෙන එකම පුටුවට ඇලෙන්න පුළුවන්. ඒක ඒ පුද්ගලයට තියෙන වටිනාම දේ. ඒ පුද්ගලයට ඒ පුටුව කැඩුනම එන දාහයම, අනික් කෙනාට අර කෝටියක් වටින වාහනය හැප්පුනත් එන්න පුළුවන්. කෙනෙක් තට්ටු දෙකේ ගේ ගිනි ගන්නකොට විලාප තියන තරමට, තවත් කෙනෙක් තමන්ගෙ පැල්පත ගිනි ගන්න කොට විලාප තියන්න පුළුවන්. එතකොට පැහැදිලි වෙන කාරණය තමයි, මේ වටිනාකම එන්නෙ තම තමන්ට තියෙන දේට ඇළුන ප්‍රමාණයට අනුව කියල. කෙනෙකුට අල්ලපු ගෙදර තට්ටු දෙකේ ගේ ගිනි ගන්න කොට ගානක් නැතිවෙන්න පුළුවන්. මොකද පුද්ගලය ඒ ගෙදරට ඇලිල නැති නිසා. නමුත් තමන්ගෙ පැල්පත ගිනි ගත්තොත් මොකද වෙන්නෙ? එතකොට තේරෙනවා, මේ වටින්නෙ නැති පැල්පතට තමන් කොච්චර නම් ඇලිල වටිනාකමක් දීල තියෙනවද කියල. දැන් බලන්න ඕන ඇත්තටම මේ දේවල් වටිනවද කියල. පැල හෝ තට්ටු දෙකේ ගේ හදනකල් දුක් විඳිනවා. ඒක හැදුවට පස්සෙ රැක ගන්න දුක් විඳිනවා. කැඩෙන බිඳෙන කොට, කඩල බිඳල දාන කොට නැවතත් දුක් විඳිනවා. ඉතින් මොනව කළත් දුකක් විඳින දේකටම වටිනාකමක් දීල ඒක මත්තෙම නැහෙනවා.

මේවායේ තියෙන ඇත්ත තත්වය, ඒ කියන්නෙ මේවාට තියෙන ධර්මතාවය මුලින්ම ලොව්තුරා බුදුන් වහන්සේ අවබෝධ කරගෙන, උන් වහන්සේගෙ ශ්‍රාවක පරම්පරාවට තෝරල දුන්නා. ඉතින් මේ ධර්මතාවය පැහැදිලි කරල, නිවන් මග පහදල දෙන ක්‍රමයට සද්ධර්මය කියල කියනවා. මේ සද්ධර්මය දැන ගත්ත කෙනාට පේනවා, අනේ මේ මිනිස්සු වටිනාකමක් නැති දේවල්වලටනෙ වටිනාකමක් දීල තියෙන්නෙ, මේවායේ වටිනාකමක් නෑ කියල දන්නව නම්, ඒ දේවල්වලට ඇලෙයිද කියල. හරියට පොඩි ළමයි වගේ. කොච්චර කිව්වත් ගින්දර අල්ලන්න එපා පිච්චෙයි කියල, ගිහින් ඒකම කරනවා.

ඉතින් ඒ නිසා තමයි මහා ඥාණයක් ඇතිව දැක්ක උත්තමයො, මේ ලෝකයේ සද්ධර්මය නොදන්න කෙනාට බාලය කියල කිව්වෙ. එතකොට තේරෙනවා මේකට වයස් භේදයක්, ලෞකික දැනුම්වලින් ගත්ත දන උගත්කම්, තාන්න මාන්න අදාල නෑ කියල. මොකද ඒ ඒ අයට ඇලිල තියෙන දේ ඒ අයට වටිනවා. අර පුටුවෙ ලීය බලල, මේක බාල ලීයක්, වටින්නෙ නෑ කියල කිව්ව වගේ, මේ ලෝකෙ ගන්න වටින දෙයක් නෑ කියල ඒ උතුමන්ට පේනවා. ඉතින් ඒකට වෙහෙසෙන එක, හරියට රෑ එළිවෙන කල් ඇහැරිලා ඉන්න අයට රෑ දිගයි වගේම, ගමන් ගිහින් වෙහෙසිලා ඉන්න අයට කුඩා දුරක් වුනත් මහා දුරක් වගේම, සද්ධර්මය නොදන්න අනුවණ කෙනාට මේ සසර දිගයි කියල උන් වහන්සේලාගෙ නුවණට පේනවා. උන්වහන්සේලා සත්පුරුෂයෝ හැටියට ලෝකෙන් මිදෙන මාර්ගය පැහැදිලි කරල දෙනවා. වෙහෙස නිවල සසර කෙටි කරගන්න මාර්ගය හෙවත් සද්ධර්මය කියල දෙනවා. ඒ දහම් අසාගත්, දරාගත්, ප්‍රායෝගිකව අත්හදා බලපු අය සසර කෙටි කරගෙන වෙහෙස නිවා ගන්නවා.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සමග ධම්මපද පාලිය - බාල වග්ගය ඇසුරින් සකස් කළේ:*

**රිෆ්රි ඉස්මයිල්**
**පරිගණක ඉංජිනේරු - ගොතටුව**

# යහපත් දිවියකට

**3 වන කොටස**



වාසය කරන පරිසරය යහපත් කර ගැනීම මංගල කාරණයක් බව පසුගිය 37 වන කලාපයෙන් පැහැදිලි කළා. අපේ රටේ සමහරක් ගෙවල්වල උදවිය අසල්වැසි ගෙදර අයත් එක්ක අමනාපයි. ''දෙවේලෙ පෙනෙන කුකුළාගෙ කරමලා - එවේලේ පෙනෙයි සකසේම සුදු වෙලා...'' කියල අපේ පැරණි කියමනක් තියෙනවා. රතු පාට තද පාටක් වුනත්, නිතර නිතර දකින කොට වර්ණය දුර්වල වෙලා පෙනෙන ස්වභාවයක් තමයි මේ කියමනෙන් වැටහෙන්නෙ. ඒ වගේ අපට නිතරම පේන්නෙ ළඟ ඉන්න පුද්ගලයා. ඉතින් ඒ පුද්ගලයගෙ හොඳ ගති ගුණ මතු වෙලා පේන්නෙ නැති ස්වභාවයක් එනවා.

මේ ලෝකෙ සකස් වෙලා තියෙන්නෙ හොඳ නරක මිශ්‍ර ගති ලක්ෂණවලින් නිසා ලැබෙන විපාකත් හොඳ නරක මිශ්‍රයි. පුංචි නරකක් වුනත් නිතර නිතර දකින කොට ඒක මහ ලොකු වරදක් වගේ පේනවා. ඒ වුනත් ලෝකෙ අනිත් අයගෙ ක්‍රියා කලාප එක්ක සංසන්දනය කරල, අර පුංචි නරක ගතියට වඩා හොඳ දකින්න පුරුදු වෙන්න ඕන. එතකොට පුංචි නරක ගතිය ලොකු වෙලා දැක්ක වගේ, පුංචි හොඳ ගතියත් ලොකු වෙලා පේනවා. එහෙම වුනා නම් අසල් වැසි අය එක්ක අමනාපයට වඩා හොඳ මිත්‍රත්වයක් ගොඩ නැගෙනවා. එතකොට ඒ අයටත් මේ දහම් මග පෙන්වල යහපතක් කරල දෙන්නත් පුළුවන්. ඒ විදියට අවට පරිසරය යහපත් කර ගැනීම තමන්ටත් යහපතක් වෙනවා. අසල් වැසියො විතරක් නෙවෙයි, තමන්ගෙ ගෙදර අය හෝ කාර්යාලයේ අය ගැන වුනත් මේ වැඩ පිළිවෙල ගැලපෙනවා. මේ වගේ ලැබුන පරිසරය යහපත් විදියට හදාගන්න ඕන.

උස ගහක හොඳ පළතුරක් ඉදිල තියෙනවා. අපට ඒක කඩා ගන්න ඕන නම්, දිග කෙක්කක් හොයා ගෙන, ලණු පොටකුත් කෝටු කැල්ලකුත් අරගෙන, කෙක්ක බැඳ ගත්තට පස්සෙ තමයි ගෙඩිය කඩන්න යන්නෙ. මේ වගේ නිවන් දකින්නත් නිවැරදි දහම් මගක් තියෙනවා. ඒ මග භාවනානුයෝගීව වඩන්නෙ නිවන දැක්කට පස්සෙ. මග දැකීම තමයි සෝවාන් වෙනව කියන්නෙ. හරි පාර දැක්කට පස්සෙ තව තව පාරවල් හොයන්නෙ නෑ, සතර අපාගත වෙන වැඩ කටයුතු කරන්නෙ නෑ, ගති නියතයි. සුගති දුගති කියන ගති දෙකෙන්, දුගතියට යන්නෙ නෑ. නිවන සඳහා කළ යුතු සියල්ල පූර්ණ කරපු දවසට පෙර තිබිච්ච කෙළෙස් නැති බව තමන්ම දැන ගන්නවා. (පිරි + නිවන)

සූවිසි බුදු ගුණ, මහා මංගල සූත්‍රය, කරණීය මෙත්ත සූත්‍රය කියන්නෙ බෞද්ධ පිරිස නිතර භාවිතා කරන, මේ මග පැහැදිළි කරන ධර්ම කොටස් තුනක්. නමුත් බොහෝ දෙනෙක් මේවා සජ්ජායනා කරනව විතරයි. නිවන් දකින මග දකින්නෙ නෑ, වඩන්නෙ නෑ. තව බොහෝ සූත්‍ර දේශනා, නිවන් දකින මාර්ග ත්‍රිපිටකය තුළ දේශනා කරල තියෙනවා. ඒ හැම ක්‍රමයකම පොදු ගුණාංග තියෙනවා.

රාගය, ද්වේශය, මෝහය පහ කිරීම, පංච උපාදානස්කන්ධය කෙරෙහි ඡන්දය, රාගය, ඡන්ද රාගය පහ කිරීම, අභ්‍යන්තර ආයතන වන ඇස, කන .... ආදියෙත් බාහිර අරමුණු වන රූප, ශබ්ද .... ආදියෙත් අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් අසාරත්වය දැකල, ලෝකය කෙරෙහි අත්හැරීම, නොඇලීම, මිදීම පුහුණු කිරීම ඒ පොදු ලක්ෂණ අතර ප්‍රධානයි. නිවන් දකින්න ඕන කියන අදහස කෙනෙක් තුළ ඇති වෙන්නෙ, සසරෙදි පුරුදු පුහුණු කරගත්තු යහපත් දේවල් සමග ලැබෙන ප්‍රඥාව තුලින්. එහෙම අදහසක් ඇති වුනාට, නිවන කියන්නෙ මොන වගේ දෙයක්ද, ඇහැට පෙනෙන, ඇඟට දැනෙන ආකාර වූ දෙයක්ද, අත් විඳින්නා වූ සැපයක්ද, මරණින් මතු ලබන දෙයක්ද, මෙලොවදී ලබන දෙයක්ද කියල හරි හැටි දන්නෙ නෑ.

''පච්චත්තං වේදිතබ්බෝ විඤ්ඤූහී .....' කියල මේ දහමෙ ගුණයක් තියෙනවා. මේ දහම ප්‍රත්‍යක්ෂ කර ගන්නෙ ප්‍රඥාව-න්තයෝ. ප්‍රඥාවන්ත වෙන්නෙ කොහොමද කියල හෙළ බොදු පියුම 15 වන කලාපයේ ''කුසල් අකුසල් හඳුනා ගනිමු'' ලිපිය යටතේ විස්තර කරල තියෙනවා. කල්‍යාණ මිත්‍ර ඇසුරින්, සද්ධර්මය යෝනිසෝ මනසිකාර-යෙන් යුක්තව ශ්‍රවණය කිරීමෙන් තමයි ප්‍රඥාවන්ත වෙන්නෙ. ඒ ප්‍රඥාව ලැබුවම නිවන මොන වගේද කියල දැන ගන්නවා.

දහම් අවබෝධය ලබපු ප්‍රඥාවන්තයෝ දෘෂ්ටිගත වෙන්නෙ නෑ. ඒ අයට දෘෂ්ටි විපර්යාස නෑ. හේතුවට අනුකූලයි ඵලය කියන, හේතු ඵල දහම නිතර සිහි කරනවා. හැබැයි මූලික දහම් අවබෝධය විතරක් ලබපු සෝතාපන්න මට්ටමේ අයට සංඥා විපර්යාස සහ චිත්ත විපර්යාස ඇති වෙන්න පුළුවන්. අවිද්‍යා සහගතව යම් යම් කරුණු පිළිබඳව විපරීත හැඟීම් ඇති වෙන්න පුළුවන්. දෘෂ්ටි ගතවීම කියන කාරණය සෝවාන් වෙනවත් එක්කම පහ වෙලා ගියත් විපරීත අදහස් එන්න පුළුවන්. ඒවා දෘෂ්ටි නෙවෙයි. ප්‍රධාන දෘෂ්ටිගත වීම් 2 යි තියෙන්නෙ. එකක් තමයි උච්ඡේද වාදයත් එක්ක එන නියත මිත්‍යා දෘෂ්ටිගත වීම. ඒක සතර අපාගත පැත්තටමයි තියෙන්නෙ. අනික තමයි සාස්වත දෘෂ්ටිය හෙවත් ආත්ම දෘෂ්ටිය. නමුත් ඒක සසර දික් කරනව මිසක් සතර අපාගත පැත්තට වැටෙන්නෙ නෑ. සෝවාන් වෙච්ච තැන් පටන් මේ දෘෂ්ටි දෙකම නැති වෙනවා. එතකොට දෘෂ්ටි විපර්යාසයත් ඉවරයි. නමුත් ලෞකික වශයෙන් යහපත් දේ මුල් කර ගෙන වුනත්, සඤ්ඤා සහ චිත්ත වශයෙන් විපරීත (විපර්යාස) ☞

ඇතිවෙන්න පුළුවන්. ඒ කියන්නෙ ලෝකයේ යම් කිසි පැවැත්මක් තුළ තියෙන දෙයක් හොඳයි කියල ගන්න කැමැත්තක් ඇති වෙන්න පුළුවන්. හැබැයි ඒ දෘෂ්ටි වශයෙන් නෙවෙයි. නිච්ච, සුඛ, අත්ත, සුභ වශයෙන් ගැනීම කියන්නෙ විපරීත. අනිච්ච, දුක්ඛ, අනත්ත, අසුභ වශයෙන් ගැනීම කියන්නෙ විපරීත නොවන. එතකොට මේ වගේ අයගෙ චිත්ත, සංඥා විපර්යාසයෙන් හිත මිදිල නෑ. නිච්ච, සුඛ, අත්ත, සුභ කියන හතරින් සහමුලින්ම හිත මිදුන නම් ඒ අරිහත් ඵලය. එතකොට චිත්ත, සංඥා විපර්යාසත් නෑ. ඊට මෙහා ඉන්න අයට ඒ ඒ මට්ටම්වලින් ඒක තියෙනවා.

උදාහරණ විදියට සෝවාන් වෙච්ච කෙනෙක් දෙව් බඹ ලෝක අනිච්චයි, දුක්ඛයි, අනත්තයි, අසුභයි කියල දැක්කට, ඇත්ත වශයෙන්ම ඒ ලෝකවල ගිහින් උපන්නොත්, ඒ තැන්වල ඉන්න පුළුවන් සැපක් තියෙනවනෙ කියල හැඟීමක් එන්න පුළුවන්. ඒ සැප විඳීම සම්බන්ධයෙන් අදහස් එන්න පුළුවන්. ඒක චිත්ත, සංඥා විපර්යාසයක්. තවත් විදියකින් කියනව නම්, අවිද්‍යාව කියල කිව්වම අනිච්චේ නිච්ච සංඥා, දුක්ඛෙ සුඛ සංඥා, අනත්තේ අත්ත සංඥා, අසුභේ සුභ සංඥා කියන විපර්යාසයන් එන්න පුළුවන්. ඒ කියන්නෙ, යමක් අනිච්චයි කියල දැක්කත් (නිච්චයි කියන දෘෂ්ටිය පහ වෙලා ගියත්) ඒ තුළ යම් නිච්ච බවක් (පෙළීමක් විතරක් නෙවෙයි, සුවයකුත් තියෙනවයි කියන හැඟීම) තියෙනවයි කියන සංඥාවත්, දුකයි කියල දැක්කත් ඒ තුළ යම් සුවයක් තියෙනවයි කියන සංඥාවත්, අසාරයි කියල දැක්කත් ඒ තුළ යම් කිසි සාර බවක් තියෙනව කියන සංඥාවත්, අසුභයි කියල දැක්කත් ඒ තුළ යම් සුභ බවක් තියෙනව කියන සංඥාවත්, චිත්තයත් විපර්යාසයන් වශයෙන් එන්න පුළුවන්.

මේ කාරණය තවත් විදියකින් පැහැදිලි කරන්න පුළුවන්. සෝවාන් වෙච්ච කෙනෙකුට වටින සුඛෝපභෝගී නිවසක් තියෙනවා. එතකොට ඒ පුද්ගලය ඒක අනිච්චයි කියල දකිනවා. බලාපොරොත්තු වෙච්ච යහපත් හොඳ දෙයක්, තමන්ට තිබ්බිච්ච සැප සම්පත්තියක් වැනසිලා කැඩිල බිඳිල යන කොට, ඒක දුක් කරදර ගෙනත් දෙනවයි කියල ඒ පුද්ගලය දන්නවා. ඒකෙ ස්වභාවය දකිනවා. ඒකට උරුම ස්වභාවය ඇත්තද කියල ඇහුවොත්, ඇත්ත කියල උත්තර දෙනවා. එහෙම නොවන දෙයක් ලෝකෙ තියේද කියල ඇහුවොත්, නෑ කියලත් කියනවා. ඉතින් ඒකට විසඳුම අත් හැරීමද, අල්ල ගැනීමද කියල ඇහුවොත්, අත් හැරීම කියලත් කියනවා. මේ නිසා ඒ පුද්ගලයට දෘෂ්ටි විපර්යාසයක් නෑ. හැබැයි දැන් ඇහුවොත්, එහෙනම් ඒ සුඛෝපභෝගී නිවස අත් හරින්න කියල, පුළුවන්ද? දැන් පුද්ගලය හිර වෙන තැනක් එනවා. යම් කිසි විපර්යාසයක් එනවා. අනිච්චයි, දුක්ඛයි, අනත්තයි, අසුභයි කියල දැක්කත්, ඒ බව කොච්චර කිව්වත්, තවමත් අත් හැර ගන්න බැරි වෙච්ච කොටසක් තියෙනවා. ඒ කියන්නෙ විපරීත හිත අත් හැරිල නෑ. ඒක සංඥා, චිත්ත වශයෙන් තියෙනවා.

ඒ සංඥාවෙන්, චිත්තයෙන් කිසිම යහපතක් හෝ හරයක් නෑ කියල ඒ පුද්ගලය දන්නවා. ඒක සසරට බැඳෙන එකක් බවත් දන්නවා. ඒ නිසා දුක් කරදරවලට හේතු වෙන බවත් දන්නවා. ඒ දැනීම තියෙන නිසා දෘෂ්ටි විපර්යාසයක් නෑ. හැබැයි කාමයන් විඳින්න හිතෙනවා. ඒ වගේම විඳින බලාපොරොත්තුවත් තියෙනවා. ඒ නිසා කාම සංඥාවට හිත පිහිටනවා. ඒ නිසා සංඥා විපර්යාසය තියෙනවා. ඒ වගේම චිත්ත විපර්යාසය නිසා කාම අදහස් එනවා. ඒ කාරණය සතර අපා පැත්තට උපාදාන කරන්න තරම් බලවත් නැති එක වෙනම කාරණයක්. මොකද දෘෂ්ටි විපර්යාසයක් නැති වෙන කොට උපාදානය දුබල වෙන නිසා. ඒක අත් හැර ගන්න නම් විදර්ශනාවෙ තවත් ඉදිරියට යන්න ඕන. ඒ නිසා මේ දෘෂ්ටියයි, විපර්යාසයයි කියන කාරණා දෙක තේරුම් ගන්න ඕන බොහොම සියුම් තැනක්.

පිරිසිදු කරපු මනසක් ඇති ශ්‍රමණ බ්‍රාහ්මණාදීන්, මරණින් පස්සෙ පරලොවක් තියෙන බව දැකල, ඒ ලෝකවල ස්වභාවය මේ ලෝකයාගේ යහපතට දේශනා කරනවා. අපි ඒ ලෝක නොදැක්කට, ඒ වගේ ලෝක තියෙන බව විශ්වාසයෙන් පිළිගන්නවා. නරකය, තිරිසන්, ප්‍රේත, අසුර කියන සතර අපායවල ජීවත් වෙන සත්වයෝ අප්‍රමාණ දුක් විඳිනවා. තිරිසන් අපාය තියෙන්නෙ මේ මිනිස් ලෝකයේම නිසා, තිරිසන් සතුන් දුක් විඳින හැටි පේනවා. අනිත් අපායවල තියෙන දුක්, තිරිසන් ලෝකෙ දුකට වඩා භයානකයි. මිනිස් ලොව ඉපදිලා පරලොවක් ගැන විශ්වාස නොකර කරපු අකුසල්වල විපාක තමයි ඒ සත්වයෝ විඳවන්නෙ.

මිනිස් ලෝකෙදි පින් කරපු අය වඩපු කුසල් දහම්වල විපාක, දෙව් බඹ පිරිස් වෙලා බොහෝ දීර්ඝ කාලයක් ඒ ඒ ලෝකවලදි සැප විදියට විඳිනවා. ශ්‍රමණ බ්‍රාහ්මණාදීන් මේවා දේශනා කරන්නෙ මේ මිනිස් ලෝකය, සත්වයින් සුගතියට දුගතියට පමුණුව වන වේදිකාවක් වගේ ක්‍රියා කරන බව පෙන්වන්න. ළිඳේ ඉන්න මැඩියා දන්නෙ ළිං කටෙන් ඇතුලෙ ලෝකය විතරයි කියල කියමනක් තියෙනවා. මැඩියා නොදැක්කට ළිඳේ වපසරියට වඩා ලෝකය කොයි තරම් විසාලද? බුදුන්, දහම්, සඟුන් කෙරෙ සද්ධාවෙන්, ඒ සද්දහම අහල, මග වඩාගෙන මනස දියුණු පුහුණු කර නොගත් පිරිසත් ළිං මැඩියො වගේ තමයි. ඒ අය දකින්නෙ ආස්වාද මායා ලෝකය විතරයි.

''අපි ලෝකෙට අවැඩක් කරන්නෙ නැහැනෙ. අපි ළමයින්ගෙ ලෝකය දැනුමෙන් ඉගෙනුමෙන් පෝෂණය කරල ඒ අයගෙ අනාගතය හදාගන්න මග පාදා දෙනවා. පන්සල් ගිහින් සිල් රැක්කෙ නැතුවට, අපි පන්සිල් රකිනවනෙ. නිවන් දකින්න කියල අමුතුවෙන් මොකුත් නොකළට කමක් නෑ.'' මෙහෙම හිතන පිරිසක් ඉන්නවා. තව පිරිසක් මෙහෙමත් හිතනවා. ''අපි රෝගීන් සුවපත් කරන එකනෙ කරන්නෙ. ඒක කොච්චර පිනක්ද ? නිවන් දකින්න අමුතුවෙන් පිං කරන්න, පන්සල් ගිහින් සිල් ගන්න ඕන නෑ'' මේ වගේ තම තමන් කරන හැම රැකියාවකින්ම, සමාජයේ යම් කොටසකට උපකාර කිරීමක් තමයි කරන්නෙ. හැබැයි රැකියාව කියන වචනෙම තියෙනවා, ඒක නිවන් දකින මගක් නොවන බව. රැකෙන්න යමකට යා වෙනවද, ඒක තමයි රැකියාව කියන්නෙ. ඒක දිවි රැකෙන්න මිසක් නිවනට මගක් නෙවෙයි. මේවා ජීවත් වෙන්න කරන යහපත් රැකියාවල් (ලෞකික සම්මා කම්මන්ත). ඒ නිසා ලෞකිකයි, කෙලෙස් සහිතයි, යහපත් චේතනාවෙන් කළොත් සුගතියට උපකාර වෙනවා. සුගතිය කියන්නෙ නිවන නෙවෙයි. ''දිට්ඨාවා යේව අද්දිට්ඨා ...'' කියල කරණීය මෙත්ත සූත්‍රයේ තියෙනවා. වෘත්තිය ගැන වුනත් මේ වගේ දෘෂ්ටිගත වුනාම නිවන් දකින්නෙ නෑ. යහපත් වෘත්තියකින් ජීවත් වුන අයත් පුද්ගලික ජීවිතේදි කරපු අකුසල්වල විපාක හැටියට දුගතිවල ඉපදෙනවා. ඒ නිසා ඒවා තම තමන්ගෙ දෘෂ්ටි මිසක් බුදු බණ නෙවෙයි. සැබෑ යහපත් ජීවිතයක අවසානය යොමු වෙන්න ඕන නිවනට.

''මල් ටිකක් පූජ කළාම මදිද? බුදුන්ට පූජ කරනව කියල ලක්ෂ ගණන් මල් පූජ කරන්න ඕනද?'' ලෝකෙට පේන්න, ලාභ සත්කාර ගන්න, කීර්ති ප්‍රසංසා ගන්න, කැපී පේන්න කරන වැඩ හැටියට අද මේ විශේෂ බුද්ධ පූජා ගැන හිතන පිරිස් ඉන්නවා. ඒවත් තම තමන්ගෙ දෘෂ්ටි මිසක් බුදු බණ නෙවෙයි. කොසොල් මහ රජ්ජුරුවො අසදෘෂ මහා දානය පිරිනමන වෙලාවෙ බුදුන් වහන්සේ ඒක ප්‍රතික්ෂේප කළේ නෑ. ''ඔය ලොකු ලොකු පිංකම් කරල භවය දික්කර ගන්නවනෙ. නිවන් දකින්න ඕව කරල බෑ.'' මේ තව දෘෂ්ටියක්. ''එක් කෙනෙක්ගෙ බණ අහල, එතනට කොටු වෙලා ඉඳල හරියන්නෙ නෑ. අපි එහෙ මෙහෙ ගිහින් හොයල බලන්න ඕන. එතකොටයි නිවන් දකින්න හරි මග

මුණ ගැහෙන්නෙ.'' මේ දෘෂ්ටිය තියෙන අය නිවන් දකින දහමත් පහු කර ගෙන තව තවත් හොය හොයා යනවා. තව පිරිසක් මෙහෙම කියනවා. ''එහෙ මෙහෙ යන්න ඕන නෑ. කොයි පන්සලෙත් වැඩ ඉන්නෙ එක බුදු හාමුදුරුවො. කොයි හාමුදුරුවො කියල දෙන්නෙත් බුදු බණනෙ !'' මේ විදියට නොයෙකුත් දෘෂ්ටි ඇති කර ගන්නෙ, ඒ බුදු බණ හරි හැටි තෝර බේර ගෙන නුවණින් විමසල දැන ගත්තෙ නැති නිසා. ''දිට්ඨාවා යේව අද්දිට්ඨා - යේච දූරේ වසන්ති අවිදූරේ ...'' කියල බුදුන් වහන්සේ දේශනා කළේ, දෘෂ්ටියකට කොටු වුනොත් ඇත්ත දකින්න බෑ, ඒ අය අවිදු අඳුරේ වාසය කරනවා, නිවනින් දුරස්ව වාසය කරනවා... කියන එක. නමුත් මේ සැඟවිච්ච දහම් අර්ථය මේ වෙන කොට විද්‍යමාන වෙන්නෙ නෑ.

පිරිසිදු වතුර තියෙන ළිඳක් තියෙනවා. බාල්දියකුත් තියෙනවා. කැත කුණු තවරගත්ත පොඩි දරුවෙක් පිරිසිදු වෙන්න බලාගෙන ඉන්නවා. දැන් ඒ දරුවට තනියම වතුර නාගෙන පිරිසිදු වෙන්න පුළුවන්ද? වැඩිහිටි කෙනෙක් ඒ දරුවා නාවා පිරිසිදු කළොත්, ඒ වැඩිහිටිය ගැන දරුවගෙ හිතේ ඇති වන හැඟීම කොහොමද? ඒ චිත්ත ප්‍රසාදය තේරුම් ගන්න ඕන. පිරිසිදු වතුර තියෙන ළිඳක් වගේ සද්ධර්මය මතු වෙලා තියෙනවා. වතුර ගන්න පුළුවන් බඳුනක් වගේ, ඒ සද්දහම ලෝකයට එළිදරව් කරන උතුම් සංඝ රත්නය මතු වෙලා වැඩ ඉන්නවා. කැත කුණු තවරගත්ත පොඩි දරුවො වගේ, පස් කම් සැප හොයා ගෙන ගිහින් හෙම්බත් වුන, ඒ දුකෙන් මිදෙන්න මග හොයන පිරිසක් ඉන්නවා.

සාසනය ගැන යම් වැටහීමක් තියෙන, සද්ධා බුද්ධි සම්පන්න පින්වත් සාසන දරුවන්ට, තනියම විදර්ශනා කරල මල්, සුවඳ දුම්, පහන් ආලෝක පූජා කරල සද්ධා, සීල, සෘත, චාග, ප්‍රඥා කියන ඉන්ද්‍රියන් වඩා ගන්න මග පාදා දීම මේ ලොකු ලොකු ගුණ උපහාර බුද්ධ පූජා පැවැත් වීමෙන් සිද්ධ කරල දෙනවා. ඒවා දැකීමෙන්, ඇසීමෙන්, සහභාගි වීමෙන් පැහැදුනා කියන්නෙ බුදුන්, දහම්, සඟුන් කෙරෙහි චිත්ත ප්‍රසාදය ඇති වුනා කියන එක. ඒ මොහොත මනුස්ස ජීවිතයකට ලබන්න පුළුවන් ඉතා දුර්ලභ උතුම් අවස්ථාවක්. චිත්ත ප්‍රසාදයත් එක්ක පංච නීවරණ සමථ වෙනවා. එතකොට දහම්, අනු දහම් පටිපදාවකයි යෙදිල ඉන්නෙ. යෝනිසෝ මනසිකාරය, සද්ධර්ම ශ්‍රවණය, කල්‍යාණ මිත්‍ර සම්පත්තිය කියන කාරණා සියල්ල කැටිවුණ මොහොතක්. හේතු වාසනා තියෙන සාසන දරුවන්ට මග ඵල ලබන්න හැකියාව තියෙන මොහොතක්. අනන්ත සසර ගමනේ මෙතුවක් කල් නොලැබුණ මහා වාසනාවන්ත මොහොතක්.

සාසන දරුවො වගේ සාසන ගැටවරයො ඉන්නවා. සද්ධාදී ඉන්ද්‍රිය ධර්ම වඩමින් ඉන්න ඒ අය, මේ පූජා කටයුතු සිද්ධ කිරීමට තම තමන්ගෙ සහජ හැකියාවන් උපයෝගී කර ගනිමින් විවිධ උදව් උපකාර කරනවා, දානය සකස් කරල දෙනවා, නොයෙක් පහසුකම් සලසනවා, බුද්ධ පූජා ආදිය සකස් කරනවා. මේ වගේ විවිධ කටයුතුවල යෙදෙමින් ඒ අය සතුටු වෙනවා. (ප්‍රීති සම්බොජ්ජංගය වැඩෙනවා) පටිභාන කාව්‍යමය දේශනා අහල ධර්මය ගැන විමසල දැන ගන්නවා (ධර්ම විචය සම්බොජ්ජංගය - ධර්මය සම්බන්ධයෙන් වන විචක්ෂණ භාවය). ප්‍රීතියෙන් කායික මානසික සුවය, සැහැල්ලුව ලබනවා (පස්සද්ධි සම්බොජ්ජංගය). ඒ සුවය තුළින් සමාධිය වැඩෙනවා (සමාධි සම්බො-



ජ්ජංගය). මේ විදියට ඒ අයටත් සාසන ගුණ වඩාගන්න මග පෑදෙනවා.

පිංකම් කිරීමෙන් භවය දික් වෙනව කියන්නෙ බුද්ධ දේශනාවක් නෙවෙයි. කාගෙ හෝ මතයක්. දහමට ගැලපෙන්නෙ නැත්නම් ඒ වගේ මත ප්‍රතික්ෂේප කරන්න ඕන. මේ දෘෂ්ටිය තියෙන අය, යම් කිසි දෙයක් පරිත්‍යාග කළාම, පිං සිද්ධ වේවා කියනවටත් කැමති නෑ. බුද්ධ දේශනාවෙ තියෙන්නෙ, අවිද්‍යා ප්‍රත්‍යයෙන් සංඛාර වේ, සංඛාර ප්‍රත්‍යයෙන් විඤ්ඤාණ වේ ..... උපාදාන ප්‍රත්‍යයෙන් භව වේ කියන පටිච්ච සමුප්පාද නියමය. යමක් උපාදාන කර ගැනීමෙන්, උපාදාන කරගත් හේතුවට අනුකූල භවයක් හට ගන්නවා. පිංකම් කරන්නෙ නිවන පතාගෙන. හැබැයි පිනේ විපාකය උපාදාන කර ගන්නෙ නෑ. උපාදාන නැත්නම් භව නෑ. පිං කළාම භවය දික් වෙනව කියන්නෙ, බුදු බණ හරි හැටි විමසුම් නුවණින් තෝර බේර ගෙන දැන නොගත්ත නිසා.

කොයි පන්සලෙත් වැඩ ඉන්නෙ එක බුදු හාමුදුරුවො වුනාට, කොයි හාමුදුරුවොත් දේශනා කරන්නෙ එකම බුදු බණද කියලත් විමසල බලන්න ඕන. ගෞතම බුදු සසුනෙ ආරම්භක අවධියේ නවක පැවිද්දෙක් හැටියට පිඩුසිඟා වැඩිය අස්සජී හාමුදුරුවො ගැන පැහැදුන උපතිස්ස පිරිවැජියාට, උන් වහන්සේ යේ ධම්මා හේතුප්පබවා.... ගාථාවෙ පද දෙකක් දේශනා කරනවා. ඒ ටික අහගෙන ඉඳල ඔහු සෝවාන් වෙනවා. ඒ කියන්නෙ නිවැරදි බුදු බණ ඇහුවොත් මගඵල ලබනවා.

ඒ වගේම ඒ අවධියේ වැඩ හිටපු තවත් තරුණ භික්ෂුවකගෙන්, ඔබ තරුණ වයසෙදිම පැවිදි වෙලා මේ විදියට භාවනා කරන්නෙ ඇයි කියල ඇහුවම, මේ සියල්ල දුකයිනෙ, ඒ නිසා දුකෙන් මිදෙන්න භාවනා කරනව කියල පිළිතුරක් දුන්නා. පෙනි පෙනී තියෙන සැප නැතැයි කියන මෝඩයා කවුද කියල ඒ තැනැත්තා යන්න ගියා. මේ සිදුවීම දැක්ක තවත් භික්ෂුවක් ඒ කියමනේ වරද නිවරද දැන ගන්න බුදුන් වහන්සේ හමුවෙලා සිද්ධිය ප්‍රකාශ කළා. බුදුන් වහන්සේ, සියල්ල දුකයි කිව්ව ඒ භික්ෂුව ගෙන්වල එහෙම ප්‍රකාශ කළාද කියල විමසුවා. එසේය භාග්‍යවතුන් වහන්ස... කියල උත්තර දුන්නා. මහණ, මම එබන්දක් දේශනා කරල තියෙනවද, මේ ලෝකයේ සැප සහගත ආස්වාදයක් නැත්නම් ලෝක සත්වයා සසර සැරිසරනවද කියල අහල, ඒ සැප ආස්වාද මාත්‍රයේ ඇති ආදීනවය දුක බව පෙන්වා දීල, මේ ආදී වශයෙන් බුදුන් වහන්සේ ඒ භික්ෂූන් වහන්සේට දහම් දේශනා කළා.

**බුදුන් වහන්සේ ජීවමාන කාලෙදිත් බුදු බණ කියල හිතාගෙන වැරදියට වටහා ගත් දේවල් දේශනා කරපු භික්ෂූන් වහන්සේලා ඉඳල තියෙනවා.** එක් අවස්ථාවක බුදුන් වහන්සේගෙ අනුසාසනාවක් පිළි නොගත් නිසා, උන් වහන්සේ වස් තුන් මසක් පරිලෙය්‍ය වනයේ හුදකලාව වාසය කළ බවත් ධර්මයේ සඳහන් වෙනවා. ඒ නිසා අවුරුදු දෙදහස් පන්සිය ගණනකට පස්සෙ දේශනා කරන බණ විමසුම් නුවණින් අහන්න ඕන. සැබෑ බුදු බණත් වැරදි විදියට වටහා ගෙන කරන දේශනා නිවැරදිව තෝර බේර ගන්න, බුදුන් වහන්සේ දේශනා කරපු සූත්‍රයට, විනයට, දහමට ගැලපෙනවද කියල බලන්න ඕන. සූත්‍රය කිව්වෙ සිවු අරිසස්. විනය කිව්වෙ ☞

රාග විනය, ද්වේශ විනය, මෝහ විනය. දහම කිව්වෙ පටිච්ච සමුප්පාද දහම.

නිවන ගැන හරියට දන්නෙ නැති වුනාට අපටම වැටහෙන සමහර කාරණා තියෙනවා. සතුන්ට හිංගි හිංසා කරන, සුරා සූදු දුරාචාර කරන, බොරු කේලම්, පරුස වචන, හිස් වචනවලින් පවුල්වල සමගිය නැති කරල කඩා බිඳ දමන, හොර මැර වංචා තක්කඩිකම් කරන අය ඇසුරු කරන්නෙ, ඒ වගේ වැඩවලට කැමති සුළු පිරිසක් විතරයි. ඒ අය ඇසුරු කරන්නම සිද්ධ වෙන කටයුතු අන් අයට තියෙනව නම්, ඒව කරන්නෙත් බොහොම අකමැත්තෙන් නොකර බැරි කමට. ඇසුරු කිරීමෙන්වත් සැනසීමක් නෑ කියල හිතෙන ඒ අයත් විඳින සැනසීමක් නැති බව පැහැදිලියි.

සතෙක් හිංසාවට පත් වෙන වෙලාවෙදි ඒ සතාගෙ දුක්ඛිත ස්වභාවය, අසරණ දුක් බර හඬ ප්‍රිය මනාප නෑ. මේ දුක් බර හඬට, ''අනේ පවු .....'' කියන්න හිතෙන්නෙ යහපත් ජීවිත ගත කරන අයට. ඌරට අසූචි ප්‍රියයි. නමුත් මිනිස් වූ අපට ඒක අප්‍රියයි. ඒ වගේ, ගුණ දහමින් පිරිහුණ, පවු කරන, කරවන අයට ඒ හඬ අප්‍රිය නෑ. ඒ සතා ගැන දුකක් හිතෙන්නෙ නෑ. සත්ව හිංසාව කරන, කරවන අයටත් විපාක දුකක් විඳින්න වෙනවා. මැරෙන සතාටත්, මරවන සතාටත් දුක් විපාක දෙන සත්ව හිංසාව හොඳ දෙයක්ද? පරලොවක් නොඅදහන, ගුණ හීන අනුවණ අය විපාක නොදන්න නිසා සත්ව හිංසාව කරනවා. අන් සතු දේ පැහැර ගන්නවා. සුරා සූදු දුරාචාර කරනවා. දස අකුසල් කරනවා, කරවනවා, කරන්න උදව් දෙනවා, ඒවා කළාට කමක් නෑ කියල වර්ණනා කරනවා. ඒ අය මරණින් මතු දුගතියේ උපදිනව කියල බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා.

මේ දුක් සොබාව වටහා ගන්නා, යහපත් ජීවිත ගත කරන නුවණැති අය දස අකුසලයෙන් වෙන් වෙනවා. අකුසලය අත හැරීමෙන් ලැබෙන සැනසීම අවබෝධ කර ගන්නවා. මේ සැනසීම ලැබෙන යහපත් දිවි පෙවෙතක් ගත කරන අය, ඒ ප්‍රබෝධය තුළින් තමන් සතු දේ අන් අයට දීමෙන් සතුටු වෙනවා. දානය, සීලය වගේ යහපත් දේ කිරීමෙන් ලැබෙන සතුට සොම්නස සැනසීම අත් විඳිනවා. නරක දෙයින් නරක ප්‍රතිඵලත්, හොඳ දෙයින් හොඳ ප්‍රතිඵලත් ලැබෙන බව අවබෝධයෙන් ප්‍රත්‍යක්ෂ කර ගන්නවා. සතුන්ට කුරිරු වද හිංසා දීල මරන තැනැත්තාගේ ජීවිතය, වෙනත් විවිධ හේතුවලින් දැවෙන තැවෙන දුක් විඳින කටුක ස්වභාවයත්, සතෙකුට යමක් දීමෙන් සතුටට නිවීමට පත් වෙන සිතෙහි ඇති වන සැනසිලි ස්වභාවයත්, ඒ දෙකේ වෙනසත් පැහැදිලිව දකිනවා.

ඒ කියන්නෙ, දුන් දෙයෙහි විපාක ඇත, ලද දෙයෙහි විපාක ඇත, පිදීමෙහි විපාක ඇත, යහපත් කටයුතුවලට යහපත් විපාක ඇත, අයහපත් කටයුතුවලට අයහපත් විපාක ඇත, (කර්ම ඵල විපාක ඇත) මෙලොවක් ඇත, පරලොවක් ඇත, මවු කියා විශේෂ ගුණයක් ඇත, පියා ලෙසින් විශේෂ ගුණයක් ඇත, ඕපපාතික සත්වයෝ ඇත, මෙලොව පරලොව විශිෂ්ට ඥානයෙන් දැන ප්‍රත්‍යක්ෂ කරගෙන ප්‍රකාශ කරන ශ්‍රමණ බ්‍රාහ්මණාදීන් ඇත කියන දස වස්තුක සම්මා දිට්ඨිය ඇති වෙනවා. කම්මස්සකථ සම්මා දිට්ඨි කියන්නෙ, මේ කර්ම ඵල විස්වාස කරන සම්මා දිට්ඨියට. අබුද්ධෝත්පාද කාලවලත් මේ සම්මා දිට්ඨිය තියෙනවා.

මේ අය සිල් රැකීම හොඳයි කියල ඒ නිසා පෙහෙවස් සමාදන් වෙනවා, භාවනා කරනවා. මේ භාවනාවලින් සිත දියුණු කර ගෙන ධ්‍යාන උපදවා ගෙන බ්‍රහ්ම ලෝකවල දීර්ඝ කාලයක් ධ්‍යාන සුවයෙන් ඉඳීම හොඳයි කියල අරමුණු කරනවා. මේ ලෞකික ධ්‍යානවලින් සුගතිගාමී වීම හොඳයි කියන දැකීමට ධ්‍යාන සම්මා දිට්ඨි කියනවා. මේ සම්මා දිට්ඨියත් අබුද්ධෝත්පාද කාලවල තියෙනවා.

අපි බලාපොරොත්තු වෙන යහපත් ජීවිතය අවසානයේ නිවනට යොමු වෙන්න ඕන. එහෙම නම් නිවන් දකින අරි අටඟි මගට අයිති සම්මා දිට්ඨිය බුදු සසුනෙන් බැහැර, වෙන තැනක නැති බව පැහැදිලියි. මජ්ජිම නිකායේ 3 වන කාණ්ඩයේ 514 පිටුවේ සච්ච විභංග සූත්‍රයේ ''දුක්ඛේ ඤාණං, දුක්ඛ සමුදයේ ඤාණං, දුක්ඛ නිරෝධේ ඤාණං, දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදාය ඤාණං, අයං වුච්චතාවුසෝ සම්මා දිට්ඨි ....'' කියල තියෙනවා. ඒ සිවු අරිසස් දකින ඤාණ සම්මා දිට්ඨියට පත් වුනොත්, ඒ යහපත් දිවිය නිවනින් කෙළවර වෙනවා.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**ඩබ්. ඒ. තිළිණවතී**
**විශ්‍රාමික මහජන බැංකු නිලධාරිනී**
**කඩවත**

# සිවු පසය....

**චීවර පිණ්ඩපාතය සෙනසුනද යනා**
**ලෙඩකට බෙහෙත කියනා සිවු පසය කිනා**
**මැරෙනා තුරා පවතන්නට කයද දැනා**
**දිවි ඇති තුරා කෙනෙකුට එය අවැසි වෙනා**

**රස ගුණ ලබා රුව හැඩ කර ගන්න නොවේ**
**කය ඔප් නංවනා බහු රූ පිළිද නොවේ**
**සෙවණක් මිසක මහ මන්දිර අවැසි නොවේ**
**සුව විඳ විඳා ලොව ජීවත් වන්න නොවේ**

**පිළිවෙත් දරා ගෙන බුදු සඟ මග යන්න**
**දුරු කර ඇල්ම සහ ලොබ දිවි පවතන්න**
**ලද සිවු පසය නුවණින් සිහි කරමින්න**
**පරිහරණය කරති බුදු සව් උතුමන්න**

**රසයට ගිජුව බඩ පුරවා නොම ගන්නේ**
**කුස ගිනි නිවා කැරකිලි ගති දුර ලන්නේ**
**පිළිවෙත් පුරන්නට වීරිය ලැබ ගන්නේ**
**ලැබෙනා අහර පමණට දැන වළඳන්නේ**

**අවු වැසි සීත සමනය කර විළිද වසයි**
**විඳිනා මැසි මදුරු පීඩාවන්ද නසයි**
**ගෝනුසු දළඹු නෙක දුක් පහසින් වළකයි**
**රෙදිපිළිවලින් ලැබ ගන්නා ඵලය එයයි**

**අවු වැසි පිනි සුළං පීඩා වළකන්න**
**නෙක විද සතුන්ගෙන් හිරි හැර නොම වෙන්න**
**ඉඩ කඩ ඇතොත් සිවු ඉරියවු පවතන්න**
**මේ උපකාරයයි සෙනසුනකින් ගන්න**

**මස් ලේ කයට රෝ දුක් උරුමය වේය**
**පිළිවෙත් පුරන්නට එය බාධක වේය**
**ගව මූ වලින් සැදි බෙහෙතත් නිසි වේය**
**පිළිකුල් නොවී වළඳන්නට හැකි වේය**

පබැඳුම: **ශිරෝමි අත්තනායක - කිරින්ද**

අභයරතනාලංකාරය - 39

# හිස හත් කඩකට පැළීම සම්බන්ධයෙන් සත්‍ය අත්දැකීමක්....



(පසුගිය කලාපයෙන් - මැරෙන බහුතරය සතර අපාගත වීම සම්බන්ධයෙන් ලැබූ තවත් අත්දැකීම්....)

- වහරක අභයරතනාලංකාර හිමි

ලොවිතුරා බුදුන් වහන්සේ විසින් යම් කිසි කෙනෙක්ගෙන් තුන් වතාවක්ම ප්‍රශ්නයක් අහන කොටත්, දනගෙන හිතාමතාම ඒකට උත්තර නොදී මග හරිනව නම්, ඒ පුද්ගලයගෙ හිස හත් කඩකට පැළීම ධර්මතාවයෙන්ම සිද්ධ වෙන බවත්, ඒ සම්බන්ධයෙන් එදා බුදුන් වහන්සේ වැඩ ඉන්න කාලෙ වෙන්න ගිය සිද්ධියකුත් පසුගිය 38 වන කලාපයේ ''දස දිසා බන්ධන බුද්ධාරක්‍ෂාව ගැන අමතර පැහැදිලි කිරීම්'' නම් ලිපිය යටතේ ඉදිරිපත් කළා. විශේෂයෙන් බුදුන් වහන්සේ නමක් අමතරව වෙහෙසට පත් කිරීමේ පාපය තමයි ඒ වගේ අවස්ථාවකදි බලපාන්නෙ. ඒ වගේම ඒ සිද්ධිය 100% ක් ඒ ආකාරයෙන්ම නොවුනත්, සාසන ගුණයට විරුද්ධ වුනාමත් ඒ වගේ දෙයක් සිද්ධ වෙන්න පුළුවන් බවට අභයරතනාලංකාර හිමියන් ලබපු අත්දැකීමක් තමයි දැන් මේ ඉදිරිපත් කරන්නෙ. මේ තමයි උන් වහන්සේට අත් දකින්න ලැබිච්ච ඒ සිදුවීම.

හිස හත් කඩකට පැළෙනවයි කියන මේ කතාව බොරුවක් නෙවෙයි. නමුත් අද කාලයේ නම් ඒක මහ පුදුමයක්. කොහොමද එහෙම වෙන්නෙ කියල හුඟ දෙනෙක් ඒ වගේ කතා විස්වාස කරන්නෙ නෑ. කොහොම හරි ඒකට සාක්‍ෂියක් මටත් අත් දකින්න ලැබුණා. හැබැයි මේ කතාව නිකං ලොකුකමට කියන එකක් නෙවෙයි. මෙහෙම දේවල් අදටත් ලෝකයේ සිද්ධ වෙන්න පුළුවන්, ඒ වගේ දේවල් බොරු නෙවෙයි කියල ධර්මානුකූලව පෙන්වන්න තමයි මේ අත්දැකීම මේ විදියට ඉදිරිපත් කරන්නෙ. මේ සිද්ධිය වෙන කොට මම මහණ වෙලත් නෑ. ඒ කාලෙ මම එක්තරා ප්‍රදේශයක සාසනික කටයුතු කරගෙන පින්වත් පිරිසක් එක්ක හිටපු කාලයක්. මේ කියන්නෙ අදින් අවුරුදු 20 කටත් එහා සිද්ධියක්. ඒ කාලෙ මම ඒ සාසනික කටයුතු කර ගෙන යන්න පහසු වෙන්න ''අරිය චින්තාශ්‍රම දීප ව්‍යාප්ත සත් පුරුෂ සංවිධානය'' කියල පිංවත් පිරිසගෙන් සෑදුම්ලත් පොඩි සමිතියක් හදාගෙන තිබුණා. ඒ හරහා තමයි ලංකාවෙ විසිරිලා හිටපු හේතු වාසනා තියෙන බොහොමයක් පිංවත් පිරිස් අතරට මේ දහම් කරුණු ගෙනිච්චෙ.

ඉතින් ඔය අතරෙ අපිත් එක්ක එකට වැඩ කරපු එක්තරා පුද්ගලයෙක් හිටියා. හැබැයි මේ පුද්ගලය එක්තරා විදියකින් ධර්මය පිළිබඳ විවිධ හිතුවක්කාර අදහස් ප්‍රකාශ කරන කෙනෙක්. මම ඒ දවස්වල සතියට දවස් 2 ක් විතර තමයි ගෙදර යන්නෙ. ඒ කියන්නෙ අනික් දවස්වලට මේ ස්ථානයේ නැවතිලා සාසනික කටයුතු කරල, ඒ අතරෙදි ගෙදර ගිහින් දවස් 2 ක් විතර ඉඳල නැවතත් එනවා. ඒ විදියට මම ගෙදර ගියපු දවසක එතැනට යන එන තවත් උපාසක මහත්තයෙක්, මේ පුද්ගලයගෙන් ධර්මය සම්බන්ධයෙන් යම් යම් ප්‍රශ්න අහන කොට, ඔහු විවිධ ධර්ම කරුණු දාල විවිධ මත ප්‍රකාශ කරල තිබුණා. ඔහු ඒ විදියට විවිධ හිතුවක්කාර අදහස් දෙන කෙනෙක්. මේ වෙලාවෙදි මේ උපාසක මහත්තය ඔහුගෙන් එක්තරා ප්‍රශ්නයක් ඇහුවා. ඒ තමයි රහතන් වහන්සේලා කියන්නෙ මොන වගේ අයද කියල. ඒක මම පෙන්වන්නම් කියල මේ පුද්ගලය මොකද කළේ, නාල කාල එහෙම හොඳට පිරිසිදු වෙලා, හොඳ සුදු ඇඳුමක් එහෙම ඇඳගෙන, අනික් සියලු වැඩ කටයුතු පැත්තකට දාල එරමිණිය ගොතා ගෙන වාඩි වුණා. හැබැයි එක්තරා අමනුස්ස බැල්මකුත් එක්ක තමයි ඔහු සම්බන්ධ වෙලා ක්‍රියාත්මක වුණේ. නමුත් ඒ කාරණය ඔහු දැනගෙන හිටියෙ නෑ.

ඊළඟට මේ පුද්ගලය ගල් ගැහිල වගේ නිශ්චලව හිටියා. කිසිම කතා බහක් නෑ, ක්‍රියාකාරීත්වයක් නෑ. දැන් මේ පුද්ගලය රහතන් වහන්සේ නමක් හැටියට පෙන්වමින් රහත් වෙච්ච හැටියට රඟ පානවා. ඊට පස්සෙ කවුරු හරි ප්‍රශ්නයක් ඇහුවොත්, ඔය සියල්ල අනිච්චයි කියල නිහඬ වෙනවා. දැන් ඉතින් කෙනෙක් ප්‍රශ්නයක් අහනවා. ඔබ රහතන් වහන්සේ නමක්ද? එතකොට, ඔය වචනෙත් අනිච්චයි කියනව මිසක් උත්තරයක් දෙන්නෙ නෑ. ඔබ මොකද ඔහොම ඉඳගෙන ඉන්නෙ? මොනවද ඔය කරන්නෙ? දැන් මේ පුද්ගලය ඒ ප්‍රශ්නෙටත්, ඔය කතාවත් අනිච්චයි කියනව මිසක් උත්තරයක් දෙන්නෙ නෑ. අහන මොනම දේකටවත් උත්තර දෙන්නෙ නෑ. මිනිස්සු රවට්ටන්නෙ නැතිව ඇත්ත කියන්නකො ඔබ කවුද, ඔබ එහෙම තත්ත්වෙට පත් වෙලාද ඉන්නෙ කියල ඇහුවම, ඔය වැඩක් නැති කතා අනිච්චයිනෙ කියනව මිසක් උත්තර දෙන්නෙ නෑ.

ඉතින් අනික් පිරිසටත් මේක හරි වදයක් වුණා. එහෙම රඟපාල මේ පුද්ගලය පුළුවන් තරම් යම් කිසි ගුණයක් හඟවන්න උත්සාහ කරනවා. දැන් ඉතින් අට පිරිකරක් එහෙම ලෑස්ති කර ගන්න කියල එහෙමත් කියනවා. හැබැයි පුදුම වැඩේ කියන්නෙ, එරමිණිය ගොතා ගෙන පැය ගණනාවක්ම හෙල්ලෙන්නෙවත් නැතිව හොඳ ඉරියව්වකින් ඉන්නවා. හරියටම කන බොන වෙලාව ආවම, අර සුදු ඇඳුම පිටින්ම පිණ්ඩපාතෙ යනව වගේ පාර තොටේ යනවා. මොකද අපි දන්න කියන කඩවල් තමයි ඒ පැත්තෙ තිබුණෙ. ඉතින් ඒ අයත් අපි ගැන දන්නවා. ඒ නිසා මේ පුද්ගලයගෙත් මොනව හරි විශේෂ දෙයක් ඇති කියල හිතල ඒ අය දානෙත් හදල පිළිගන්වනවා. හරියට සිල් ගත්තු කෙනෙක් වගේ තමයි ඉන්නෙ. ඉතින් ඒ දානෙත් අරගෙන කිසිම සද්දයක් බද්දයක්, කතා බහක් නැතිව බිම බලාගෙන නැවතත් එනවා. ඇවිත් අර විදියටම ඉඳ ගන්නවා.

දැන් ඉතින් මම ගෙදර ගිහින් එන කොටත් මේ පුද්ගලය ඒ විදියටම දවස් 1 1/2 ක් විතර ඉඳගෙන ඉන්නවා. ඊ නින්දකුත් නෑ. මහ පුදුම ඉඳීමක්.

ඉතින් මම ආවට පස්සෙ එතන ඉන්න පිරිස කිව්වා, අහවලාට මොකද දන්නෙ නෑ වෙලා තියෙන්නෙ, මෙයා රහත් වෙලා කියන්නෙ, මෙන්න මෙහෙම සිද්ධියක් කියල. නමුත් ඉතින් මොනව කිව්වත් මේ පුද්ගලයට අහල තේරුම් කර ගන්න බෑ. මොනව හරි ඇහුවම අර උත්තරයම තමයි දෙන්නෙ. ඉතින් මමත් ඔහුට මෙහෙම කිව්වා. ''ඔබ යමක් සත්‍ය වශයෙන්ම යථාර්ථයෙන් දැක්ක නම්, මිනිස්සු රවට්ටන්නෙ නැතිව ඇත්ත කියන්න. ඇත්ත වශයෙන්ම ඔබ මග ඵල අවබෝධයක් ලැබුවද ? ලැබුව නම් අනික් පිරිසටත් යහපතක් කර ගන්න ඇත්ත කියන්න.'' ''ඒක ප්‍රඥාවට වැටහෙනවා'' අන්තිමට ඕක තමයි දුන්න උත්තරය. මම එක දිගට පෙරත්ත කරල අහල තමයි ඒකත් කිව්වෙ. ඊළඟට මම කිව්වා, රහතන් වහන්සේ නමක් නම් ගිහිව ඉන්න බෑ, ඒකාන්තයෙන්ම පැවිදි වෙන්න ඕන කියල. ''ඒක ප්‍රඥාවට වැටහෙනවා.'' ඔය උත්තරය ඇරෙන්න වෙන උත්තරයක් දෙන්නෙ නෑ. දැන් ඉතින් මට කරන්න දේකුත් නෑ, එක පැත්තකින් මිනිස්සුත් රැවටිලා. හැබැයි මට පැහැදිලිවම පේනවා, මේ මනුස්සය කියන වචන එකක්වත් ගලපන්න බෑ කියල. ඉතින් ඔය ස්ථානයේ ධාතූන් වහන්සේලා වැඩ ඉන්න කරඬුවකුත් තැන්පත් කරල තිබුණා. ඒ නිසා මම කරඬුව ළඟට ගිහින් වැඳල අධිෂ්ඨාන කරල කිව්වා, බුද්ධ සාසනයේ සත්‍යතාවයෙන් මේක සත්‍යයක් නම් මේ පුද්ගලය පෙන්නුම් කරන දේ සම්බන්ධයෙන් සත්‍යයම ප්‍රකාශ වේවා, අසත්‍යයක් නම් සත්‍යය තුළින්ම ප්‍රතිඵල විද්‍යාමාන වේවා කියල. එහෙම අධිෂ්ඨාන කරල, මම අනිත් පිරිසත් එක්ක ඒ ස්ථානයේ තියෙන වෙනත් තැනකට කන බොන, තේ බොන ඒවා සකස් කරන්න ගියා.

දැන් මේ පුද්ගලය ටික වෙලාවක් මෙහෙම ඉන්න කොට කකුල ඇඹරෙන්න පටන් ගත්තා, මස් පිඬු පෙරලෙන්න ගත්තා. ඒත් එක්කම කකුල අනිච්චයි අනිච්චයි කියල අර එරමිණිය ගොතා ගෙන හිටපු එක කකුලක් දික් කළා. ඊළඟට අනිත් කකුලත් අනිච්චයි අනිච්චයි කියල දික් කළා. ඊට පස්සෙ අතපය සියල්ලම ඇඹරෙන්න පටන් ගත්තා. දැන් මුළු ඇඟම අනිච්චයි අනිච්චයි කියල කෑ ගහනවා, ඉන්න බෑ කියනවා. අන්තිමට මේ පුද්ගලය නැගිට්ටා. නැගිටල ඉන්නත් බෑ, මුළු ඇඟම ඇඹරෙනවා. දැන් මේ මනුස්සයට කර කියා ගන්න දෙයක් නෑ. එරමිණිය ගොතාගෙන ඉන්නත් බෑ, මුළු ඇඟම වේදනාවෙන් පීඩිත වෙවී කැරකෙන්න පටන් ගත්තා. ඊට පස්සෙ මෙහෙම දඟලන කොට මම කිව්වා, පිස්සු විකාර කරන්නෙ නැතිව මෙහෙ එනව මනුස්සයෝ කියල. ඒ පාර මේ පුද්ගලය ඔළුව කහ කහ සද්ද නැතිව ආවා. මට මොකක් වෙලාද කියල මම දන්නෙත් නෑ කිව්වා.

දැන් මේ පුද්ගලයගෙ මේ දෘෂ්ටියට ගැලපෙන අමනුස්සයෙක් තමයි වැහිල හිටියෙ. ඒ නිසා මේ දෙන්නම එකතු වෙලා රඟපෑමක් කළේ. ඒ කියන්නෙ ගතියට ගතිය ගැලපෙන නිසා, දෙන්නම එකතු වෙලා ඒ දෘෂ්ටියට ගැලපෙන විදියට රඟපෑම කළා. ඒ අමනුස්සයගෙ ශක්තියත් අරගෙන තමයි මේ පුද්ගලය බලවත් වෙලා අර විදියට ගල් ගැහිල වගේ හිටියෙ. ඒ කියන්නෙ මුලදී කිසිම වෙහෙස මහන්සියක් නෑ, කිසි ගානක් නෑ, ඕන තරම් වෙලාවක් ඒ ඉරියව්වෙන් ඉන්න පුළුවන්. නමුත් අර විදියට අධිෂ්ඨානයක් කළාට පස්සෙ එහෙම ඉන්න බැරිව ගියා. ඊට පස්සෙ ඔළුව හරියට කැක්කුමයි කිව්වා. මම මොකද කියල බලන කොට, පොල් කට්ටක් උඩට ඉස්සුව වගේ ඉස් මුදුනින් ඉස්සිලා තිබුණා. ඒ පුද්ගලය කොණ්ඩෙ කොට වෙන්න කට්ටටම කපල හිටියෙ. ඉතින් ඔළුව කැක්කුමයි කිව්වම මමත් හොඳට මතු පිටින් පරීක්ෂා කරල බැලුවා. ඒක දැකල මට පුදුම හිතුණා. මේ පුද්ගලයගෙ හරියටම ඉස් මුදුනෙ ඉඳල හත් පැත්තකට අඟල් දෙකේ විතර දිගට රතු ඉරි ගිහින් තිබුණා. එයින් ඉරි 4 ක් පැලිල, අනික් 3ත් පැලෙන්න තරම් ඉරි ගිහින්. පස්සෙ මම එතන හිටපු පිරිසගෙන් ඇහුවා, ඔයගොල්ලො හිස හත් කඩකට පැලෙන කතාව අහල තියෙනව මිසක් දැකල නෑ නේද කියල. පොඩ්ඩක් එන්න පෙන්වන්න කියල අර ඉරි 7 පෙන්නුවා. ඒ ඔක්කොම පිරිස පුදුම වුණා. ඉරි හතෙන් 4 ක්ම පුපුරල. අනිත් තුනේ රතු පාට ඉරි ගිහින් හොඳට පැහැදිලිවම පේන්න තිබුණා. ඉතින් මම කිව්වා, බලන්න මේ හිස හත් කඩකට පැළෙනවයි කියන කතාව බොරුවක් නෙවෙයිනෙ, මේ ලෝකෙ ඒ වගේ දේවල් සිද්ධ වෙලා තියෙනවනෙ කියල.

ඉතින් මේ පුද්ගලය තව පොඩ්ඩක් වෙලා අර රඟපෑම කරගෙන හිටිය නම් හිස හත් කඩකට පැළෙන්න පුළුවන්. අර අමනුස්සයට දරන්න බැරිව පැනල ගිය නිසා තමයි මේ පුද්ගලය බේරුණේ. හිටිය නම් එහෙම, ඒක ඒ අමනුස්සයටත් බලපානවා. ඒ කියන්නෙ අමනුස්සයගෙත් හිස හත් කඩකට පැළෙන්න පුළුවන්. එහෙම නැත්නම් සමහර විට ඔත්පල වෙන්න පුළුවන්. සමහර අමනුස්සයො, මනුස්සයින්ගෙ ඇඟේ ඉඳෙද්දිම ඔත්පල වුනොත් එහෙම, ඒ මනුස්සයත් එක්ක දෙන්නම වැනසෙන්න පුළුවන්. දැන් ඉතින් මේ මනුස්සයගෙ ඔළුවෙ ඉරි ගිහින් තිබුණ නිසා, එතන හිටපු කෙනෙක් මං ඕකට බේතක් දාන්නම් කියල, දෙහි කැල්ලක් ගෙනත් ඇඹුල් ටික ඔළුවට වැක්කෙරුවා. ඊට පස්සෙ දනවෝ දනවෝ කියල කෑ ගහල, ටික වෙලාවක් ගිහින් එහෙම්ම ඒ තත්ත්වය මග හැරිල ගියා. ඉතින් මම කිව්වා, මීට පස්සෙ පිස්සු වැඩ කරන්නෙ නැතිව සිහි බුද්ධියෙන් වැඩ කරන්න කියල. අනේ මට මොනව වුනාද කියල මම දන්නෙත් නෑ කියල මේ පුද්ගලය කියනවා. හැබැයි මේ පුද්ගලය එහෙම කිව්වට, ඔහුගෙ බොහොම තදින් දෘෂ්ටියක් තිබුණා, ඔහු තමයි ඔක්කොම දන්නෙ, ඔය පොත්වල තියෙන ඒවා බොරු කියල. ඒ වගේම ඒ පුද්ගලය ඒ දෘෂ්ටිය පිරිස ඉදිරියේ කිහිප අවස්ථාවකම ප්‍රකාශ කරලත් තිබුණා.

ඔය පොතුත් අනිච්චයිනෙ කියල මේ පුද්ගලය නිකං ඉන්න ගමනුත් කියනවා. කවුරු හරි පිරිතක් පාඩම් කරන්න ගියොත්, ඔය පිරිතත් අනිච්චයිනෙ, මොකටද පාඩම් කරල.... ඔය වගේ කතා කියනවා. ත්‍රිපිටක පොත් වටිනව කියල කිව්වොත්, ඕවත් අනිච්චයිනෙ කියල මොනවද වටින්නෙ, වටින මොනවත් නෑ කියනවා. කවුරුහරි කිව්වොත් උඹට පිස්සු කියල, ඔය වචනයත් අනිච්චයිනෙ වැඩක් නෑ කියනවා. ඉතින් කතා කරන්න කිසිම දෙයක් නෑ. මොන විදියකින්වත් වචනයක් ගන්න බෑ. මනුස්සයට කරන්න කියන්න දේකුත් නෑ. මනුස්සයගෙ කතා ඇහුවම අපිට කියන්න දේකුත් නෑ. නමුත් ඔය විදියට බුදුන් වහන්සේ දේශනා කරපු එක වචනයක්වත් ලෝකෙට එන්නෙ කොහොමද කියල ඇහුවම, ඒකත් අනිච්චයි කියනවා. අනිච්ච නැති එකක්වත් තියෙනවද, ඒවායින් වැඩක් තියෙනවද කියල මනුස්සය මග හරිනවා. දැන් ඉතින් අහන්න කරන්න දේකුත් නෑ. ඒක තමයි ඒ පුද්ගලයගෙ දෘෂ්ටිය. එතකොට මේ සිද්ධියෙන් පේනවා, ලොව්තුරා බුදුන් වහන්සේ ඉදිරියේ ඒ වගේ කෙනෙක්ගෙ හිස හත් කඩකට පැළෙනව කියන එක පුදුම වෙන්න දෙයක් නෙවෙයිනෙ කියල.

දැන් මේ කාරණයට උදාහරණයක් චන්ද්‍ර පිරිතේ සහ සූර්ය පිරිතේ තියෙනවා. එතනදී රාහු අසුරය, බුදුන් සරණ ගිය චන්ද්‍ර - සූර්ය දේවතාවො ග්‍රහණය කර ගෙන බය කරන කොට, බුදුන් වහන්සේගෙ වචනය අහල ඒ ග්‍රහණය අත හැරල වේපචිත්ති කියන අසුර නායකයා ළඟට බයේ පැනල ගියපු කතාවක් තියෙනවා.

සත්තධා මේ ඵලේ මුද්ධා<br>
ජීවන්තෝ න සුඛං ලභේ<br>
බුද්ධ ගාථාභි ගීතොම්හී<br>
නෝ චේ මුඤ්චෙයිය<br>
සූරියන්ති / චන්දිමන්ති

සත්තධා මේ ඵලේ මුද්ධා කියන්නෙ, හිස හත් කඩකට පැලෙනවයි කියන එක. ජීවන්තෝ න සුඛං ලභේ ☞

# සෙනසුරු ඒරාෂ්ඨකය සහ බලු කපුටු දානය දහම් ඇසින්...

නැකත් සාස්ත්‍ර, ජන්ම පත්‍ර ආදී කටයුතු ගැන සුළුවෙන් හෝ විස්වාසයක් තියෙන කෙනෙක්, සෙනසුරු ඒරාෂ්ඨකය කියන නම අහන කොටත් යම් කිසි තිගැස්මක් ඇතිවීම සාමාන්‍ය දෙයක්. ඒ සම්බන්ධයෙන් ධර්මානුකූල හෝ ශාස්ත්‍රානුකූල පැත්ත දන්නෙ නැති වුනත්, බොහෝ දෙනෙක් ලබල තියෙන අත්දැකීම් අනුව ඒ ගැන යම් විස්වාසයක් තියෙනවා. ඒ නිසා සෙනසුරු ඒරාෂ්ටකය ලබල තියෙන කාලයක, කෙනෙක් ඒ සඳහා නොකරන ප්‍රතිකර්මයක් නෑ. ඒ වගේම සමාජයේ ඉන්න තවත් පිරිසක් මේවා මිථ්‍යා දෘෂ්ටික අන්ධ භක්තියෙන් කරන වැඩ කියල සලකල, ඒවගේ දේවල් ප්‍රතික්ෂේප කරන්නත් පුරුදු වෙලා ඉන්නවා. නමුත් අදටත් විශේෂයෙන් ලාංකීය ජන සමාජය ගත්තම, බොහෝ පිරිසක් මේ සම්බන්ධයෙන් යම් කිසි විස්වාසයක් උනන්දුවක් දක්වන බව පෙනී යනවා. ඉතින් මේ කාරණය හේතු ඵල දහමට අනුව කෙරෙන විග්‍රහයක් සමගින්, ඊට ප්‍රතිකර්මය විදියට බහුලවම සිද්ධ කරන බලු කපුටු දානයක් නිවැරදිව දෙන ආකාරයත් තමයි මේ විග්‍රහයෙන් ඉදිරිපත් කරන්නෙ. ඒ නිසා කර්ම ඵල අදහන අයගෙ ඒ විස්වාසය වැඩි දියුණු වෙන්නත්, ඒ සම්බන්ධයෙන් යම් සැකයක් තියෙන අයගෙ ඒ සැකය යම් පමණකට හෝ දුරු වෙන්නත් මේ විග්‍රහය ඉවහල් වේවි.

ඉස්සෙල්ලම මේ සෙනසුරු ඒරාෂ්ඨකය කියන්නෙ මොකක්ද කියල දැන ගැනීම වැදගත්. මනුස්සයො මේ ලෝකයේ ජීවත් වෙන කොට විවිධාකාරයේ පින් අතේ වැඩ වගේම පවු වැඩත් කරනවා. ඒ සියල්ලම කරන්නෙ මේ ලෝකයේ හොඳින් හෝ නරකින් ජීවත් වෙන්න. බුදු දහමෙ පෙන්වන හේතු ඵල දහම් රටාව අනුව ඒ කරපු පිං හෝ පවු ඵල දෙන එක්තරා ක්‍රමයක් තියෙනවා. මනුස්සයො ජීවත් වෙන්න හොඳ හෝ නරක වැඩ කරන්නෙ, යම් යම් දේවල් ග්‍රහණය කර ගෙන. එතකොට ඊට අනුව එන පිං පවු ඵල දෙන්නත් යම් කිසි භෞතික වස්තුවල ආධාරයක් තියෙන්න ඕන. ඒ විදියට **ග්‍රහණය කරගත්තු දේවල් ඵල දෙන්න**



**හැදිච්ච භෞතික වස්තු තමයි ග්‍රහයො කියන්නෙ.** එහෙම නැතිව මේ ග්‍රහ වස්තු නිකං බිහි වුනේ නෑ. සියල්ල පටිච්ච සමුප්පන්නයි, සංඛතයි කියන්නෙත් ඒකයි.

එතකොට සෙනසුරු කියන්නෙ ග්‍රහ මණ්ඩලයේ ග්‍රහයො නව දෙනාගෙන් එක්කෙනෙක්. **හෙණයට හුරු වුනා කියන එක තමයි හෙණහුරා හෙවත් සෙනසුරු කියන්නෙ.** අහවලාට, අහවල් දේට හෙණහුරා වැහිල කියල අදත් කතාවට කියන්නෙ මේ හේතුව නිසා. ඒ කියන්නෙ මනුස්සයො වශයෙන් ජීවත් වෙද්දි සිත, කය, වචනය හෙණයට හෙවත් විනාසයට හුරු කළොත්, ඒ කර්මයට විපාකය තමයි කවද හරි සෙනසුරු අපලය විදියට එන්නෙ. ඒ විපාකය ඵල දෙන්න බිහි වෙලා තියෙන භෞතික වස්තුව තමයි සෙනසුරු ග්‍රහයා. ඒක පාප විපාකය මුල් කර ගෙන හට ගත්තු එකක්. සසර ගමනෙදි කාය සංඛාර, වචී සංඛාර, මනෝ සංඛාර කියන මේවා ලෝක සත්වයාට හෝ තමන්ට හෝ විනාසයක් වෙන විදියට සිද්ධ කළොත්, ඒ පාප කර්මයේ විපාකය තමයි කවද හරි හෙණයක් වගේ ක්‍රියාත්මක වෙන්නෙ. ඒක තමයි සෙනසුරු අපලය කියල අද ප්‍රසිද්ධියේ හඳුන්වන්නෙ.

සෙනසුරුගෙ වාහනය කපුට කියල කිව්වමත්, ඒ සෙනසුරුගෙ ස්වභාවය තමයි කපුටගෙන් පෙන්වන්නෙ. සෙනසුරු කියන්නෙ ප්‍රධාන ගති ලක්ෂණයක්. ඒ හුරු කරපු ගති ලක්ෂණය තමයි කපුටට තියෙන්නෙත්. කපුට වාහනයක් කරගත්තයි කියන්නෙ ඒ ගති ස්වභාවය පෙන්වන සංකේතය. කපුට යන තැන හොඳක් කරන්නෙ නෑ. යන යන තැන පහර පහර තමයි යන්නෙ. ජරාව ගා ගත්තු ගමන්මයි ඉන්නෙ. කන තරමක් කන්නෙත් ජරාව. ඒක වාහනයක් කර ගත්තයි කියන්නෙ, ඒ ගති ස්වභාවයෙන් ඉන්නවයි කියන එක.

*අභයරත්නාලංකාරය - 13 පිටුවෙන්....*

කියන්නෙ, ජීවත් වුනත් සුවයක් නම් ලැබෙන්නෙ නෑ කියන එක. මේ වගේ අවස්ථාවක හිස හත් කඩකට පැළුනොත් මනුස්සයෙක් නම් මැරෙනවා. දේව, අසුර, අමනුස්ස ආදීන් නම්, හිස හත් කඩකට පැළිල මැරෙන්නෙ නැතිව ජීවත් වුනත් මහ දුක් විඳින්න වෙනවා. මනුස්සයෙකුට මහ තුවාලයක්, වණයක්, පිළිකාවක් වගේ රෝගයක් හැදුනොත්, මැරෙන්නෙ නැතිව කාලයක් යන කල් දුක් විඳිනව වගේ තමයි, හිස හත් කඩකට පැළිලත් මැරෙන්නෙ නැතිව දුක් විඳින්න වෙනවා. ඉතින් මේ අවස්ථාවෙදි, බුද්ධ වචනයට බය වෙලා තමයි රාහු අසුරය පැනල ගියේ. මොකද ඒ වෙලාවෙදි බුදුන් වහන්සේ, ඒ චන්ද්‍ර - සූර්ය දේවතාවො ග්‍රහණයෙන් අත් හරින්න කියල රාහු අසුරයට අණ කරන කොටත්, ඒ බුද්ධ වචනය අහන්නෙ නැතිව තවදුරටත් ග්‍රහණය කර ගෙන අල්ල ගෙන හිටිය නම්, තමන්ගෙ හිස හත් කඩකට පැලෙනව කියන කාරණයත් රාහු අසුරය දැනගෙන හිටියා. ඒකට බයේ තමයි ලොමු ඩැහැ ගැන්විලා පැනල දිව්ව කියන්නෙ. ඒ කාරණය තමයි මේ ගාථාවෙන් කියවෙන්නෙ. ඉතින් ඒ සම්බන්ධයෙන් මේ කාලෙ වෙච්ච සිද්ධියක් තමයි කලින් ඉදිරිපත් කළේ.

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

ඊළඟට මේ සෙනසුරු අපලය ගත්තම ලග්න ඒරාෂ්ටකය, ජන්ම ඒරාෂ්ටකය, අෂ්ටම ඒරාෂ්ටකය කියල අවස්ථා 3 ක් තියෙනවා. **මේ ග්‍රහ වළල්ලෙ තියෙන ග්‍රහයින් නව දෙනාගෙන් සෙනසුරු ඇරුනම ඉතිරි 8 දෙනාගෙම තියෙන්නා වූ බල ශක්තිය, එක් අවස්ථාවකදී සෙනසුරු ග්‍රහයට අයිති වෙනවයි කියන එක තමයි ඒරාෂ්ටකයක් කියන්නෙ.** ඒ කියන්නෙ රවි, (සඳු) චන්ද්‍ර, කුජ, බුධ, ගුරු, සිකුරු, රාහු, කේතු කියන ග්‍රහයින් 8 දෙනාගෙම බලය සෙනසුරුට අයිති වෙන වෙලාවක් එනවා. එතකොට ඒක මහ බලවත්. සෙනසුරු ලග්නයට එන කොට තමයි ලග්න ඒරාෂ්ටකය කියන්නෙ. **ලග්න කියන්නෙ පෙර අත්බැව්වල ලැගපු තැන.** ඒක තමයි ජන්ම පත්‍රයේ පළවෙනි කොටුවෙන් පෙන්වන්නෙ. ඒ කියන්නෙ කෙනෙක් උපදින වෙලාවෙදි ක්ෂිතිජයේ නැගෙනහිරින් ඒ ඒ ලග්නවලට වෙන් වෙච්ච තාරකා රාශි මතුවෙනවා. අන්න ඒ මතුවෙන තාරකා රාශිවලින් ප්‍රධාන වෙච්ච එක තමයි ඒ පුද්ගලයගෙ ලග්නය වෙන්නෙ. උපදින වෙලාවෙදි මේ රාශි 12 න් ක්ෂිතිජයේ නැගෙනහිරින් මතු වෙන්නා වූ යම් රාශියක් ඇත්ද ඒක තමයි ඒ පුද්ගලයගෙ ලග්නය වෙන්නෙ.

ලග්නෙට අයිති පළවෙනි කොටුව කියන්නෙ, සෙනසුරුට ඉතිරි ග්‍රහයින් 8 දෙනාගෙම බලය එකතු කරන්න පුළුවන් තැනක්. යම් අවස්ථාවකදී සෙනසුරු, ලග්නයට (පළමු කොටුවට) ආව නම් ඒ ලග්නය සෙනසුරු විසින් අල්ල ගත්ත වෙනවා. කැරකිලා රවුමක් යන කොට සිද්ධ වෙන දෙයක් තමයි මේ කියන්නෙ. අවුරුදු තිස් ගණනකට සැරයක් ඒ විදියට රාශි 12 වටා සෙනසුරු එක වටයක් කැරකිලා යනවා. එහෙම රවුමට යන කොට ඒ පුද්ගලයා උපන් රාශියට සෙනසුරු ආපු වෙලාවට ලග්න ඒරාෂ්ටකය එනවා. මේ ලග්න ඒරාෂ්ටකය ගත්තම දළ වශයෙන් අවුරුදු 2 1/2 ක් ප්‍රබලව තියෙනවා. ඒ කියන්නෙ එක රාශියක් තුළ සෙනසුරු ඉන්න කාලය. හැබැයි හරියටම බැලුවොත් ඒ කාලය ඊට පොඩ්ඩක් එහෙ මෙහෙ වෙන්නත් පුළුවන්.

ඉතින් ලොකු පොඩි භේදයකින් තොරව උපන් හැම දෙනාගෙම මේ චක්‍රය කැරකෙන කොට, ජීවිත කාලයේ කවද හරි අවුරුදු තිස් ගණනකට සැරයක් මේ වගේ අවස්ථාවක් උදා වෙනවා. ඒ කියන්නෙ අවුරුදු තිස් ගණනක් විතර යන කොට සෙනසුරු එක රවුමක් කැරකිලා එනවා. ඒ කාල සීමාව ඇතුළත හැම කෙනෙකුටම ලග්න, ජන්ම, අෂ්ටම කියන මේ ඒරාෂ්ටක තුන එන්න පුළුවන්. උපදින වෙලාවෙ සෙනසුරු 12 වැන්නෙ හිටියොත් ඊට පසුව එන්නෙ 1 වැන්නට. උපදින වෙලාවෙ සෙනසුරු 1 වැන්නෙ (ලග්නයේ) හිටිය නම් ඒ පුද්ගලයා උපදින්නෙ ලග්න ඒරාෂ්ටකයෙන්. උපදින කොට සෙනසුරු සඳුත් එක්ක හිටියොත් ජන්ම ඒරාෂ්ටකය. නැවතත් ඒ වගේ අවස්ථාවන් එන්නෙ අවුරුදු තිස් ගණනකට පස්සෙ.

එතකොට සෙනසුරු කැරකිලා රවුමක් ගිහින් තමයි ආපසු හිටපු තැනට එන්නෙ. ලග්න ඒරාෂ්ටකය ගත්තම ඒක අවුරුදු තිස් ගණනකට එක වතාවයි එන්නෙ. තවත් අවුරුදු තිස් ගණනකට පස්සෙ නැවත කැරකිලා ඒ විදියටම එනවා. යම් පුද්ගලයෙක් ඉපදෙන කොට සෙනසුරු හිටපු තැන ඉඳන් තමයි ඉස්සෙල්ලම රවුමට කැරකිලා එන්නෙ. උදාහරණ විදියට කෙනෙක් උපදින අවස්ථාවෙදි සෙනසුරු 10 කොටුවෙ හිටිය කියල හිතුවොත් ඊළඟට 11 ට ඇවිත්, 12 ට ඇවිත්, ඊළඟට තමයි ලග්නයට හෙවත් පළවෙනි කොටුවට එන්නෙ. දැන් ඒ පුද්ගලයට ලග්න ඒරාෂ්ටකය. ඒ අවස්ථාවෙදි සෙනසුරු ලග්නයට එන්න කොටු 3 ක් පහු කරන්න ඕන. ඒ කියන්නෙ ඒ ඉපදිච්ච ළමයට දළ වශයෙන් අවුරුදු 7 1/2 ක් ගියාම සෙනසුරු ලග්නයට එනවා. එතකොට සෙනසුරු ඒ ලග්නයේ ඉන්න අවුරුදු 2 1/2 ක කාලය තමයි ලග්න ඒරාෂ්ටකයේ බලවත්ම අවස්ථාව.

හැබැයි සෙනසුරු මේ විදියට ලග්නයට එන කොටත් කොටස් 3 ක් තියෙනවා. ලග්නයට පැමිණෙන්න පෙර කොටුව තමයි ආරම්භය. ඒකත් අවුරුදු 2 1/2 යි. ඊළඟට ලග්නයට සෙනසුරු ආවම තමයි ඒරාෂ්ටකයේ බලවත්ම කොටස. ඒකත් අවුරුදු 2 1/2 යි. නැවතත් ලග්නය පහු කරල ඊළඟ රාශියට (කොටුවට) යන කල් ඒරාෂ්ටකයේ අවසානය. ඒකත් අවුරුදු 2 1/2 යි. එතකොට ඒරාෂ්ටකයක් ලැබුවොත් ඒ දෙපැත්තෙ තියෙන කොටු 2 ත් අවුරුදු 2 1/2 බැගින් ඒරාෂ්ටකයේ ආරම්භයට සහ අවසානයට අහු වෙනවා. ඒ නිසා හරි විදියට බැලුවොත් ඒරාෂ්ටකයක සම්පූර්ණ කාල සීමාව දළ වශයෙන් අවුරුදු 7 1/2 ක් විතර වෙනවා. එතකොට ලග්න ඒරාෂ්ටකය ආරම්භ වෙන්නෙ චක්‍රය කැරකිලා සෙනසුරු 12 වැන්නට එනකොට. 12 වැන්න පහු කරන්න දළ වශයෙන් අවුරුදු 2 1/2 ක් විතර යනවා. ඊළඟට ලග්නයට එන කොට තමයි ලග්න ඒරාෂ්ටකයේ බලවත් කොටස. ඒකත් අවුරුදු 2 1/2 ක් විතර තියෙනවා. එහෙම ගෙවිල ගිහින් නැවතත් ඊළඟට තියෙන 2 වන කොටුවට යන කොට ඒරාෂ්ටකය දුබල වෙන පැත්ත. හැබැයි ඒරාෂ්ටකයක් සම්පූර්ණයෙන්ම ඉවර වෙන්න නම් ඒ අවසාන අවුරුදු 2 1/2 පන්නන්න ඕන. ඒ නිසා ලග්නයට අයත් දෙපැත්තෙ තියෙන රාශි 2 ත් එක්ක තමයි ලග්න ඒරාෂ්ටකයට අහු වෙන්නෙ.

ඊළඟට ජන්ම ඒරාෂ්ටකයේ බලවත්ම කොටස කියන්නෙ සෙනසුරු මේ විදියට ගමන් කරන කොට, අර කලින් වගේම සඳු (චන්ද්‍රයා) ඉන්න කොටුවට පැමිණීම. එතනදිත් කලින් වගේම සඳු ඉන්න කොටුවට ආසන්න පෙර කොටුවට සෙනසුරු එන කොට තමයි ජන්ම ඒරාෂ්ටකය ආරම්භ වෙන්නෙ. ඒක අවුරුදු 2 1/2 ක් විතර ගියාම සඳු ඉන්න කොටුවට ඇවිත් ඒ යන අවුරුදු 2 1/2 තමයි ජන්ම ඒරාෂ්ටකයේ බලවත්ම කොටස. ඒ 2 1/2 ත් ගෙවිල සෙනසුරු ඊළඟ කොටුවට ගිහින් ඒ යන අවුරුදු 2 1/2 තමයි ජන්ම ඒරාෂ්ටකය ගෙවෙන කොටස. ඒ විදියට ජන්ම ඒරාෂ්ටකයත් දළ වශයෙන් අවුරුදු 7 1/2 ක් තියෙනවා. කෙනෙක්ගෙ ජන්මය බලන්නෙ සඳු මුල් කර ගෙන. ජන්මයට සඳු තමයි සම්බන්ධ වෙන්නෙ.

ඒ වගේම කෙනෙක්ගෙ දැනට සම්මත වයස බලන්නෙ රවි හෙවත් සූර්යා මුල් කර ගෙන. මේ සඳු සහ රවි, මවයි පියයි වගේ කියල තමයි පෙන්වන්නෙ. පෝෂණය කරන මව තමයි සඳු. බල දෙන්නෙ රවි හෙවත් පියා. එතකොට සෙනසුරු මව පියා ළඟට ගියා වගේ දෙයක් තමයි මේ වෙන්නෙ. නමුත් පියා (රවි) ළඟට ගියාම මේ ඒරාෂ්ටකය අහු වෙන්නෙ නෑ. මව (සඳු) ළඟට ගියාම තමයි ඒරාෂ්ටකයට කොටු වෙන්නෙ. එතනදි තමයි ජන්ම ඒරාෂ්ටකය එන්නෙ. මොකද සෙනසුරු, සඳු (මව) ළඟට ආවම සඳුට කරන්න දෙයක් නැති තත්ත්වයක් එනවා. සෙනසුරු ඉදිරියේ සඳු දුර්වල වෙනවා. ඒ වගේම සඳු හිතට අධිපති නිසා තමයි මව් හා සමානයි කිව්වෙ. ඒ නිසා හිතට අධිපති දුර්වල තැනකදී සෙනසුරුගෙ බලයට යටත් වෙන්න සිද්ධ වෙනවා. නමුත් රවිගෙ (පියා) තේජස සෙනසුරුට වඩා වැඩියි. රවි ඉන්න කොටුවට සෙනසුරු ආවොත් රවිගෙ බලය අඩු වෙනව මිසක් යටපත් කරන්න බෑ. රවි, සඳු දෙකේ තියෙන වෙනස ඒකයි.

ඊළඟට ජන්ම පත්‍රයක 8 වෙනි කොටුවෙන් කියන්නෙ මාරක ස්ථානය. සෙනසුරු 8 වෙනි කොටුවට පැමිණීම තමයි අෂ්ටම ඒරාෂ්ටකයේ බලවත්ම කොටස කියන්නෙ. හැබැයි ඒකත් අර කලින් විස්තර කළා වගේම, 7 වෙනි කොටුවට ඇතුල් වෙන කොටම අෂ්ටම ඒරාෂ්ඨකයේ ආරම්භය සිද්ධ වෙනවා. ඒක අවුරුදු 2 1/2 ක් ගියාට පස්සෙ තමයි ඒකෙ බලවත්ම කොටස එන්නෙ. එතනින් සෙනසුරු 9 වැන්නට යන කොට ඒ

අවුරුදු 2 1/2 තමයි අෂ්ටම ඒරාෂ්ටකයේ අවසන් කොටස. හැබැයි මේ අවස්ථාවෙදි 8 වැන්නේ සිට 9 වැන්නට ආවම, 9 කියන්නෙ ජන්ම පත්‍රයක පුණ්‍ය ස්ථානය නිසා ඒ කාලෙදි අපල දෙන්නෙ නෑ. හැබැයි සෙනසුරු නිසා සුබ පල දෙන්නෙත් නෑ. ඔහේ නිකං ගෙවිල යනවා. ඒ නිසා සෙනසුරුගෙ අපල නැති කාලයක් තමයි 9 වැන්නෙ ගමන් කරන කාලය.

ඒ වගේම මේ සෙනසුරු කියන්නෙ හැම වෙලේම නරකක් මිසක් හොඳක් කරන්නෙ නැති ග්‍රහයෙක් විදිහට තමයි සලකන්නෙ. පොදුවේ ගත්තම සෙනසුරුගෙ උපරිම හොඳ කියන්නෙ නරකක් නොකර ඉඳීම. එහෙම නැතිව සෙනසුරුගෙන් යහපත් ලැබීම් කියල දෙයක් නෑ. ඒ නිසා යම් කිසි කෙනෙකුට සෙනසුරු අපලයක් තියේ නම් ඒක එල දෙනවා, නැත්නම් නිහඬවම මුකුත් නොකර ඉන්නවා. ඒ නිහඬ වීම තමයි සෙනසුරුගෙ උපරිම හොඳ කියන්නෙ. එහෙම නැතිව පිං එල දෙන ස්වභාවයක් නෑ.

හැබැයි ලෞකික කටයුතුවලදි සෙනසුරු අපලය නරකට බලපෑවට, පුණ්‍ය කටයුතුවලට ඒ බලපෑම හොඳට හිටිනවා. ඒ කියන්නෙ නරකත් හොඳට හිටිනවා. ඒ නිසා සෙනසුරු ඒරාෂ්ටක තියෙන කාලයක මහණ කරන්න කියලත් කියනවා. **මොකද සෙනසුරු දුක් කරදර දෙන කොට ප්‍රඥාව වඩන්න, සසර ස්වභාවය තේරුම් ගන්න, අනිච්චතාවය මෙනෙහි කරන්න ඒක උපනිශ්‍රයක් වෙනවා. එතකොට ඒකෙන් අත්දැකීම් ලබන්න පුළුවන්. දහම් තේරුම් ගත්ත කෙනෙක්, ලෝකයේ තියෙන දුක් ස්වභාවය නිතර නිතර අත්දකින කොට, ලෝකයට ඇලෙන බැඳෙන ගතිය ක්‍රමයෙන් අඩු වෙනවා, අසාර බව වැටහෙනවා. නමුත් සාමාන්‍ය කෙනෙකුට දුක් කරදර වැඩි වෙන කොට දහම් අවබෝධයක් නැති නිසා තව තවත් ගැටෙනවා, දුක් වෙනවා.**

එතකොට මේ ඒරාෂ්ටක තුනේ බලපෑම ගත්තම, ලග්න ඒරාෂ්ටකයෙදි උන් හිටි තැන් අහිමි වීම්, උපන් ස්ථානය දාල යන්න සිද්ධ වීම වගේ දේවල් වෙන්න පුළුවන්. ඒ වගේම ජන්ම ඒරාෂ්ටකයෙදි සඳු හිතට වද දෙනවා. යම් කිසි කෙනෙක්ගෙ ජීවිත පැවැත්ම මුල් කර ගෙන ඉහට බලපාන අවස්ථාවක්. හිතේ අමාරුකම්, නොයෙක් මානසික වද වේදනා, චිත්ත පීඩා වගේ දේවල් ඇති වෙන්න පුළුවන්. අෂ්ටම ඒරාෂ්ටකයෙදි ජීවිතය හානි වෙලා වැනසෙන්න පුළුවන්. එහෙම නැත්නම් අත පය කැඩිල, අනතුරුවලට භාජනය වෙන්න පුළුවන්. එතකොට මේ තුනෙන් දරුණුම එක තමයි අෂ්ටම ඒරාෂ්ටකය කියන්නෙ. ඒක තමයි ප්‍රධාන වශයෙන් මාරක අපල කියන්නෙ.

ඒ වගේම මේ ඒරාෂ්ටක 3 සාමාන්‍යයෙන් කාල තුනකදි තමයි එන්නෙ. නමුත් දෙකක් එකට යෙදෙන අවස්ථාත් තියෙනවා. ඒත් ලග්න ඒරාෂ්ටකය සහ අෂ්ටම ඒරාෂ්ටකය කියන දෙක එකට යෙදෙන්නෙ නෑ. නමුත් ජන්ම ඒරාෂ්ටකයෙදි දිගටම සඳු ගමන යන නිසා ඒක තවත් ඒරාෂ්ටකයක් එක්ක එකට යෙදෙන්න පුළුවන්. උදාහරණ විදියට සඳු 5 වැන්නෙ හිටියොත්, ඊට කලින් සෙනසුරු 4 ට එනකොට ජන්ම ඒරාෂ්ටකය ආරම්භ වෙනවා. සෙනසුරු 5 පහු කළාට පස්සෙ සඳුගෙ ජන්ම ඒරාෂ්ටකයේ බලවත් කොටස පහු කරනවා. 6 ට ආවට පස්සෙ ජන්ම ඒරාෂ්ටකය ගෙවීම ආරම්භ වෙනවා. ඒ සියල්ලටම අවුරුදු 7 1/2 ක් විතර යනවා. ඒත් එක්කම අෂ්ටම ඒරාෂ්ටකය ආරම්භ වෙනවා. එතකොට ජන්ම ඒරාෂ්ටකය පහුවෙනවත් එක්කම අෂ්ටම ඒරාෂ්ටකය ආරම්භ වෙනවා.



ඒ වගේම සෙනසුරු 7 ඉඳල 8 ට සහ 9 එනකොට ඊට පස්සෙ 10 තමයි සඳු ඉන්නෙ. ඒ කියන්නෙ ජන්ම ඒරාෂ්ටකයක් එනවා. ඊළඟට සෙනසුරු 11 ට යන කොට සඳුගෙ අවසන් කාලය. ඊට පස්සෙ නැවතත් සෙනසුරු 12 ට එනකොට ලග්න ඒරාෂ්ටකය පටන් ගන්නවා. එහෙම වුනොත් හරි භයානකයි. ඒ කියන්නෙ උපතින් 4 සහ 10 වැන්නෙ සඳු ඉන්න අයට. ඒ වගේ පුද්ගලයෙකුට එක දිගට වැල නොකැඩී අවුරුදු 22 1/2 ක් පමණ යන කල්ම ඒරාෂ්ටක පරම්පරාවක් එන්න පුළුවන්. සමහර විට විශේෂයෙන් පාප කර්ම කරල තිබිච්ච කෙනෙකුට එහෙම එකක් ආව නම්, ඒ හේතුවෙන් වගතුවක් ඇත්තෙම නෑ. ජීවිත කාලයෙන් බාගයක් යන කල්ම දුක් විඳින්න වෙනවා. හැබැයි ඒ කාලෙ එහෙම විශේෂ පාප කර්ම කරල නොතිබුණා නම් ඒ වගේ තත්ත්වයක් එන්නෙ නෑ.

**ඒ නිසා මේ මොන ඒරාෂ්ටක කාලයක වුනත්, ඒකට ගැලපෙන පාප කර්ම කරල තිබුනොත් තමයි ඒ වගේ විපාකයක් ඇදිල එන්නෙ. මෙතනදිත් සමනන්තර අනන්තර ප්‍රත්‍යය ක්‍රියාත්මක වෙනවා. සමාන අන්තරයක් වර්තමානයේ සකස් වුනාම, පෙර කරපු අනන්තරයක් තිබුනොත් ඒක ඇදිල එනවා. එතකොට මේ වගේ ඒරාෂ්ටක කාලයකදි සමනන්තරයක් ස්වභාවයෙන්ම හැදෙනවා. ඒ කියන්නෙ ඒරාෂ්ටක කාලයමයි සමනන්තරය වෙන්නෙ.** ඒ නිසා ඒක විපාක දෙන්න නම් ඊට ගැලපෙන අනන්තරයක් ඇදිල එන්න ඕන. ඒ කාලෙ **අනන්තරයක් විදියට පාප කර්මයක් කරල එල දෙන්න සකස් වෙලා තිබුනෙ නැත්නම් සමනන්තරය නිකං ගෙවිල යනවා. ඒ නිසා කාටවත් කියන්න පුළුවන් කමක් නෑ, අහවල් කාලෙදි ඒකාන්තයෙන්ම අපල වෙනව කියල. ඒ නිසාම තමයි බුදු දහමෙ පෙන්වල තියෙන්නෙ, කර්මයට මුල් තැන දෙනව මිසක් ග්‍රහයින්ට මුල් තැන දෙන්නෙ නෑ කියල. නමුත් මේ කාරණය නොදන්න, එහෙම නැත්නම් වැරදියට තේරුම් ගත්තු සමහර මෝඩ උදවිය, ග්‍රහ තාරකාවලින් අපට කරදර කරනව කියල දොස් කියනවා.**

තමන් කරපු පාප කර්ම තමන්ට එල දෙනව මිසක් ග්‍රහ තාරකා මොනව කරන්නද කියල බුදුන් වහන්සේ පෙන්වා දුන්නෙ ඔය කාරණය උඩ. නමුත් ඒ බුද්ධ දේශනාවත් වැරදියට තේරුම් ගත්තු සමහර උදවිය, ග්‍රහ තාරකාවලින් කිසිම බලපෑමක් එන්නෙ නෑ කියල මෝඩ අදහස් ගන්නවා. හැබැයි බුදුන් වහන්සේ කිව්වෙ එහෙම කාරණයක් නෙවෙයි. ඒ වගේ වෙලාවකදි තමන් කරපු පවු ඇදිල එන ලෝක ස්වභාවයක් තියෙනවා. නමුත් ඒ වෙලාවෙදි මිනිස්සු ඒ කාරණය තේරුම් ගන්නෙ නැතිව ග්‍රහයින්ට දොස් කියනවා. තමන්ට වෙච්ච ඔක්කොම කරදර ග්‍රහයින් මත පටවනවා. මට මහ කාලකණ්ණි ග්‍රහයෙක් ලබල තියෙන්නෙ, කරන මොකක්වත් හරි යන්නෙ නෑ කියල ග්‍රහයින්ට බනිනවා. එහෙම නැත්නම් පෙළක් අයට හරි යන කොට, මට අහවල් ග්‍රහයා නිසා තමයි හරි ගියේ කියල එහෙම අදහස් ගන්නවා. මෝඩකම නිසාම තමයි ඒ වගේ අදහස් ගන්නෙ. **උඹල කරගත්තු පාප කර්ම උඹලට එල දෙනව මිසක් ග්‍රහයො මොනව කරන්නද කියල බුදුන් වහන්සේ ඇහුවෙ ඒ නිසා. එහෙම නැතිව ග්‍රහයින්ගෙ බලපෑමක් නෑ කියල උන් වහන්සේ**

දේශනා කළේ නෑ.

දැන් එතකොට මේ ජ්‍යොතිෂ්‍යකවල ශාස්ත්‍රානුකූල සහ ධර්මානුකූල පැත්ත තමයි කෙටියෙන් විග්‍රහ කළේ. ඉතින් ඒ විදියට ධර්මානුකූලව තමන්ට අපල එන හැටි දැනගත්තම, ඊළඟට ඒකට ප්‍රතිකර්මයක් කරන්න ඕන වෙනවා. හේතුඵල දැනගෙන කරන ප්‍රතිකර්ම බොහොම සාර්ථකයි. අන්න ඒ වගේ මේ ජ්‍යොතිෂ්‍යක තියෙන හැමෝටම පහසුවෙන් කරගන්න පුළුවන් ප්‍රතිකර්මයක් තමයි දැන් මේ ඉදිරිපත් කරන්නෙ. ඒ කියන්නෙ සමහර අයට මේ වගේ ජ්‍යොතිෂ්‍යක ආවම, කරන කියන මුකුත් හරියන්නෙ නෑ. නොයෙක් දුක් කරදර එනවා. සමහර ලෙඩ රෝග ආවම කොච්චර උත්සාහ කළත් වෛද්‍යවරුන්ටත් ලෙඩේ අහු වෙන්නෙ නෑ. එහෙම නැත්නම් දෙන බේත් ප්‍රත්‍ය වෙන්නෙ නෑ. ඒ වගේම සමහර වෙලාවට සාමාන්‍ය ක්‍රමවලින් අරින්න බැරි අමනුස්ස රෝග පවා විවිධ හේතු උඩ එන්න පුළුවන්. කර්ම විපාක නිසා කිසිම භේදයක් නැතිව කාට වුනත් එහෙම එන්න පුළුවන්. මෙන්න මේ වගේ අවස්ථාවලදී කරන්න පුළුවන් සෙනසුරු පූජාවක් තමයි මේ ඉදිරිපත් කරන්නෙ. මේ සෙනසුරු පූජාව ඉස්සර ඉඳන් ආපු පැරණි ක්‍රමයක්. ඒක යටපත් වෙලා ගිහින්, පුස්කොළ පොතක තිබිල නැවත මතු වෙලා වහරක අභයරතනාලංකාර හිමියන් විසින් ගිහි කාලෙ අත් හදා බලපු සාර්ථක ක්‍රමයක්.

මේ පූජා ක්‍රමයෙදි සෙනසුරු මුල් කර ගෙන එක දිගට දාන 7 ක් දෙන ක්‍රමයක් තියෙනවා. එතකොට මේ දානෙ දෙන්නෙ කාටද කියන කාරණයත් ඉස්සෙල්ලම පැහැදිලි කර ගන්න ඕන. කලින් කිව්ව වගේ, කෙනෙක්ගෙ මනස හෙණයට හුරු කළා කියන්නෙ, තවත් කෙනෙකුට විනාසයක් කරන්න ලෑස්ති කළා කියන එක. එතකොට ඒකට භාජනය වෙන අය සාප කරනවා. ඒ කියන්නෙ තමන්ට කරපු අසාධාරණයට නිතරම බණිනවා, දොස් කියනවා. එහෙම සාප කර කර ඉඳල පළි ගන්න බලාගෙන ඊට සුදුසු තැන්වල ඉපදෙනවා. ඕකගෙන් පළි අරන් මිසක් මම නවතින්නෙ නෑ කියල ඒ පුද්ගලයගෙ අගුණමයි කියන්නෙ, ඒ පුද්ගලය හූරගෙන කන්නමයි බලාගෙන ඉන්නෙ.

එහෙම ඉන්න කොට කවද හරි මැරිල ගිහින් කාක්කො, බල්ලො වගේ සත්තු වෙලා ඉපදෙනවා. එතකොට ඒකට ගැලපෙන දෙයක් අද ඉන්න අයත් කරල තිබුනොත්, ඔය වගේ කර්ම විපාක ගෙවන්න සංසාරෙ රවුම් ගහල ගහල දැන් නැවතත් මනුස්සයො වශයෙන් ඉපදිලා ඉන්න පුළුවන්. මොකද කෙනෙක් තව කෙනෙකුට නිකම්ම බනින්නෙ, දොස් කියන්නෙ නෑ. දැන් තමන් නොදන්න දේකට අභූත චෝදනා නැඟීම වෙනම කාරණයක්. නමුත් අන්‍ය පුද්ගලයෙකුට පෙර අවැඩක් කළා නම් ඒකට විපාක විදියට, දැන් තමන් හොඳට හිටියත් බැනුම් අහන්න පුළුවන්. නිතර නින්දා අපහාස ලබන්න පුළුවන්. වර්තමානයේ නොවුනත් ඒකට තමනුත් කවද හරි මුල් වෙලා තියෙනවා. ඇත්ත වශයෙන්ම ඒකට හේතුවක් හදාගෙන තියෙන නිසාම තමයි, මං ඕකගෙන් ජාති ජාතිත් පළිගන්නව කියල පෙළක් අය කියන්නෙ. එහෙම හේතු තියේ නම් විශේෂයෙන්ම බල්ලො කපුටො වෙලා පළිගන්න එනවා.

ඒ බලු කපුටු සංඛාර තමයි ඒ අය වඩන්නෙ. අපි කෙනෙකුට අවැඩක් අසාධාරණයක් කළොත්, කෙනෙක්ගෙ දෙයක් කඩා වඩා ගත්තොත්, මට මේ කරපු අපරාධයට, ඕකුන්ට හොඳක් වෙන්න එපා කියල ඒ අය සාප කරනවා. එතකොට සාප කරන මනස දූෂ්‍ය එකක්. **තමන්ට කෙනෙක් ගැහුව බැන්න කියල, ඒකට පෙරලා ගහන බනින මනසත් දූෂ්‍යයි.** කාපු තැන පුට කිරීම කපුටා කියන්නෙ එක සංඛාර කොටසක් විතරයි. නමුත් එකක් නෙවෙයි, ඒකට මේ වගේ විවිධ හේතු තියෙනවා. බහ අලු කරපු නිසා බලු වෙනව කිව්වමත් ඒ කාරණයත් විවිධාකාරයි.

උදාහරණ විදියට යම් කිසි කෙනෙක් යහපත් විදියට කටයුතු කර ගෙන ඉන්න කොට, ඒ පුද්ගලය ළඟ සේවකයෙක් විදියට වැඩ කරන කෙනෙක්ගෙ පොඩි වරදක් දැකල, පලයන් යන්න උඹට පඩි දෙන්නෙ නෑ කියල පන්න ගන්නවා. දැන් ඒ මනුස්සයට මාසයක් පඩි දෙන්නෙ නැතිව පන්න ගත්තොත් මොකද වෙන්නෙ? ඕක මගෙ අන්තිම පඩියත් දුන්නෙ නෑ, ඕකට නම් හෙණ ගහනව කරපු අපරාදෙට කියල බැන බැන යනවා. ගිහින් නින්දා කරනවා, සාප කරනවා. මෙච්චර කල් කාපු එකේවත් ගුණයක් නෑ. කාපු තැන පුට කරන එක අවස්ථාවක් තමයි ඒ. සමහර විට ඇත්තටම ඒ පුද්ගලය අතිනුත් මොනව හරි වරදක් වෙලා තියෙන්න පුළුවන්. නිකම්ම පැන්නුවත් නෙවෙයි. වැඩ කරන තැන යම් කිසි බඩු මුට්ටුවක් කඩල පාඩු කරල තියෙන්න පුළුවන්. එතකොට උඹ මේකෙ අලාභය මට ගෙවපන්, නැත්නම් පලයන් කියන්න පුළුවන්. ඉතින් ඒ වෙලාවෙ ඒ මනුස්සය දිහා සානුකම්පිතව බලන්නෙ නැතිව පන්න ගත්ත නම්, කල්ල සුක්ඛං කල්ල සුක්ඛ විපාකං කියන පිං පවු මිශ්‍රණයක් ඒ පුද්ගලයටත් කවද හරි එනවා.

ඒ වගේ වෙලාවට අර පුද්ගලය බල්ලෙක් හෝ කපුටෙක් වෙලා ගන්ධබ්බ ලෝකෙ ඉඳගෙන හරි සාප කර කර ඉන්න පුළුවන්. ඒ ගති ලක්ෂණය පුද්ගලය මැරුනත් තියෙනවා. සමහර විට අපි හිතන් ඉන්නෙ බලු කපුටො කිව්වම, මේ භෞතික ලෝකෙ අපේ මස් ලේ ඇහැට පේන බලු කපුටො විතරයි කියල. නමුත් මිනිස් ඇඟ - බලු කපුටු ඔළුව, බලු කපුටු ඇඟ - මිනිස් ඔළුව තියෙන ගන්ධබ්බ සත්තු ඉන්නවා. ඒ තමයි සෙනසුරුගෙ පිරිස. බලු කපුටු වෙන්න ඉන්න අය. බලු කපුටු ගතියෙන් බාගයක් තියෙනවා. ඉතිරි ටික තාම පරිවර්තනය වෙනවා. ඒ වගේ උන් ගන්ධබ්බ ලෝකෙ ඕන තරම් ඉන්නවා. උන් සමහර විට නොපෙනෙන පැතිවලින් මනුස්සයින්ට හිංගි හිංසා කරනවා, සාප කරනවා.

උදාහරණ විදියට විවිධ වේසයන්ගෙන් ඇවිත් මනුස්සයො බය ගන්වන්න පුළුවන්. ඒ නිසා තමයි පෙළක් අය තමන්ට බල්ලො පේනවා, සත්තු කොටනවා, ඇඟට කටුස්සො පනිනවා, කළු බල්ලො ඇවිත් ඇඟට පනිනවා... ආදී වශයෙන් කියල කෑ ගහන්නෙ. ඒ ගන්ධබ්බ ලෝකවල ඉන්න මේ වගේ තිරිසන් ගන්ධබ්බයො තමන්ගෙ ගනුදෙනු පියව ගන්න මේ විදියට ඇවිත් මනුස්සයො බය කරන අවස්ථා තියෙනවා. හැබැයි ඉතින් ඔය කාරණය විද්‍යාවට අහු වෙන්නෙ නැති නිසා, සමහර මනෝ වෛද්‍යවරුන්ට ඔහොම අය අහු වුනොත්, මනෝ භ්‍රාන්තිය වගේ මොනව හරි බර වචනයක් දාල අහවල් රෝගය කියල නිගමන දෙනවා. නමුත් ඇත්ත වශයෙන්ම සසර ගමනෙදි අනුන්ට කරපු හිංගි හිංසා තියේ නම්, ඒ අය ගන්ධබ්බ ලෝකවල ඉඳන් පළිගන්න එන එක තමයි ඔය වගේ අවස්ථාවලදි බොහෝකොට වෙන්නෙ.

දැන් මේ ගුප්ත ලෝකෙ බලු කපුටන්ට මේ භෞතික ලෝකෙ ඉන්න බලු කපුටොත් බයයි. මොකද ඒ අයගෙන් සමහරක් මහ යෝධයො වගේ විසාලයි. ඒ කියන්නෙ හුඟක් ඉස්සර කාලෙ මිනිස්සු වගේම විසාල බලු කපුටො ආදී සත්තුත් ලෝකෙ හිටියා. මිනිස්සු ගත්තත්, සත්තු ගත්තත් හැමදාම ප්‍රමාණයෙන් එක සමාන නෑ. විවිධාකාර විසාලත්වයෙන් කලින් කලට පහළ වෙනවා. ඉතින් මීට අවුරුදු ලක්ෂ ගණනකට එහා ඒ වගේ බලු කපුටොත් ලෝකෙ ඉඳල තියෙනවා. සමහර විට ඒ කාලෙ මැරිච්ච බලු කපුටො ගන්ධබ්බයො වශයෙන් තවමත් ඉන්න පුළුවන්. ඒ භවය ඉවර වෙන කල් අවුරුදු සිය, දහස්, ලක්ෂ ගණනක් වුනත් ඉන්න පුළුවන්. ඒ වගේ උන් කොච්චර කලක් ගන්ධබ්බ ලෝකෙ ඉන්නවද කියල අපිට

නිගමනය කරන්න බෑ. එතකොට උන් ඉන්නෙ චිත්තජ රූපයෙන්. ඒ නිසා තමයි මහ විසාලෙට පේන්නෙ. මොකද උන්ගෙ මස් ලේ කය බිඳිල ගියාට, චුති පටිසන්ධි වුනේ නැත්නම් ඒ කාලෙ තිබිච්ච ප්‍රමාණයටම චිත්තජ රූපය තියෙනවා. ඒ බලු කපුටන්ගෙ විසාලත්වයට ඒකත් එක හේතුවක්. (මේ පිළිබඳ විස්තරයක් 27, 28 කලාපවලින් ඉදිරිපත් කරල තියෙනවා.)

ඒ වගේම සත්තු ඉපදෙන අණ්ඩජ, ජලාබුජ, සංසේදජ, ඕපපාතික කියන කොටස් 4 න් අණ්ඩජ එවුන්ට වඩා ජලාබුජ කොටස් බලවත්. ඊටත් වඩා සංසේදජ කොටස් බලවත්. ඊටත් වඩා ඕපපාතික කොටස් බලවත්. එතකොට ඕපපාතික කොටස් තමයි මේ ගන්ධබ්බ ලෝකෙ බොහෝ කොටම ඉන්නෙ. ඒ හේතුව නිසාත් උන් විසාලත්වයෙන්, ශක්තියෙන් වැඩි වෙනවා. ඒ නිසා මේ බලු කපුටු දානෙ කිව්වම, භෞතික තිරිසන් ලෝකෙ සහ ගුප්ත ලෝකෙ ඉන්න දෙගොල්ලන්ටම එක්ක දෙන්නෙ. අපෙන් සසරෙදි ඒ අයට වෙච්ච ණය ගෙවන ක්‍රමයක් තමයි ඒ. එතනදි බල්ලන් සහ කපුටන් ප්‍රධානයි. ඒ වගේම අනෙක් සතුන්ටත් ඒ දානය ගන්න පුළුවන්. මරණයට කැප වෙච්ච සතුන් නිදහස් කරනව වගේ කාරණාත් මේකට අයිති වුනාට, මේ වගේ දානයක් දීම තමයි ප්‍රධාන වෙන්නෙ.

එතකොට සමහර විට මේ සෙනසුරු පූජාව හෙවත් බලු කපුටු දානය තිව්වට පස්සෙ, කොච්චර කපුටො ඉන්න තැනක වුනත් ඒ වෙලාවට කපුටෙක් පලාතකවත් එන්නෙ නැති වෙන්න පුළුවන්. බලු කපුටු දාන දෙන කොට එහෙම වෙන අවස්ථා ඕන තරම් තියෙනවා. ගෙදරක මොනව තිබුනත් හොරෙන් ඇවිත් මුට්ටියට හරි හොට දාල කාල යන කපුටො ඉදෙද්දි, වෙනද බත් හැලියෙ දං කුඩ ටික විසි කළත් කපුටො රැන් පිරින් එන අවස්ථා තියෙද්දි, මේ වෙලාවට කාක් කාක් කියල අඬ ගහල දුන්නත් කපුටො පලාතෙවත් එන්නෙ නැති අවස්ථා තියෙනවා. නමුත් හුඟ දෙනෙක් ඒකට හේතුවක් දන්නෙ නෑ. ඒකට හේතුව තමයි මේ දෙන බලු කපුටු දානෙ ගන්න ඉස්සෙල්ලම එන්නෙ ගන්ධබ්බ ලෝකෙ ඉන්න බලු කපුටො. එතකොට මෙහේ ඉන්න බලු කපුටන්ගෙ මනසට ඒ කාරණය කර්ම විපාකජ ඍද්ධියක් විදියට පේනවා. ඒ වෙලාවෙදි මේ ලෝකෙ බලු කපුටො උන්ට බයයි. මොකද ගන්ධබ්බ ලෝකෙ ඉන්න උන්ගෙ විසාලත්වය දැක්කම බය හිතෙනවා. හැබැයි ගන්ධබ්බ ලෝකෙ ඉන්න බලු කපුටො මේ දානය අර ගත්තට පස්සෙ, සාමාන්‍යයෙන් භෞතික ලෝකයේ ඉන්න බලු කපුටො පහු වෙලා එනවා. මොකද ඒ ගන්ධබ්බ බලු කපුටො උන්ගෙ කොටස සාමාන්‍යයෙන් මුල් පැය 1/4 ක් 1/2 ක් වගේ කාලයක් තුළදි ගන්නවා. උන්ට අවශ්‍ය ප්‍රමාණය අරගෙන ගියාට පස්සෙ නැවත එන්නෙ නෑ. ඒකත් මැවිල යන ක්‍රමයක් තියෙනවා. හැබැයි අපි අපේ යුතුකම ඉෂ්ට කරපු නිසා, මෙහේ ඉන්න බලු කපුටො ඒක කන්න ආවෙ නැහැයි කියල අපිට ගැටළුවක් නෑ. අපි ඒකට ඇඟිලි ගහන්න යන්නෙත් නෑ.

මොකද මේ බලු කපුටු දානය දෙන කොට අපි ඒ හැමෝටම යම් කිසි ආරාධනයක් කරල තමයි දෙන්නෙ. **"මේ දෙන දානය බලු කපුටු ආදී සතුන් ඇතුළු යම් තාක් සෙනසුරු ආදී කොටස් ඇත්ද, සෙනසුරු ග්‍රහ දේවතාවො වශයෙන් මේකට අරක් ගත් අය ඇත්ද, ඒ හැම කොටසකටම මේ භෝජනය හිමි වේවා, ඒ සියලු දෙනාටම කැපයි කැපයි කැපයි, ඒ සියලු දෙනාටමත් මේ පිං ලැබේවා, සැමටම යහපතක් වේවා, මගෙන් යම් කිසි අවැඩක් අසාධාරණයක් වෙච්ච සියලු දෙනාටම මේ පිං විහිදිලා යහපත වේවා!"**



මෙතනදි ග්‍රහ දේවතාවො කිව්වම දෙවියො විතරක් නෙවෙයි ඒ අයට ආවතේව කරන පහත් කොට්ඨාසත් අයිතියි. මේ විදිහට බලු කපුටු ආදී සතුන් මුල් කරගෙන තමයි මේ දානය දෙන්නෙ. එතකොට විශේෂයෙන් කපුටන්ට බල්ලන්ට අඬ ගහල කෑ ගහන්න ඕන නෑ. උන් කන්න ආවයි නාවයි කියල ගැටළුවකුත් නෑ. එන එවුන් පන්න ගන්න ඕනත් නෑ, වෙනම කියල ගෙන්න ගන්න ඕනෙත් නෑ. මොන සතා ඇවිත් කාල ගියත් ගැටළුවක් නෑ.

ඒ විදියට ආරාධනා කරල දානය දෙන කොට, තමන්ගෙ තියෙන ණය ක්‍රමයෙන් ගෙවෙනවා. එතකොට ඒ අවස්ථාවෙදි එන්න තියෙන අපල උපද්‍රව කැපිල යනවා. මොකද ඒ සත්තු කවදාවත් නිවන් දකින්න මෙත් වඩන අය නෙවෙයි. මගෙන් කෑව නම්, අසාධාරණය කළා නම් මට ඒක දීපං වෙන මුකුත් එපා කියන, මහ දුප්පත් හිඟන්නො වගේ කන්න බොන්න ඕන මානසිකත්වයකු තමයි ඒ අය ඉන්නෙ. එතකොට උන් ඉන්න තත්ත්වෙ අනුව මහ ප්‍රණීත දේවල් නෙවෙයි ඉල්ලන්නෙ, මොනව හරි බඩ දැවිල්ල නිවා ගන්න පුළුවන් දෙයක්.

ඒ නිසා තමයි මේ දානය පටන් ගන්න පළවෙනි **සෙනසුරාද දවසෙ එළඟි තෙල් (ගිතෙල්) නැතිව නිකං කිරිබතක් දෙන්නෙ.** එක පාරටම දෙන්නෙ නැතිව ඒ අයගෙ බඩ හුරු කරන්න තමයි නිකං කිරිබතක් දෙන්නෙ. එක පාරටම එළඟි තෙල් ආදිය දාල දුන්නොත් උන්ට ඒක දරන්න බැරිව යනවා. ඊළඟට ටිකක් හුරු වුනාට පස්සෙ දෙවෙනි දවසෙදි හෙවත් **ඉරිදා එළඟි තෙල් මිශ්‍ර කිරිබතක් දෙනවා.** මොකද සෙනසුරුගෙ පිරිසට තියෙන්නෙ හැම වෙලේම දැවෙන දාහ සහගත ස්වභාවයක්. එළඟි තෙල්වලින් ඒ ස්වභාවය නිවනවා. තුන් වෙනියට එන **සඳුද දවසෙ නුග කොළ උඩ තියල එළඟි තෙල් මිශ්‍ර කිරිබතක් දෙනවා.** මොකද නුග කොළේ උඩ ආහාර ගත්තම ඒකෙ තියෙන ඖෂධීය ශක්තිය ඒ ආහාරයත් එක්ක ආකර්ශනය වෙලා සෙම, දාහය සමනය කරන්න හේතු වෙනවා. ඊළඟට හතර වෙනියට එන **අඟහරුවාද දවසෙදි කුණු කරවල මිශ්‍ර හොදිත් එක්ක එළඟි තෙල් මිශ්‍ර කිරිබතක් දෙනවා.** එතනදිත් එළඟිතෙල්වලින් දැවිල්ල සමනය වෙනවා. කුණු කරවල දෙන්නෙ කෑදරකම යන්න. කුණු කරවල කියල කතාවට කිව්වට, මේ කියන්නෙ සාමාන්‍යයෙන් තියෙන කරවල.

හැබැයි මෙතනදි අසාධාරණයෙන් සකස් කරගත්තු කරවල ගන්නෙ නැතිව, පවත්ත (පාංශුකූල) හෙවත් අහකට විසි කරල දාපු කුණු කරවල ගන්න පුළුවන් නම් ධර්මානුකූලව තවත් හොඳයි. ඉතින් මෙතනදි කරවල කපල අහක දාන ඔළු, කටු, කරමල්, වරල් ආදිය ගත්තට අසාධාරණයක් නෑ. ඒවත් පවත්ත මාංස හා සමානයි. මොකද ඔළු, කටු, කරමල්, වරල් ආදිය ගන්න මාළු මරන්නෙ නෑ. මාංස වගේ මොනව හරි ප්‍රධාන කොටසක් සඳහා තමයි මාළුවෙක් වුනත් මරන්නෙ. ඒ නිසා ඒ මාළුවගෙන් අයින් කරන ඔළු, කටු, වරල් ආදිය ගත්ත කියල ඒ වෙනුවෙන් තවත් සත්තු මරන්නෙ නෑ. ඒ නිසා සත්ව ඝාතනයට ඒක අනුබල වීමක් වෙන්නෙත් නෑ. මස් පිණිස මරපු සතාගෙ අං, කුර, සම පවත්ත කොටසට අයිතියි කියල දහමෙ පොත්වල තියෙන්නෙත් මේ කාරණය නිසා. ඒ වගේ අහකට දාන කරවල කටු, වරල් ආදියෙන් හොද්දක් හදල දුන්නම ධර්මානුකූලවත් ගැටළුවක් එන්නෙ නෑ. මොකද මිනිස්සු ආහාරයට ගන්න කොටත්, ඒවා අහකට දාල තමයි ගන්නෙ.

ඊළඟට පස්වෙනියට එන බදාද **දවසෙදි කොහොඹ කොළ අතුරල ඒ මත එළඟිතෙල් මිශ්‍ර කිරිබතක් දෙනවා.** ඒකෙනුත් උන්ගෙ යම් කිසි ලෙඩක් රෝගයක් තිබුන නම් ඒක නිවෙන්න හේතු වෙනවා. 6 වෙනියට එන **බ්‍රහස්පතින්ද දවසෙදි නිල් පාට මිශ්‍ර එළඟිතෙල් කිරිබතක් තමයි දෙන්නෙ.** නිල්වලින් කරන්නෙ හුඟක් දුරට ළය නිවන ශක්තියක් ලබා දෙන එක. ඒ නිසා නිල් කටරොළු මල් වගේ දෙයක් මිශ්‍ර කරල දෙනවා. ඒ වගේ මල් කීපයක් අර ගෙන වතුරට දාල පොඩි කරල ඉස්ම ටික කිරි බතට මිශ්‍ර කළාම ප්‍රමාණවත්. හැබැයි මෙතනදි නිල් වර්ණය තියෙන කෘතීම රස කාරක වගේ විස තියෙන ඒව දාන්න හොඳ නෑ. එහෙම දැම්මොත් ගුණය නැති වෙනවා. ඒ නිසා නිල් පාට කටරොළු මල් වගේ ස්වභාවික දෙයක් යොදා ගන්න පුළුවන් නම් තමයි වඩා හොඳ. ඊළඟට **සිකුරාදා හෙවත් 7 වෙනි දවසෙදි රත් මල් අතුරල ඒ මත ගිතෙල් මිශ්‍ර කිරි බතක් දෙනවා.** රත් මල්වලින් කරන්නෙ රක්ත, ගිනි ආදී උෂ්ණය නිවීම. ඒක ගිතෙල් එක්ක මිශ්‍ර වුනාම ඒ උෂ්ණ ගති නිවෙනවා. මේ විදියට සම්පූර්ණයෙන්ම ඖෂධීය ක්‍රමයකට දෙන දානයෙන් උන්ට තියෙන ඒ දාහ ගතිය, රෝගී තත්ත්වයන් සමනය වෙලා ඒකෙ ප්‍රතිඵල ඒ දානෙ දෙන උදවියටත් ලැබෙනවා.

දැන් මේ දානෙ උයනකොට සාමාන්‍යයෙන් එක බලු කපුටු දානයකට හාල් සේරුවක් විතර ගත්තම ප්‍රමාණවත්. හැබැයි ඒ බලු කපුටු දානයට උයන සියල්ලම ඒ සඳහාම යොදා ගන්නව මිසක්, වෙනත් මනුස්සයින්ගෙ පරිහරණයකට ගන්න සුදුසු නෑ. ඒ වගේම අධිෂ්ඨාන කරල පොදුවේ බලු කපුටු ආදී සතුන් සඳහා කියල දෙනව මිසක් සතුන්ට වෙනම අඩගහල දෙන්නත් සුදුසු නෑ. ඒ වගේම මේ බලු කපුටු දානය තියන කොට කෙහෙල් කොළයක් හෝ පුංචි වට්ටියක් වගේ සුදුසු දෙයක තැන්පත් කරල තියන්න ඕන. ඒක හරියට කෙනෙකුට කන්න දෙන කොට පිඟානක තියල දෙනව වගේ. නුග කොළ, කොහොඹ කොළ, රත් මල් ආදිය තියන කොටත් ඒ කෙහෙල් කොළය හෝ වට්ටියට උඩින් ඒවා අතුරල ඒ මත බලු කපුටු දානය තියන්න ඕන. ඒ වගේම සෙනසුරාද දානයට හැර අනිත් දානවලදි, ඒ බත් ගොටුව උඩින් එළඟි තෙල්වලින් පොඟවපු පහන් තිරයක් තියන්න පුළුවන් නම් තවත් හොඳයි. මොකද එළඟි තෙල් පහන් තිරය බත් වගේ ඉක්මනට දිරවන්නෙ නෑ, බඩේ තියෙද්දි ඉක්මනට පිච්චෙන්නෙ නෑ. එතකොට ඒ සතුන්ට වැඩි වෙලාවක් බඩ ගිනි නොවී ඉන්න පුළුවන්කම ලැබෙනවා.

දැන් එතකොට මේ දානෙ දෙන්න පටන් ගන්නෙ සෙනසුරාද දවසක. එතනින් පටන් ගෙන සිකුරාද වෙද්දි හත් වෙනි දවස සම්පූර්ණ වෙනවා. **ඒ විදියට දාන 7 ඉවර වෙලා ඊළඟට එන සෙනසුරාද උදේ හෝ දවල් දුගී මගී යාචකාදීන්ට දානයක් දෙනවා.** එතනදි තමන්ගෙ වයසට වඩා එක බත් මුලක් වැඩියෙන් දෙන්න ඕන. උදාහරණ විදියට වයස 25 ක කෙනෙක් නම්, 26 දෙනෙකුට දානෙ දෙනවා. එතකොට 25 ක් තියන්නෙ ජීවත් වෙලා ගෙවිච්ච අවුරුදු 25 ට. 26 වෙනි එක තියන්නෙ ඉදිරියට ජීවත් වෙන්න තියෙන අවුරුද්දට. ඊට පස්සෙ **එදා හැන්දෑවෙ පන්සලට ගිහින් බෝධි පූජාවක් තියල අර දවස් හතේම දුන්න දානෙයි, දුගී මගී යාචකාදීන්ට දීපු දානෙයි ඒ විදියට දුන්න කියල ඒ කාරණය සඳහන් කරල, සෙනසුරු දේවතාවන් ඇතුළු සියලු දෙනාටම**



**අනුමෝදන් කරනවා.** ඒ කාරණය භික්ෂූන් වහන්සේ නමක් ලවා කරව ගන්න පුළුවන් නම් වඩා හොඳයි. නැත්නම් වෙනත් වැඩිහිටියෙක් ලවා කරව ගත්තත් කමක් නෑ. තේරුම් ගන්න පුළුවන් කෙනෙක් නම් තමන්ටම කර ගන්නත් පුළුවන්. ඒ විදියට අනුමෝදන් කළාම ඒක හුඟක් බලවත්, අංග සම්පූර්ණ ක්‍රමයක්.

ඒ වගේම මේ බෝධි පූජාවට ගිතෙල් පහන් 3 ක්, පැන් කල 7 ක්, (එකම කලයකින් පැන් කල 7 ක් හෝ වෙන වෙනම කල 7 ක් ගන්නත් පුළුවන්.) නිල් මල් 40 කට වැඩි මල් මාලයක්, සුදු මල් මාලයක්, නිල් පාට කොඩියක්, සුදු පාට කොඩියක්, දැහැත්, ගිලන් පස, මල්, හඳුන්කූරු, කපුරු ආදිය පූජ කරනවා. මේක බුද්ධ පූජාවක් වශයෙන් තමයි කරන්නෙ. ඒ කියන්නෙ බෝධීන් වහන්සේ ළඟ බුදු රජාණන් වහන්සේ උදෙසා කරන පූජාවක් විදියට. ආනන්ද බෝධිය පිහිටවපු වෙලාවෙත් බුදුන් වහන්සේ දේශනා කළේ, මා කෙරෙහි කරන පූජා මේ බෝධිය ළඟ තියල පූජා කරන්න, පිනේ අඩුවක් නෑ කියල. ඒ වගේ බුද්ධ පූජෝපහාරයක් තමයි බෝධිය ළඟ කරන්නෙ. එතකොට මේ ගිතෙල් පහන්, හඳුන් කූරු, කපුරු ආදිය පත්තු කරල, දැහැත්, ගිලන් පස ආදිය පූජ කරල, පැන් කල හත අරගෙන බෝධීන් වහන්සේ වටා පැදකුණු කරල, බෝධීන් වහන්සේ නාවල මල් මාලා, කොඩි ආදිය බෝධීන් වහන්සේ ළඟ එල්ලනවා. නැත්නම් සුදුසු විදියට තැන්පත් කරල පූජ කරනවා. එහෙම පූජ කරල පසු ගිය දින 8 ක් තිස්සේ තමන් කරපු පිංකම්වල පින, සෙනසුරු ග්‍රහ දේවතාවො ඇතුළු සියලු ග්‍රහ දේවතාවන්ටත්, අනුමෝදන් වෙන්න ඉන්න සියලු දෙනාටත් අනුමෝදන් කරල, ඒ අපල තියෙන අයගෙ නම කියල ඒ අයට ලබල තියෙන අපල දුරු වෙලා සෙත් සාන්තිය උදා වේවා කියල ඒ අනුමෝදනාව සිද්ධ කරනවා.

ඒ වගේම සෙනසුරු අපල තියෙන කිහිප දෙනෙක් වෙනුවෙන් මේ සෙනසුරු පූජාව කරනව නම්, ඒ සියලු දෙනාම වෙනුවෙන් එකට උයල දෙන්නත් පුළුවන්. හැබැයි ඒ අය විසින් වෙන වෙනම ඒ දාන ගොටු තියන්න ඕන. උදාහරණ විදියට 4 දෙනෙක් ඉන්නව නම්, 4 දෙනා වෙනුවෙන්ම එකට උයල දාන ගොටු 4 ක් වෙන වෙනම හදල එක එක්කෙනා ලවා වෙන වෙනම තියන්න ඕන. පුංචි ළමයෙක් හෝ ඇවිද ගන්න බැරි අබ්බගාතයෙක් හෝ නැගිට ගන්න බැරි වයසක කෙනෙක් හෝ වෙනුවෙන් කරනව නම්, තවත් වැඩිහිටි කෙනෙක් හෝ පුළුවන් කෙනෙක් ලවා ඒ ළමයට හෝ පුද්ගලයට අත ගස්සවල ඒ අය වෙනුවෙන් තියන්න පුළුවන්. බෝධි පූජාවත් ඒ වගේ වෙන වෙනම පූජා භාණ්ඩ අරගෙන කරන්න ඕන. ඒ වගේම මේ බලු කපුටු දානය තියන කොටත් හතරමං හන්දියක, තුංමං හන්දියක, දෙමං හන්දියක, ගලක් උඩක, වැසිකිලි වලක කොන්ක්‍රීට් ලෑල්ලක් උඩ, ගහක් මුල, එහෙම නැත්නම් වත්තෙ කෙළවරක ආදී වශයෙන් උන්ට කරදරයක් නැතිව කන්න බොන්න පුළුවන් සුදුසු පහත් තැනක තිව්වම වඩා හොඳයි.

ඒ වගේම මේ බලු කපුටු දානය දෙන කොට, සාමාන්‍යයෙන් උදේ පාන්දර කපුටො කෑ ගහ ගෙන කෑම හොයා ගෙන යන වෙලාවට දෙන්න පුළුවන් නම් වඩා හොඳයි. ඒ තමයි සාමාන්‍යයෙන් කපුටො ස්වභාවයෙන්ම ඉස්සෙල්ලම කන්න මොනව හරි හොයා ගෙන යන වෙලාව. ඒ කියන්නෙ එදාට උන් ඉස්සෙල්ලම මොනව හරි කන්න පෙර, ඒ දවසෙ ඉස්සෙල්ලම යන්නෙ හොඳටම බඩගින්නෙ. ඒ වගේ වෙලාවට මේ තියන බලු කපුටු දානය උන්ට අහු වුනොත්, එදා දවසෙම උන් බඩ පුරව ගෙන ඉන්නවා. විශේෂයෙන් ගිතෙල් මිශ්‍ර නිසා ඒ බඩගින්න නිවෙනවා. එහෙම නැත්නම් කපුටට ආහාර නැතිව වැඩි වෙලාවක් ඉන්න බෑ, වැටෙනවා.

රාත්‍රියේදි හත් වතාවක් කුඩුවෙන් වැටෙනව කියල තමයි කතාවට කියන්නෙ. මොකද ටිකක් වෙලා ඉන්න කොට උන් හාමත් වෙනවා. හැන්දෑ වෙන කොට ඇස් පේන්නෙ නැති නිසා කුඩුවලට යනවා. එළි වෙන කොට බඩගින්නෙ කුඩුවලින් ඇද ගෙන හත් වතාවක් වැටෙන්න යනවලු. යන්තම් එළිය වැටෙන කොට උන් කෑම හොයා ගෙන නොඉවසිල්ලෙන් යනවා. ඒ තරම් බඩගින්නෙ ඉන්නෙ. එහෙම යන කොට මුලින්ම අහු වෙච්ච දේ කන නිසා, අන්න ඒ වගේ වෙලාවකට මේ බලු කපුටු දානය දෙන්න පුළුවන් නම් උන්ගෙ බඩගින්න නිවෙන්න හේතු වෙනවා. දවල් වෙලා දෙනවට වඩා ඒ වගේ වෙලාවක දෙන එක වඩාත් ඵලදායී වෙනවා.

මේ වගේ බලු කපුටු දාන දීල සෙනසුරු පූජාව තැබීම සම්බන්ධයෙන් වහරක අභයරතනාලංකාර හිමියන් ගිහි කල බොහෝ අත්දැකීම් ලබල තියෙනවා. සෙනසුරු අපල කාලයට, හොඳ කරන්න බැරි තුවාල තිබ්බ අයට පවා මේ ක්‍රමයට කරපු සෙනසුරු පූජාවෙන් ඒ සුවය ලැබිල තියෙනවා. විශේෂයෙන් සෙනසුරු අපල කාලයට වම් කකුලෙ ආබාධයක් ආවොත්, බොහෝ කොටම සනීප නොවී සැහෙන කාලයක් තියෙන්න පුළුවන්. මොකද සෙනසුරුගෙ ලාංඡනය පෙන්වල තියෙන්නෙ වම් කකුලෙ සුව නොවන තුවාලයක් බැඳගෙන ඉන්න විදිහට. ඒ වගේ වෙලාවට මේ සෙනසුරු පූජාවෙ බල තියෙන බව අත්දැකීම් තියෙනවා. වෛද්‍යවරු ලවා වෙදකම් කළත් ලේසියෙන් හොයා ගන්න බැරි, බේත් අහන්නෙ නැති අවස්ථා තියෙනවා. තුවාලයක් හැදුනමත් කාලෙකට හොඳ වෙන්නෙ නෑ. අන්න ඒ වගේ වෙලාවකට මේ වගේ සෙනසුරු පූජාවක් කරන්න පුළුවන් නම්, ඒක හොඳ ප්‍රතිකර්මයක් වෙලා කරන බේත් ප්‍රත්‍ය වෙනවා.

ඒ වගේම සෙනසුරු ග්‍රහ දේවතාවො කිව්වම පොදුවේ ඒ හා සම්බන්ධ ගන්ධබ්බ ලෝකෙ පිරිසකුත් ඉන්නවා. සෙනසුරුගෙ ග්‍රහ මණ්ඩලයක් තියෙනවා. ග්‍රහ වළල්ල චාතුර් මහා රාජිකයට අයිති කොටසක්. ඒකෙ විවිධ කොටස් ඉන්නවා. මේ සෙනසුරු ග්‍රහ වළල්ලෙන් එන කිරණවලට අමතරව ඒ ග්‍රහ දේවතාවන්ගෙනුත් මිනිස්සුන්ට කරදර බාධක එන්න පුළුවන්. මොකද ඒ ඉන්න දේව කොටස් ලෝක පාලනයටත් සම්බන්ධයි. එතකොට යම් කිසි කෙනෙක් දස අකුසල්වල යෙදෙමින් අයුතු අසාධාරණකම් කරනව නම්, ඒ අයට දඬුවම් වශයෙන් කරදර බාධක කරන්න පුළුවන්. දේවතාවො කියන කොට දෙවියො විතරක් නෙවෙයි. ගන්ධබ්බ තත්ත්වෙට සම්බන්ධ හත් කට්ටුවක් ඉන්නවා. හැම ග්‍රහ දේවතාවෙකුටම ඒ වගේ කොටස් 7 ක් ඉන්නවා. පහළම ඉන්න කොටස් තමයි මේ ලෝකෙ ඉන්න ගන්ධබ්බයො. වළාකුළු වගේ ශරීර ස්වභාව තියෙන ඒ සමහරක් අය මේ දෙන ආහාරයේ සුවඳ උරාගෙන ජීවත් වෙනවා. ඒ වගේම භෞතිකවම ඒ ආහාර ගන්න පුළුවන් කොටසකුත් ඉන්නවා. ඉහළ ඉන්න දේව කොටස් ඒ පින අනුමෝදන් වෙනවා. ඒකෙන් ඒ අයට දිව්‍ය ආහාර පාන ආදිය මැවිල යනවා. ඉතින් මේ ක්‍රමයට දානයක් දෙන කොට පහළ ඉඳන් ඉහළටම සුද්ධ වෙලා යනවා.

ඒ වගේම මේ සෙනසුරු පූජාව කරන්න, ඔය කියන ප්‍රධාන ඒරාෂ්ටක තුන ලබලම තියෙන්න ඕන නෑ. තම තමන්ට පුළුවන් විදියට කාට වුනත් කරගන්න පුළුවන් නම් හොඳයි. මොකද අර ප්‍රධාන ඒරාෂ්ටක තුනෙන් කිය වෙන්නෙ පොදු තත්ත්වයක්. නමුත් සමහර අවස්ථාවල ජන්ම පත්‍රයේ සඳුගෙ ඉඳන් සෙනසුරු ගණින ක්‍රමයකුත් තියෙනවා. ඒ කාරණය ටිකක් සංකීර්ණයි. අද වෙන කොට බොහෝ දෙනෙක් ඒ ක්‍රමය දන්නෙත් නෑ. දැන ගෙන තියෙන්නෙ අර ප්‍රධාන ඒරාෂ්ටක 3 ගැන විතරයි. නමුත් මේ ඒරාෂ්ටක හොයන තවත් ක්‍රම තියෙනවා. උදාහරණ විදියට රවි ඉන්න කොටුව 1 විදියට අරගෙන ජන්ම, ලග්න වශයෙන් මනින ක්‍රමයක් තියෙනවා. රවිගෙන් සහ සඳුගෙන් පටන් ගත්තොත් ඒකත් අපල දෙන අවස්ථාවක්. ලග්නයේ 8 වැන්න කියන්නෙ අපල දෙන තැනක්. මේ විදිහට රවිගෙන්. සඳුගෙන්, ලග්නයෙන්, අටවැන්නෙන් ආදී විවිධ ක්‍රමවලට මේ අපල එන්න පුළුවන්. ඒ නිසා මේ අපල කියන ඒවා ඉවරයක් වෙන්නෙ නෑ. **අනන්ත සංසාරෙ කල්ප 60 ක් කියන අති දීර්ඝ කාලයක් තුළ කෙනෙක් කරපු පාප කර්මවල විපාකයන්ගෙන් අවස්ථානුකූලව නොගෙවිච්ච ඒවා තිබුණොත්, ඒවා ඇදිල ඇවිත් කොයි මොහොතක හරි ක්‍රියාත්මක වෙන්න පුළුවන්.** නමුත් ඒ කාරණය දන්නෙ නැතිව, මේ ඒරාෂ්ටක නැති කාලෙත් හරියට කරදරයි කියන්නෙ, රවිගෙන් සඳුගෙන් පටන් ගෙන සෙනසුරු 8 වැන්නට ආපු කාලයක් වගේ යම් කිසි වෙනත් හේතුවක් උඩ ආපු අපලයක්. මොකද ඒ කාරණයත් බහු හේතුකයි. එක හේතුවකින් සිද්ධ වෙනවත් නෙවෙයි.

පෙර අත්බැව්වල අම්මට ගහල බැනල කරදර හිරිහැර කරල තිබුන නම්, මරන්න උත්සාහ කරල තිබුන නම්, සඳුගෙන් 8 වැන්නට සෙනසුරු එන කොට ඒ පුද්ගලයට මාරකයි. එතකොටත් ඒ පුද්ගලය ඉන්නෙ ජන්ම ඒරාෂ්ටකයක. ඒ නිසා ඒ පුද්ගලයට අනන්ත දුක් වේදනා විඳින්න සිද්ධ වෙනවා. ඒ වගේම පියාට සම්බන්ධ වෙන්නෙ රවි හෙවත් සූර්යා. රවි ඉන්න තැනට සෙනසුරු ආවම එතනදිත් පුද්ගලයට දුක් වේදනා විඳින්න සිද්ධ වෙනවා. එතකොට එන්නෙ රවි ඒරාෂ්ටකය. රවි 8 ට හෝ ලග්නයට ආවම රවිගෙ බලය සෙනසුරු ගන්නවා. එහෙම ආවම ඒ පුද්ගලයට විසාල දුක් කරදරවලට මුහුණ දෙන්න සිද්ධ වෙනවා. අම්මට තාත්තට දෙන්නටම හිරි හැර කරපු විපාකයක් තිබුන නම්, රවි සඳු දෙකම අටවැන්නට හෝ ලග්නයට ආවට පස්සෙ රවිගෙන් අතුරු ඒරාෂ්ටකයත්, සඳුගෙන් ජන්ම ඒරාෂ්ටකයත් එනවා. එතකොට අම්මට තාත්තට දීපු දුක් වේදනාවන්වල විපාකයන් කෙළවරක් නැතිව එන්න පටන් ගන්නවා. මේ වගේ අර ප්‍රධාන ඒරාෂ්ටක තුනට අමතරව තවත් පොඩි පොඩි ඒරාෂ්ටක එන්න පුළුවන්. නමුත් ඒවා අද හොයන්නෙ නෑ. ඒවා ලේසියෙන් හොයා ගන්නත් බෑ. මොකද මේක අති සූක්ෂම විසාල චක්‍රයක්. ඒකෙන් ඔය දන්න ටිකක් විතරයි අද කතා කරන්නෙ.

ඉතිං මේ ඒරාෂ්ටක කියන ඒවා හැම එකක්ම ඔය විදියට හොයල ඉවරයක් කරන්න බෑ. ඒ තරම් අති සූක්ෂම විෂයක්. උදාහරණ විදියට සඳු යම් රාශියක ඉන්නව නම්, සඳුට අයිති අනෙක් රාශිවල සෙනසුරු ගමන් කරන කොටත් දුක් කරදර එන්න පුළුවන්, නමුත් මේ අද තියෙන ක්‍රමවලින් ඔහොම අපල තියෙනවද කියල ඒ ඔක්කොම හොයන්න බෑ. බොහොම සංකීර්ණයි. ඒක මහ දිවැසක් තියෙන ඍෂිවරයෙක් වගේ කෙනෙකුට කරන්න පුළුවන් දෙයක්. ඉතිං හරියට කරනව නම්, මේ කේන්දර බැලීමත් දිවැසක් හා සමානයි. නමුත් අද තියෙන නෂ්ටාවශේෂවලින් උඩින් මත්තෙන් කේන්දරයක් බලල ඵලාපල කිව්වට, යථාර්ථය හරියට හොයා ගන්න බෑ.

ඒ නිසා කරන්න තියෙන හොඳම දේ තමයි, **කර්ම වේගයක් තියේ නම්, ඒක නැති කරන්න ප්‍රතිකර්මයක් තියේ නම් ඒ දේ ධර්මානුකූලව සිද්ධ කර ගැනීම. කවුරු හරි කමක් නෑ තමන්ට එහෙම බාධක කරදර තියේ නම්, පොදුවේ ප්‍රතිකර්මයක් විදියට මේ වගේ සෙනසුරු පූජාවක් සිද්ධ කර ගැනීම වටිනවා. ඒරාෂ්ටක තියෙන කෙනයි, නැති කෙනයි කියල ගැටළුවක් නෑ. යහපත් දෙයක් නිසා මේ වගේ බලු කපුටු දානයක් දීල සෙනසුරු පූජාවක් කිරීම කොහොමත් අපතෙ යන්නෙ නෑ. යහපතක්ම සිද්ධ වෙනවා.**

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# ගල් තැලීම් සහ ඉන්නන් සඳහා ප්‍රත්‍යක්ෂ ප්‍රතිකාරයක් ....

විශේෂයෙන් කකුලෙ යටි පතුල වගේ තැනක යම් කිසි කටුවක් වගේ යමක් ඇනුනම, කාලයක් ගිහින් ඇති වන එක්තරා රෝගී තත්ත්වයක් තමයි ගල් තැලුමක් කියන්නෙ. ඒ වගේ දෙයක් ඇනුනම ඒක ඒ ස්ථානයෙන් ශරීරය ඇතුළට ගියොත්, කකුල තියන්න තියන්න ඇතුලට කාවදිනවා. එතකොට ඒක හොයා ගන්න, ඉවත් කරන්න විදියක් නෑ.

උදාහරණ විදියට යම් කිසි කෝණාකාර දෙයක් (පිරමිඩ හැඩැති) ඇනුනොත් ඒ ඇනිච්ච පැත්ත උල වගේ තිබිල, යටි පැත්ත ටිකක් මහතට තිබුනම, පොළවෙ පය ගහන කොට තද වෙන්න තද වෙන්න තවත් ඇතුලට ඇදෙනව මිසක් ආපසු එන්නෙ නෑ. එහෙම ගිහින් අන්තිමට ශරීරය ඇතුලෙ තියෙන අස්ථිවල සිව් කිට්ටුවටම ගිහින් තමයි නවතින්නෙ. එතනට ගියාට පස්සෙ එයින් එහාට යන්න බෑ. අන්න ඒ මට්ටමට ඇවිත් කල් යන කොට ඒක ගැලවෙන්නෙ නැතිව ඒ වටා සෙම, පටක ආදිය බැඳි බැඳී, ඒ කොටස කීරක් වගේ ලොකුවට ඝනකමට පහළට එන්න පටන් ගන්නවා. එහෙම ඇවිත් අන්තිමට පිටි වගේ ඝනකමට හැදෙනවා.

ඒ කියන්නෙ මොනව හරි බාහිර දෙයක් සම හරහා ශරීර ගත වුනොත්, ඒක සෙමත් එක්ක අපද්‍රව්‍යයක් විදියට අහකට දාන්න බලනවා. සෙම පටල මාධ්‍යය කර ගෙන තමයි ඒක අහක් කරන්න බලන්නෙ. නමුත් ඒ සෙම පටලවලට ඒක අහක් කරන්න බැරි නම්, එතැන ගෙඩියක් වගේ ඝනකමට බැඳෙනවා. එහෙම දෙයක් තමයි ගල් තැලීමකදි සිද්ධ වෙන්නෙ. මේ ගල් තැලීමක් කියන්නෙ ශරීරයේ බාහිරින් වුනත් අල්ලල බලල දැනගන්න පුළුවන් ස්වභාවයක්. ඒක හමට ඇලිල තියෙන්නෙ. ඒ බාහිර කොටස තමයි කප කපා ඉවත් කරන්නෙ. හැබැයි ඒක කැපුවට කොස්ස තියෙන කල් සම්පූර්ණයෙන්ම ඉවත් වෙන්නෙ නෑ. මොකද ඒකට අවශ්‍ය කරන ප්‍රත්‍යය නැති නිසා.

ඒ වගේම සමහර අවස්ථාවල කෙනෙක් සපත්තු සෙරෙප්පු නැතිව ඇවිදින කොට, යටි පතුලෙ ගල් කැල්ලක් වගේ දෙයක් තදේට වැදුනමත්, ඒ කැල්ල ශරීරය ඇතුළට නොගියත්, ඒ ඇති වෙච්ච පීඩනය නිසා ටික දවසක් යන කොට අභ්‍යන්තර ලේ ගැලීමක් හෝ සියුම් නහර අවහිර වීමක් නිසා හෝ අපද්‍රව්‍ය එක් රැස්වීමෙන් ගල් තැලීම් වගේ තත්ත්වයක් එන්න පුළුවන්. නමුත් ඒක අර වගේ තද මට්ටමේ අවස්ථාවක් නෙවෙයි. කලක් යන



කොට ඒක නිකම්ම දියවෙලා යනවා. නමුත් අර කලින් සඳහන් කළා වගේ පෙළක් ඒවා එහෙම දියවෙන්නෙ නෑ, එන්න එන්නම වැඩි වෙනවා. තදින්ම යමක් ඇනුනොත් තමයි එහෙම වෙන්නෙ.

ඉතින් මෙන්න මේ වගේ අවස්ථාවක ඒකට ප්‍රත්‍ය කරන සමාධිමය ප්‍රතිකාරයක්, වහරක අභයරතනාලංකාර හිමියන්ගෙ බේත් සමාධියට මීට සෑහෙන කලකට පෙර හසු වෙලා තියෙනවා. ඒ වගේම මේ ප්‍රතිකාරය දැනටමත් ඒ වගේ රෝගී තත්ත්වයක් ඇති වෙච්ච බොහෝ දෙනෙකුටම දීල අත් හදා බලල නිට්ඨාවටම සුව අතට හැරිල තියෙන නිසා තමයි, හැමෝගෙම යහපත පිණිස ඒ ප්‍රතිකාරය මේ විදියට සටහන් කරන්නෙ.

මේ ප්‍රතිකාරයට ගන්නෙ, හතරට පහට නැව්වට පස්සෙ අඟලක විතර දිග පළල තියෙන කපු රෙදි කෑල්ලක්. ඒක අලුත් වෙන්නම ඕන නෑ, පාංකඩ වෙච්ච එකක් වුනත් කමක් නෑ. හැබැයි අලුත් ඒව ගන්නව නම්, කැඳ දාපු නැති එකක් වෙන්න ඕන. ඒ කපු රෙදි කෑල්ල හතරට පහට නවල, කෑමට ගන්න සාන්ද්‍ර (සැර) ලුණු වතුරෙන් හොඳට පොඟවනවා. ඒක එහෙම්ම අරගෙන පොඩි තාච්චියකට පොල් තෙල් පොඩ්ඩක් දාල ඒකත් එක්ක බදිනවා. ඒ විදියට රෙදි කෑල්ල යන්තමට රන් වන් පාට වෙනකල් බැදගන්න ඕන. ඊට පස්සෙ අඩුවක් වගේ දේකින් යන්තමට රස්නෙ තියෙද්දි ඒ රෙදි කෑල්ල බාගෙන, ඒක අර ගල් තැල්ම උඩින් තියල තවත් රෙදි කෑල්ලකින් වෙලනවා. ඒ විදියට හැන්දෑවට හෝ නිදා ගන්න පෙර වෙළල උදේට ලිහල තෙමෙන්න හරිනවා.

ඊළඟ දවසෙත් ඒ විදියට අලුතින්ම හදා ගෙන බැදගත්තු කපු රෙදි කෑල්ලක් ගල් තැලුම උඩ තියල වෙළල උදේට ලිහනවා. මේ විදියට දවස් 4 - 5 ක් එක දිගටම කළාම ඒ තැල්ම සම්පූර්ණයෙන්ම ගැලවිලා යනවා. ශරීරය ඇතුලට කා වැදිච්ච යම් කිසි ද්‍රව්‍යයක් තිබුන නම්, ඒකත් එක්කම දිරා ගෙන පොරොප්ප කෑල්ලක් වගේ ඇදි ඇදී එනවා. එතකොට ඒ තැල්ම ගැලවිලා ඉවත් වෙන්නෙ, මේ ලුණු දාල බැදගත්තු කපු රෙදි කෑල්ලෙ තියෙන බලයෙන්.

ඊළඟට කියන්න යන්නෙ ශරීරයේ විවිධ තැන්වල හට ගන්න ඉන්නන් සඳහා ප්‍රත්‍යක්ෂ පැරණි කෙම් ප්‍රතිකාරයක්. මේ ඉන්නන් නිසා පීඩා විඳින අයත් බොහෝ කොටම ඉන්නවා. ඒ වගේම මේ ඉන්නො හට ගැනීමත් අර ගල් තැලීම් වගේ දෙයක්. ඒ වගේ භෞතික දේකින්මයි හැදෙන්නෙ. ඒ කියන්නෙ යම් කිසි හැදිච්ච අපද්‍රව්‍යයක් තියේ නම් ඒක තැල්මකින් හැදුනත්, බාහිරින් ද්‍රව්‍යයක් ඇතුල් වෙලා හැදුනත් ඒක ශරීරයෙන් ඉවත් වුනේ නැත්නම්, ඒ අපද්‍රව්‍ය අහකට යවන්න ශරීරය උපක්‍රමයක් යොදනවා. ඒ තමයි අර කලින් කියපු විදියටම ඒ වටා සෙම කැදැල්ලක් බැඳීම. ඊට ☞

පස්සෙ ඒ සෙම කැඳැල්ල ටික ටික වැඩි වෙලා ඒ අපද්‍රව්‍ය අහකට තල්ලු කළාම ශරීරයෙන් පිටතට එන සනීභවන තත්ත්වයක් තමයි මේ ඉන්නො කියන්නෙ. ගල් තැලීමක් ශරීරය ඇතුලට යන්නෙ නිතර නිතර පීඩනයට ලක් වෙලා තැලෙන නිසා. නමුත් සම මතු පිට තියෙන ඉන්නො එහෙම පීඩනයකට ලක් වෙන්නෙ නැති නිසා ශරීරය ඇතුලට යන්නෙ නෑ, පිටතට තල්ලු වෙනවා. එහෙම ආරම්භ වෙලා ඒ ඉන්නො ක්‍රමයෙන් වර්ධනය වෙනවා. මේ සඳහා හොඳම සහ පහසුම ප්‍රතිකාරයක් විදියට එක්තරා කෙමක් තියෙනවා. කිසිම වියදමක් යන්නෙත් නැතිව, බොහොම පහසුවෙන් තමන්ටම කර ගන්නත් පුළුවන්.

හැබැයි කෙම් ක්‍රමයක් නිසා මේ ප්‍රතිකාරය කතා නොකර තමයි කරන්න ඕන. ඉස්සෙල්ලම මිදුලෙ තියෙන මොනව හරි වර්ගයේ පුංචි ගල් කැටයක් අහුල ගන්නවා. ඒක ඉන්නගෙ දෙතුන් වතාවක් විතර අතුල්ලනවා. ඒ කියන්නෙ හීරිලා ලේ එනකල් අතුල්ලන්නෙ නෑ, නිකං උඩින් ඇතිල්ලුවම ප්‍රමාණවත්. මොකද ස්පර්ශ වෙනකොටම ඒ ගල් කැටයට ඉන්නගෙන් කිරණ රැනක් සම්බන්ධ වෙනවා. දැන් ඒ ගල් කැටය හිස් ගිනි පෙට්ටියක් ඇතුලට දානවා. සාමාන්‍යයෙන් මොනව හරි දාල යවන්න පහසු නිසා සිරිතක් වශයෙන් ගිනි පෙට්ටියක් ගන්නව මිසක්, නැත්නම් වෙනත් මොනව හරි පොඩි පෙට්ටියක් වුනත් කමක් නෑ.

ඒ වගේම ශරීරයේ තවත් ඉන්නො තියේ නම්, ඒ හැම ඉන්නෙකුටම එක ගල් කැටය බැගින් අර ගෙන, අර විදියටම අතුල්ලල ඒවත් ඒ ගිනි පෙට්ටියට දානවා. ඊට පස්සෙ ඒකට පඬුරක් වශයෙන් කාසියකුත් දාල වහනවා. ඉන්නො ගොඩක් තියේ නම් සහ ඒ සියල්ලම එකට එක බැඳිල තියේ නම්, එක ගල් කැටයක් අරගෙන ඒ හැම එකකම ඇතිල්ලුවම ප්‍රමාණවත්. ඉන්නො ගොඩක් වෙන වෙනම පිහිටල තිබුනොත් ඒ හැම ඉන්නෙකුටම එක ගල් කැටය බැගින් ඕන වෙනවා. එතකොට එක ගිනි පෙට්ටියක් මදි වුනොත් කිහිපයක් වුනත් පාවිච්චි කරන්න පුළුවන්. හැබැයි එතකොට ඒ හැම ගිනි පෙට්ටියකටම පඬුරක් වශයෙන් කාසියක් දාන්න ඕන.

දැන් ඒක පිටි අතට අරගෙන (අතට අරගෙන පිටි පස්සට හරව ගෙන) කතා නොකර හතරමං හන්දියක්, තුංමං හන්දියක්, දෙමං හන්දියක්, නාන තොටුපලක් හෝ රෙදි හෝදන තොටුපලක් වගේ අමනුස්සයො වැඩිපුර ගැවසෙන තැනකට ගිහින් පිටි අතින්ම (පිටි පස්සට හරව ගෙන) අහකට විසි කරනවා. ඒක කාටවත් ගන්න බැරි වෙන තැනකට තමයි ඒ විදියට විසි කරන්න ඕන. මොකද වෙන කවුරුහරි අහුල ගත්තොත් ඒ පුද්ගලයටත් සමහර විට ඒක බලපාන්න පුළුවන්. නැත්නම් ඒ අමනුස්සයින්ට හිමි කරල දීපු දෙයක්, වෙනත් කවුරු හරි ගත්තොත් අමනුස්සයො කුපිත වෙන්න පුළුවන්. ඒ වගේම කිරණ ශක්තිය නිසා ඒ ගන්න කෙනාගෙ ශරීරයටත් යම් කිසි බලපෑමක් එන්න පුළුවන්. මොකද මේ ඉන්නො හැදෙන විවිධ ක්‍රම තියෙනවා. එක ක්‍රමයක් විතරක් නෙවෙයි.

එතකොට මේ තුංමං හන්දි, දෙමං හන්දි, රෙදි හෝදන තොටුපලවල් වගේ ස්ථානවල අමනුස්ස කොටස් බහුලව ඉන්නවා. ඒ වගේ තැන් තමයි ඒ අයගෙ වාසස්ථාන වෙන්නෙ. ඒ තැන්වල ඉඳන්



තමයි ඒ අය මොනව හරි තමන්ට ගැලපෙන ආහාර හොයා ගන්නෙ. මෙතනදි අර ගිනි පෙට්ටිය පිටින්ම ඒ අමනුස්ස කොටස්වලට තමයි භාර දෙන්නෙ. හැබැයි මොකුත් වාක්‍යයක් කියල අඬගහල දීමක් වෙන්නෙ නෑ. පඬුරක් එක්ක දැම්මට පස්සෙ ඒක කොහොමත් අමනුස්සයින්ට සම්බන්ධ වෙනවා. ඊට පස්සෙ ඒකෙ අයිතිකාරයො වෙන්නෙත් ඒ අමනුස්සයො.

දැන් එතකොට මේ විදිහට ඉන්නගෙ ගල අතුල්ලල අර විදියට කොච්චර ඈතට ගෙනිච්චත්, එතැනට යන කල්ම අපිට නොපෙනෙන එක්තරා කිරණ රැනක් හැදෙනවා. ඒ කියන්නෙ ශරීරයේ තියෙන ඉන්නගෙ ඉඳල ඒ ගිනි පෙට්ටියත් එක්ක තියෙන ගල් කැටයට සම්බන්ධ වෙන කිරණ රැනක්. කොච්චර දුරකට ගියත් ඒ රැන තියෙනවා. හරියට අර මනෝ කායත් එක්ක සම්බන්ධ රිදී රැන (Silver Code ) වගෙයි.

උදාහරණයකින් පැහැදිලි කළොත්, යම් කිසි කෙනෙක් සුවඳ විලවුන් තවර ගෙන කොහේ හරි ගමනක් යන කොට ඒක අපේ ඇස්වලට පේන්නෙ නැති වුනත්, ඒ පුද්ගලය ගමන් කරන අඩි පාර ඔස්සේ දිගටම ඒ සුවඳ අංශු ගමන් කරනවා. හුඟක් දුරට යද්දිත් ඒ සුවඳ අංශු එහෙම්ම තියෙනවා. හැබැයි ටික දුරක් ගියාම ඒ සුවඳ, අපේ නාහෙට දැනෙන මට්ටම ඉක්මවා යන නිසා දැනෙන්නෙ නෑ. නමුත් අපිට වඩා සියුම් ඉවක් බල්ලන්ට දැනෙනවා. සුවඳ විලවුන් නැතත් කොහොමත් ඒ ඉව උන්ට දැනෙනවා. ඒ නිසා ඒ පුද්ගලය කොච්චර දුර ගියත්, ඒ අඩි පාර ඔස්සේ බල්ලෙකුට ක්ෂණිකව හොයා ගෙන යන්න පුළුවන්. එතකොට මනුස්සය කොච්චර දුරක් ගියත් බල්ල ඒ ඔස්සේ ඉව අල්ල ගෙන යන්නෙ, යම් කිසි සියුම් කිරණමය රැනක් ඒ පුද්ගලයට සම්බන්ධ නිසා. කිරණ කිව්වට යම් කිසි අංශු රැනක්. ඒක සුළඟටවත් ගහගෙන ගිහින් විනාස වෙන්නෙ නැති නිසා තමයි එහෙම හොයා ගන්න පුළුවන් වෙන්නෙ.

මෙන්න මේ වගේ දෙයක් ඉන්නගෙ ගල් කැටයක් ඇතිල්ලුවමත් සිද්ධ වෙනවා. ඉතින් මේ ගල් කැටයත් එක්ක අර පඬුර තමයි අමනුස්සයින්ට භාර දෙන්නෙ. එහෙම නැතිව මනුස්ස ශරීරය භාර දෙනව නෙවෙයි.

දැන් මේ කිරණ රැන හරහා අමනුස්සයො ඒක උරාගෙන අදින කොට, ශරීරයේ තියෙන ඉන්නගෙ අපද්‍රව්‍යත් ඒ රැන හරහා උන්ට ආහාර වශයෙන් ඇදිල යනවා. උන් අර ගල් කැටයෙ ඉඳන් තමයි කිරණ රැන හරහා ඒ අපද්‍රව්‍ය ඇදල ගන්නෙ. ඒක අදින්න අදින්න ක්‍රමයෙන් ඉන්නගෙ තියෙන අපද්‍රව්‍ය (සාරය) උන්ට ඇදිල යනවා. හරියට එළදෙනකගෙන් කිරි දොවන කොට කිරි ඇදී ඇදී එනව වගේ. උන් ඒක ආහාර වශයෙන් අරගෙන ඒ අපද්‍රව්‍ය ඉවර වෙන කොටම අර රැනෙ සම්බන්ධයත් කැඩිල යනවා. එතකොට ඉන්නගෙ තියෙන අපද්‍රව්‍ය සියල්ලම ඇදිල ඉවරයි. අමනුස්සයින්ට හිමි කාල සීමාව එච්චරයි. එයින් එහාට ශරීරයේ තියෙන වෙනත් දෙයක් අදින්න බෑ. ඒ නිසා මනුස්ස ශරීරයට ඒකෙන් කරදර කරන්න බෑ. ඉන්නගෙ අපද්‍රව්‍ය සාරය ඇරෙන්න, ශරීරයේ වෙනත් කොටසක් ඇදල ගන්න බෑ. මොකද ඒ ඉන්නගෙ සාරය ඉවර වෙනවත් එක්කම ඒ සම්බන්ධ කරන කිරණ රැන කැඩිල යන නිසා. ඉතින් මේක අති සියුම් ක්‍රියාවලියක්. දිවැසකට පෙනුනොත් මිසක්, මනුස්සයින්ගෙ ඇහැට

පේන්නෙ නෑ. ඒ නිසා මේ වගේ කාරණා විද්‍යාවට අහු වෙන්නෙත් නෑ. නමුත් දැනට තියෙන කිරිලියානු කැමරා වගේ නවීන අධි තාක්‍ෂණික උපකරණවලට සමහර විට අහු වෙන්න පුළුවන්. ඉතින් මේ ක්‍රමය හරියට අනුගමනය කරල දළ වශයෙන් මාසයක් විතර ගියාට පස්සෙ, ශරීරයේ තිබිච්ච ඉන්නො සම්පූර්ණයෙන්ම අතුරුදන් වෙනවා. මොනව වුනාද කියල හොයා ගන්නත් බෑ. ඒ කරපු ක්‍රමවේදයේ අඩුපාඩුවක් නිසා හෝ තදබල කර්ම වේගයක් නිසා හෝ කෙනෙකුට එහෙම සනීප නොවී තියෙන්නත් පුළුවන්.

ඒ වගේම මේ කෙම් ක්‍රමය පටන් ගත්තට පස්සෙ අතර මග නතර කරන්නෙ නැතිව එක දිගටම කරල ඉවර කරන්න ඕන. ඒ කියන්නෙ ගල් කැටය ඉන්නගෙ අතුල්ලල ගිනි පෙට්ටියට දාල වහල පැත්තකින් තියල, නැවතත් වෙන මොනව හරි වැඩ කටයුත්තක් කරල ඉඩ ලැබිච්ච වෙලාවක ඒක අරගෙන ගෙනිහින් දැම්මට සාර්ථක වෙන්නෙ නෑ. මොකද එතකොට ඒ ක්‍රියාවලිය වෙනස් වෙනවා. ඒ නිසා වැඩේ පටන් ගත්තට පස්සෙ ඒක එක දිගටම කරල ඉවර කරන්න ඕන. ඉතින් මේ ක්‍රමය හුඟක් ඉස්සර ඉඳන්ම අත් හදා බලපු සාර්ථක ක්‍රමයක්.

ඒ වගේම සමහර අයගෙ ඔළුවෙ හමට යටින් ගෙඩි එන අවස්ථා තියෙනවා. එහෙම ඇවිත් මතු පිටට ලොකු වෙලා පේනවා. ඒව තියෙන්නෙ ශරීරයේ අභ්‍යන්තරයෙ නෙවෙයි, හම මතු පිටින්. නිකං තෙල් ගෙඩි වගේ ජාතියක්. හැබැයි ඒව සැරව තියෙන පැසවන ජාතියේ ගෙඩි නෙවෙයි. නමුත් පෙළක් අයගෙ ඔය වගේ තිබිල කාලයක් යන කොට ඒ ගෙඩි ලොකු වෙලා සනීභවන වෙනවා. ඉතින් මේ වගේ අවස්ථාවලටත් අර ඉන්නන්ට කරපු කෙම් ප්‍රතිකාරයම කරන්න පුළුවන්. ගල් කැටයක් අරගෙන ඒ ගෙඩියෙ අතුල්ලල අර විදියටම පඬුරක් එක්ක ගෙනිහින් දැම්මම ඒක නැති වෙලා යනවා.

මේ සම්බන්ධයෙන් අභයරතනාලංකාර හිමියන්ට අත්දැකීම් කිහිපයකුත් තියෙනවා. එක්තරා පුද්ගලයෙක්ගෙ පොඩි කාලෙ අතපයේ, ඇඟ හැම තැනම ඉන්නො එකසිය ගණනක් තිබුණා. මේ පුද්ගලය ඒ ගානට හරියන්න පුංචි පුංචි ගල් කැට එකසිය ගණනක් අරගෙන ඒ ඉන්නන්ගෙ අතුල්ලල, ඒ කාලෙ තිබිච්ච ලොකු ගිනි පෙට්ටියකට පඬුරකුත් එක්ක දාල වහල, අර වගේ තුංමං හන්දියකට ගෙනිහින් දැම්මා. සති 2 - 3 ක් යන කොට අර ඇඟ හැම තැනම තිබිච්ච ඉන්නො ඔක්කොම අතුරුදන් වුණා. ඒ වගේම මෑත කාලීන සිද්ධියක් ගත්තොත්, එක්තරා භික්ෂූන් වහන්සේ නමකගෙ හිසේ අර කියපු ජාතියෙ ගෙඩියක් ආවා. උන් වහන්සේත් මේ කෙම් ක්‍රමය දැන ගෙන, ගල් කැටයක් අරගෙන අර විදියටම කෙම් ක්‍රමය කරල, සතියක් විතර යන කොට ක්‍රමයෙන් ඒ ගෙඩිය අඩු වෙලා ගිහින් තවත් ටික කලකදි සම්පූර්ණයෙන්ම අතුරුදන් වුණා. ඒ වගේම දැනට අත්හදා බලල නැතත්, යම් කිසි විදිහකින් කෙනෙකුගෙ ශරීරයේ තියෙන වණ වෙච්ච තුවාල, විස ගෙඩි ආදිය සඳහාත් මේ ක්‍රමය අත්හදා බලන්න පුළුවන්. කිසිම අතුරු ආබාධයක් නැති නිසා එහෙම අත්හදා බැලුව කියල ගැටලුවක් නෑ.

ඒ වගේම මේ කෙම් ප්‍රතිකාරයේ එන සමහර ක්‍රම සම්බන්ධයෙන්, ඒවට හේතු මොනවද කියල දැන ගන්නත් කෙනෙකුට අවශ්‍ය වෙන්න පුළුවන්. ඒ කාරණා මේ විදියට පැහැදිලි කරන්න පුළුවන්.

දැන් මේ කෙම් ක්‍රමය කතා නොකර සිද්ධ කරන්නත් හේතුවක් තියෙනවා. අමනුස්සයෙකුට යමක් බාර දෙන කොට කතා කළොත්, ඒ අමනුස්සයගෙ සම්බන්ධය අහක් වෙනවා. ඒ වගේ වෙලාවකදි කතා කර කර භෞතික ලෝකයත් එක්ක සම්බන්ධ වෙලා ඒ වැඩේ කරන්න ගියොත්, ඒ අයගෙ අධ්‍යාත්මික ලෝකයත් එක්ක තියෙන සම්බන්ධය බිඳ වැටෙනවා. එතකොට ඒ අවස්ථාවෙදි අමනුස්සයට ඒ හිමිකම නැති වෙනවා. වැඩේ කරන කල් ඒ අදාල පුද්ගලය ශබ්ද කම්පනයක් කටින් පිට කළොත් ඒ ක්‍රියාවලියට බාධා එනවා. මොකද මෙතනදි පුද්ගලයගෙ මනස තමයි ප්‍රධාන වෙලා ක්‍රියාත්මක වෙන්නෙ. ඒ නිසා කතා කළොත් ඒ මානසික ක්‍රියාවලිය වෙනත් අතකට ගිහින් ඒ වැඩේට බාධා එනවා.

දැන් මේ කාරණය පෙන්වන්න පුළුවන් තැනක් තමයි, ඉන්ද්‍රජාල මහේන්ද්‍රජාල කියන මැජික් ශිල්පය. ඒ අයත් ඒ දර්ශන පෙන්වන්න පටන් ගත්තට පස්සෙ වැඩේ ඉවර වෙන කල් ගොළු භාෂාවෙන් කතා කරනව මිසක්, කට හොල්ලල වචන කතා කරන්නෙ නෑ. නිහඬව ඉඳගෙන ගොළු භාෂාවෙන් වගේ තමයි ඒ සියල්ලම පෙන්වන්නෙ. මොකද කතා කළොත් ඒ ශක්තිය නැති වෙලා යනවා. අන්න ඒ වගේ දෙයක් තමයි මෙතනදි සිද්ධ වෙන්නෙත්.

ඒ වගේම මෙතනදි මේ ගල් කැට සහ පඬුරු සහිත ගිනි පෙට්ටිය පිටි අතින් අරගෙන පිටිපස්සට විසි කරන්නත් හේතුවක් තියෙනවා. මොකද එතකොට තමයි අපි අල්ල ගෙන ඉන්න දෙයක අයිතිය පූර්ණ වශයෙන්ම අත හැරෙන්නෙ. ඉස්සරහින් විසි කළොත් අයිතිය අත් හැරීම පූර්ණ නෑ. සාමාන්‍යයෙන් ගෙදරක තියෙන වැඩකට නැති දෙයක්, අපද්‍රව්‍යයක් වුනත් අහකට දාන්නෙ පිටි පස්සට ගිහින්, එහෙම නැත්නම් පිළිකන්නට විසි කරනවා. එහෙමත් නැත්නම් තමන්ගෙ දකුණින් හෝ වමින් පැත්තකට වෙන්න විසි කරනවා. ඒක තමයි සාමාන්‍ය සිරිත. නමුත් ඒ විදියට තමන්ගෙ අයිතියෙන් බැහැර කරන්නෙ නැති, තව දුරටත් තමන්ට අයිති වටින දෙයක් නම්, අර වගේ පැත්තකින් හෝ පිටි පස්සෙන් විසි කරන්නෙ නෑ. ඒ වගේ දෙයක් සාමාන්‍යයෙන් ඉස්සරහින් තමයි දාන්නෙ. අහකට දාන දෙයක් තියේ නම් තමයි පැත්තකට දාන්න බලන්නෙ. අපේ මනස ගතියට අනුව හැදිල තියෙන්නෙ එහෙමයි.

ඒ වගේම පඬුරක් විදියට කාසියක් දමන්නෙ, ඒ අමනුස්සයින්ට ඒක හිමි කරල භාර දෙන්න. හරියට කෙනෙකුට වැඩක් භාර දීල ඒකට යම් කිසි පඩියක්, එහෙම නැත්නම් තුටු පඬුරක් දෙනව වගේ. වැඩේ නිකම්ම භාර දුන්නට ඒක හරියට කෙරෙන්නෙ නෑ. ඒ වගේ ලෝක සම්මතයෙත් කෙනෙකුට වැඩක් භාර දෙන ක්‍රමයක් තියෙනවා. අමනුස්සයින්ට කාසිය ප්‍රයෝජනවත් නොවුනත්, පුංචි වුනත් උන්ට ඒක වටිනවා. ඒකෙන් ඒ අයගෙ හිත සන්තෝස වෙනවා. ඒ වගේම ඒ අය පඬුරකුත් බලාපොරොත්තු වෙනවා. පඬුරක් දැම්ම කියල ඒ අමනුස්සයො දැන ගන්නවා. ඒ අයගෙ ලෝකෙට ඒක කිරණ වශයෙන් මැවිල යනවා. ඒ හිමිකම ලැබෙන කල් තමයි ඒ අය බලාගෙන ඉන්නෙ.

මේ කාරණය උදාහරණයකින් පැහැදිලි කළොත්, යම් කිසි කෙනෙකුට තවත් කෙනෙක්ගෙන් ණය මුදලක් එන්න තියේ නම්, ඒ ණය මුදල ණයකරු විසින් ණය හිමියගෙ පොතට දැම්මත් ප්‍රමාණවත්. ඒක පොතට දැම්ම කියල ණය හිමිය දැන ගත්තනම් වෙනම ඒ මුදල නැවතත් අතට ගන්න ඕන නෑ. ණය පියවුනයි කියන කාරණය ඒ පුද්ගලය දැන ගන්නවා. ඒ වගේ දෙයක් මෙතනදිත් සිද්ධ වෙනවා. අමනුස්සයො ඒ කාසිය පරිහරණය නොකළට, ඒ අයගෙ නමින් හිමිකම තියෙනව කියල අදහසක් සන්තෝසයක් එනවා. භූමියක නිධන් වස්තු තැන්පත් කරනව කියන්නෙත් මේ වගේ දෙයක්. ඒ තැන්පත් කරන නිධන් වස්තුවලින් බහිරවයින්ට ප්‍රයෝජනයක් ගන්න බැරි වුනාට, තමන්ට මෙච්චර තියෙනව කියල ඒ අය සතුටු වෙනවා.

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# මස් ලේ කයේ මරණින් පසු එන ගන්ධබ්බ අවස්ථාව ගැන තවදුරටත් ....

යම් කිසි කෙනෙක් මස් ලේ කයින් මළාට පසු ඇති වන ගන්ධබ්බ අවස්ථාව මුල් දින 7 ගත කරන ආකාරය තමයි පසුගිය කලාපයෙන් විශේෂයෙන් විග්‍රහ කළේ. ඒ සම්බන්ධයෙන් වන විවිධ පැතිකඩවල් ඔස්සේ තවත් අමතර කරුණු පැහැදිලි කිරීමක් තමයි මේ ලිපියෙන් සිද්ධ කරන්නෙ.

ආයුක්ඛය හෝ උපච්ඡේදක මරණයකදි මේ ගන්ධබ්බ අවස්ථාව දින 7 ගත කිරීම සම්බන්ධයෙන් තමයි මීට කලින් විශේෂයෙන් පැහැදිලි කළේ. හැබැයි මේ කාරණය කර්මක්ඛය හෝ උභයක්ඛය මරණවලටත් අදාලයි. ඒ කියන්නෙ මේ කයත් අත් හැරියා, මතු කයකට ගියෙත් නෑ, මේ අතර තුර සත්වයා කුමක් උපාදාන කර ගෙන ජීවත් වෙනවද කියල ඇහුවම, ඒ කාරණය මේ හතර ආකාරයෙන්ම මරණය සිද්ධ වෙන අයටත් අදාලයි. කර්මක්ෂය හෝ උභයක්ෂය වෙලා මියගිය කෙනෙක් නම් චුති පටිසන්ධි ලබල යන ක්‍රමයක් තියෙනවා. පළමුවෙන්ම ඕපපාතික. ඊළඟට සංසේදජ. ඊළඟට අණ්ඩජ හෝ ජලාබුජ ක්‍රමයට තමයි ඊළඟ උප්පත්තියට යන්නෙ.

අණ්ඩජ කියන්නෙ බිත්තර-වලින් බිහිවන සත්තු, ජලාබුජ කියන්නෙ ජලයේ උපදින සත්තු, එහෙම නැත්නම් වැදෑමහින් උපදින සත්තු, සංසේදජ කියන්නෙ කුණු මස් ආදියෙන් හට ගන්නා සත්තු, ඕපපාතික කියන්නෙ ඉබේ පහළ වෙන සත්තු ... ආදී වශයෙන් කියන්නෙ අටුවාචාරීන්ගෙ මත. නමුත් එහෙම කාරණයක් නෙවෙයි මේ පෙන්වන්නෙ. එක සතෙක්ගෙ උප්පත්තිය ගත්තම, මේ එකම ක්‍රමයකින් නෙවෙයි සිද්ධ වෙන්නෙ. මේ විවිධ ක්‍රමයන්ගෙ මිශ්‍රණයකින් තමයි සතෙක් උප්පත්තිය ලබන්නෙ. හැබැයි එතනදි බාහිරට විද්‍යමාන වෙන බිහිවන ක්‍රමය අරගෙන තමයි ඒකට අර වගේ ප්‍රධාන නමක් දීල තියෙන්නෙ. නමුත් හැම සත්වයෙක්ම මැරෙන කොට ඔය ක්‍රම හතරෙන් හෝ තුනකින් තමයි ඊළඟ උප්පත්තියට ගිහින් පූර්ණ වෙන්නෙ. ඉස්සෙල්ලම ඕපපාතික ක්‍රමයට තමයි චුත වෙලා පටිසන්ධි ලබන අවස්ථාව ආරම්භ කරන්නෙ.

මෙතනදි කර්මක්ඛය හෝ උභයක්ඛය මරණ ගත්තොත්, චුති පටිසන්ධියක් සිද්ධ වෙනවා. චුති පටිසන්ධි කියන්නෙ පූර්ණ කර්මජ අවස්ථාවක්. කර්මජ නම් ඒ අවස්ථාව ඕපපාතිකයි. ඒ අවස්ථාව සුළු මොහොතයි තියෙන්නෙ. එතකොට මොහොතකින් නව නිර්මාණයන් වෙනවා. ඊළඟට කාය දසක, භාව දසක, වස්තු දසක කියල දසක තුනකින් ඒ ගන්ධබ්බය කර්මජ උප්පත්තිය ලබනවා. ඒ අවස්ථාව ඒකාන්තයෙන්ම ඕපපාතිකයි. ඊට පස්සෙ චක්ඛු දසක, සෝත දසක, ඝාන දසක, ජිව්හා දසක ආදී



වශයෙන් ගන්ධබ්බ කයේ ඉතිරිය හැදෙන්නෙ සංසේදජව. ඒ නිසා තමයි ගන්ධබ්බයට අහන්න, බලන්න පුළුවන් හැකියාව ලැබෙන්නෙ. මනුස්සයෙක් මේ ලෝකෙ උප්පත්තියට එන කොටත් ඔය සංසේදජ උප්පත්ති අවස්ථාව පහු කර ගෙන තමයි එන්නෙ. චුති පටිසන්ධි නොවුණොත් විශේෂයෙන් ගන්ධබ්බ අවස්ථාවෙ තමයි ඉන්නෙ. එතකොට සංසේදජව තමයි බොහෝ කොටම පෝෂණය වෙන්නෙ.

ඒ වගේම මුලින්ම මනුස්සයින් මේ ලෝකෙට බිහි වෙන කොටත් ඔය ක්‍රමය පසු කර ගෙන තමයි ඇවිත් තියෙන්නෙ. ඉස්සෙල්ලම ඕපපාතිකව බිහිවීම තමයි ආදී බ්‍රහ්ම කල්පික මිනිස් අවස්ථාව කියන්නෙ. චුති පටිසන්ධි ලැබුව තැන් පටන් ඕපපාතිකව ආරම්භ කරල ඊට පස්සෙ ගන්ධබ්බ අවස්ථාවෙදි විශ්වයේ තියෙන ගඳ සුවඳ මට්ටම ඇද ගන්නවා. ඒක භුක්ති විඳින්නෙ ඒ ගන්ධය ශරීරයට උරාගෙන. එහෙම නැතුව කටින් ගන්නව නෙවෙයි. ආස්වාස ප්‍රාස්වාසයෙනුත් ඒ වෙනකොට වටේ තියෙන සුවඳ අංශු ඇදල ගන්නවා. ඒක සංසේදජ මුල් අවස්ථාවක්.

ඊළඟට මහ පොළවෙ තියෙන නැවුම් සුවඳවත් ආහාරය ආග්‍රහණය කරන කොට ඒකත් ශරීරයට උරන්න පටන් ගන්නවා. එතකල් මූලික වශයෙන් ජීවත් වෙන්නෙ කර්ම චිත්ත ක්‍රියාකාරීත්වයෙන්. මේ විදියට උරා ගන්න කොට ගන්ධබ්බ කය පරිවර්තනය වෙලා තමයි ඊළඟට සියුම් ඝනීභවනයට මුල පුරන්නෙ. මේ සංසේදජ අවස්ථාවෙදි බාහිරින් තමයි අවශ්‍ය පෝෂණය ඇද ගන්නෙ. ඊට පස්සෙ කබලිංකාර ආහාරවලින් ආහාරජ කයක් හෙවත් ඝනීභවන කයක් හදා ගෙන ක්‍රමයෙන් කටින් ආහාර ගන්න තත්ත්වයට පත් වෙනවා. ඒකෙන් තමයි මහ පොළව ලෙව කාල ශරීරය වැඩෙන්නෙ. ඊට පස්සෙ අඟ පසඟ හැදිල ස්ත්‍රී පුරුෂයන් විදියට එකතු වෙලා ඊළඟට එන අණ්ඩජ, ජලාබුජ උප්පත්ති ක්‍රමය කියන්නෙ මෝරපු අවස්ථාවන්. ඒ ක්‍රමවලට එන කොට ආහාරයට තමයි ඉස්සෙල්ලම බැල්ම දා ගන්නෙ. ඒකෙන් ඝනීභවන කයක් හදා ගන්නවා. ඊට පස්සෙ තමයි මව් කුසක දරුවෙක් විදියට ජලාබුජ උප්පත්තියකින් බිහි වුණේ. දරුවෙක් විදියට ඉපදුනත් ගැබට ආවෙ අර පළමුව කියපු චුති පටිසන්ධියෙන් ඕපපාතික අවස්ථාව සහ සංසේදජ සූක්ෂම අවස්ථාව පහු කර ගෙන.

ඊළඟට ගන්ධබ්බයෙක් බවට පරිවර්තනය වුනේ සංසේදජව. ඊට පස්සෙ මව් කුසට ඔක්කන්ති වෙලා වැඩුනෙ ජලාබුජව. එහෙම නැතිව කුරුල්ලෙක්, සර්පයෙක් වගේ සතෙක් නම් බිත්තරය ඇතුලෙ අණ්ඩජව හැදෙන්න පුළුවන්. හැබැයි බිත්තරය ඇතුළට ඔක්කන්ති වෙන්නෙත් ඉස්සෙල්ලම ඕපපාතිකව පහළ වෙලා, ඊළඟට සංසේදජ අවස්ථාවත් පහු කරගෙන. මේ සංසේදජ අවස්ථාව හරි සූක්ෂමයි, හොයන්න බෑ. ගන්ධබ්බය ☞

ක්‍රමයෙන් සනීභවනය වෙන කොට ඒ අවස්ථාව තමයි සත්වයා හැදිල වැඩිල මස් ලේ කයකින් පේන්නෙ. සංසේදජ අවස්ථාවෙදි කර්මජ, චිත්තජ, උතුජ කියන රූප කලාප තුනකින් ත්‍රිජ කාය හැදිල ඊළඟට ටිකක් ඝන වෙනවා. ඒ අවස්ථාවෙදි ගන්ධබ්බය, ගන්ධය උරා බීල තවත් ටිකක් ඝනීභවන වෙනවා. හැබැයි ඒ ගඳ සුවඳ මට්ටමට මිසක් අපේ ඇහැට පේන මට්ටමක් නෙවෙයි. ඒ මට්ටමත් සංසේදජයි.

ඒ වගේම ගන්ධබ්බය තණ්හාව උපාදාන කර ගෙන ජීවත් වෙන බව පටිච්ච සමුප්පාද චක්‍රය තුළින් ඔප්පු කරල පෙන්වන්න පුළුවන්. එතකොට තණ්හාව කියන්නෙ මොකක්ද? මොන වගේ හේතුවකින්ද හට ගන්නෙ? වේදනා පච්චයා තණ්හා කියන සිද්ධාන්තයෙන්. වේදනාව නිසා තණ්හාව හැදෙනව මිසක් වේදනාවක් නැත්නම් තණ්හාවක් නෑ. එහෙනම් වේදනා සම්ප්‍රයුක්තයි. ඒ කියන්නෙ තණ්හාව හට ගන්නව නම් වේදනාව සමගයි යෙදෙන්නෙ. එතකොට වේදනාව නිසා තණ්හාව හැදෙනවයි කිව්වම මොන වේදනාව නිසාද හැදෙන්නෙ, කොහොමද හැදෙන්න කියල දැන ගන්න ඕන.

සුඛ වේදනාවක් සමග සුඛයට තණ්හාවක් එනවා. හැබැයි දුක් වේදනාවක් සමග දුකට තණ්හාවක් එන්නෙ නෑ. දුක් වේදනාවක් එන කොට ඒ දුකෙන් වෙන් වෙන සුඛයක් අරමුණු වෙනවා. අන්න ඒකට තණ්හාවක් ගොඩ නැගෙනවා. ඒකත් පැවැත්මක්. දුක් වේදනාවක් ආවොත් ඒකෙන් මිදිල සුඛ වේදනාවක් දෙන දෙයක් අල්ලගන්න තණ්හාවක් හට ගන්නවා. ඒ නිසා ඒකත් එන්නෙ වේදනාවකින්. මොකක්ද ඒ වේදනාව? මට මේ දුකෙන් මිදිල බලාපොරොත්තු වෙන සුවය ලබා ගන්න විදියක් නැනෙ කියල දැඩි දාහයක්, මානසික වේදනාවක් එනවා. කොහොම හරි මිදිල ලෞකික ආස්වාදයක් ලබාගන්න ඕන කියල අදහසක් එනවා. ඒකත් වේදනාවක්. හැබැයි මෙතනදි දුකෙන් මිදිල ආස්වාදයක් බලාපොරොත්තු වෙනව කිව්වම අදහස් කරන්නෙ, අවිද්‍යා නිරෝධයෙන් ලබන දුකින් මිදීම නෙවෙයි. දුකින් මිදිල ලෞකික වූ සුවයක් තියෙන පැවැත්මක් හොයන තණ්හාව තමයි මේ කියන්නෙ. ඒ කියන්නෙ මොහොතක හෝ අනාගත වේදනා පිළිබඳ ඇතිවන තණ්හාව. නමුත් පැවැත්ම කෙළවර කිරීමයි දුකින් මිදීම කියන්නෙ කියල දැක්කොත්, ඒක නිවනට හේතු වෙනවා. ඒක තණ්හාවක් නෙවෙයි. ඒකට කියන්නෙ ඡන්ද ඍද්ධි පාද කියල. මොකද තණ්හාව කියන්නෙ යම් කිසි තැනක හාවීම. තැන කියන්නෙ ලෞකික දෙයක්. නමුත් නිවනට තැනක් නෑ.

ඊළඟට ස්පර්ශයක් නැතිව වේදනාවක් හට ගන්නෙ නෑ. ඒ තමයි හේතු ඵල දහම. හේතුවක් නැතිව ඵලයක් හට ගන්නවයි කිව්වොත් ඒ කතාව පටිච්ච සමුප්පාද චක්‍රයට විරුද්ධයි. ''හේතුං පටිච්ච සම්භූතං හේතු භංගා නිරුජ්ජති'' කියන සිද්ධාන්තය මෙතනදි අදාලයි. ඒ නිසා ස්පර්ශය කියන හේතුවේ ඵලයක් තමයි වේදනාව කියන්නෙ. ස්පර්ශය කියන ඵලය හට ගන්නෙ සලායතනවල හේතුවෙන්. ඇස, කන, නාසය, දිව, ශරීරය, මන කියන මේවා ආයතන කරගත්තම ස්පර්ශ 6 ක් හට ගන්නවා. සලායතන පච්චයා ඵස්සෝ කිව්වම, සලායතන නිසා තමයි ස්පර්ශය හට ගන්නෙ. ඒවා ස්පර්ශ වීමෙන් තමයි වේදනා හටගන්නෙ. එතකොට ස්පර්ශයක් එන්න නම් අනිවාර්යෙන්ම සලායතන තියෙන්න ඕන. ඒ නිසා මේ සියල්ලම සම්ප්‍රයුක්තයි. ඒ කියන්නෙ සමග යෙදෙන දහම්. ඊළඟට සලායතන හට ගන්න නම් නාම රූපයන් තියෙන්න ඕන. මොකක්ද නාමය? මොකක්ද රූපය? සූක්ෂම නමුත් හිතක් තිබිය යුතුයි, ගතක් තිබිය යුතුයි. මේ දෙක තමයි නාම රූප කියන්නෙ. නාම රූප නැත්නම් ආයතන හැදෙන්නෙ නෑ. ආයතන නැත්නම් තණ්හා උපාදාන වෙන්නෙත් නෑ.

ඊළඟට නාම රූප හැදෙන්න නම් විඤ්ඤාණයක් තියෙන්න ඕන. රූප, වේදනා, සඤ්ඤා, සංඛාර නැතිව විඤ්ඤාණයක යෑමක් ඒමක්, ගමන් කිරීමක්, චුතියක්, හිටීමක් හෝ වැඩීමක් නොකියමි කියල බුදුන් වහන්සේ දේශනා කළා. ඒක සිද්ධාන්තයක්. එතකොට විඤ්ඤාණය නිසා තමයි නාම රූප තියෙන්නෙ. විඤ්ඤාණය නැත්නම් ඒ ටිකත් නෑ. විඤ්ඤාණය සංඛාර ප්‍රත්‍යයෙන් තමයි හට ගන්නෙ. ඒ නිසා පුද්ගලය (ගන්ධබ්බයා) විසින් යම් සංඛාරයක් ගොඩ නැගිය යුතුයි. එතනදි ජීවත් වීමේ සංඛාරය තමයි පළවෙනි එක. ඒත් එක්කම මොහොතකින් මේ විඤ්ඤාණ, සලායතන, ස්පර්ශ, වේදනා ආදිය ගොඩනගල තණ්හාව කියන තැනට උපාදාන කරනවා. එතකල්ම මේ වැඩපිළිවෙල සම්ප්‍රයුක්තයි. ඒ නිසා සම්ප්‍රයුක්තයකින් තමයි ගන්ධබ්බය ඉන්නෙ. යම් තැනක තණ්හාවක් උපාදාන කරයි නම්, ඒකාන්තයෙන්ම සූක්ෂම හෝ ගතක් සමග හිතක් තියෙන්න ඕන. ඒ නිසා ගන්ධබ්බයෙක් කියන සත්ත්ව අවස්ථාවක් ඉන්නව කියල ඔප්පු වෙනවා. මේ කයත් අතහැරල මතු කයකට ගියෙත් නැති, මේ අතර කාලය, පටිච්ච සමුප්පාද චක්‍රයෙන් මේ විදියට විග්‍රහ කරන්න පුළුවන්.

දැන් ඊළඟට කෙනෙකුට ප්‍රශ්නයක් එන්න පුළුවන්, ඒ සියුම් ගන්ධබ්බයා තණ්හාව විතරද උපාදාන කරගෙන ජීවත් වෙන්නෙ, ඇයි ආහාර ගන්නෙ නැද්ද කියල. ආහාර තමයි ගන්ධය. උපාදාන කරගන්නෙ තණ්හාව. එතකොට මොකටද තණ්හාව ඕන වෙන්නෙ? අරමුණකටයි ඕන වෙන්නෙ. අරමුණක් නැතිව තණ්හාවක් හැදෙන්නෙ නෑ. ගන්ධබ්බයට විතරක් නෙවෙයි, මේ මස් ලේ කයින් ඉන්නකොටත් තණ්හාව තියෙනවා. නමුත් මනුස්සයා මස් ලේ කයින් ජීවත් වෙනකොට කය නිරුපද්‍රිතව තියෙන නිසා කය පිළිබඳ ප්‍රශ්නයක් නෑ. හරියට අර පසුගිය කලාපයෙන් පැහැදිලි කළ, කරේ තියෙන රන් මාලය වගේ. කරදරයක්, බාධකයක් නැතිව ඉන්න තාක් කල් ඒ පුද්ගලයට ඒ ගැන විශේෂ බයක් දැනෙන්නෙ නෑ. ඒ සම්බන්ධයෙන් මතු පිටින් පේන ඇලීමකුත් නෑ. හැබැයි කවුරුහරි ඒ මාලය උදුරගන්න ආවොත්, ක්ෂණිකවම ක්‍රියාත්මක වෙලා ඒක අල්ල ගන්න, හිර කරගන්න බලනවා. එතකොට ඒ වෙලාවෙ තණ්හාවක් ඇතිවෙනවා.

තවත් උදාහරණයකින් පැහැදිලි කරනව නම්, අපි පාරෙ ගමන් කරන කොට මරණ බයක් නෑ. ඒ නිසා කිසි ගානක් නැතිව ඔහේ යනවා. නමුත් සැඩ පහරක් ගලා ගෙන යන ඇළකින් යන්න වුනොත්, වැටෙයි කියල බයක් ඇති වෙනවා. එතකොට මරණ බයක්, ජීවත් වෙන්න ආසාවක් ඇති වෙනවා. ඇළෙන් යන කොට අල්ල ගන්න අත් වැලක් නැත්නම්, සැඩ පහරත් ගලාගෙන යනව නම්, වෙව්ල වෙව්ල තමයි යන්නෙ. නමුත් මහ පාරෙ යන කොට එහෙම නෑ, බොහොම නිදහසේ සැහැල්ලුවෙන් යන්නෙ, මරණ බයක් නෑ. මොකද අපිට බාධකයක් කරදරයක් නෑ කියල දැනුනොත්, අපි අපේ කය ගැන විශේෂ සැලකිල්ලක් දක්වන්නෙ නෑ. ඒ වගේ දෙයක් තමයි මෙතනදි සිද්ධ වෙන්නෙත්.

ඒ වගේම පසු ගිය කලාපයෙන් විස්තර කළ ගන්ධබ්බයගෙ මුල් දින 7 ක කතාව, ඒ විදියටම අදාල වෙන්නෙ චුති පටිසන්ධි නොවී මස් ලේ කයේ මරණයක් සිද්ධ වෙලා යන අයට තමයි. එතකොට යම් විදියකින් මස් ලේ කයේ මරණයක් සිද්ධ වෙලා ගන්ධබ්බ අවස්ථාව ගත කරන අතරෙදි චුති පටිසන්ධියක් වුනොත්, මේ දින 7 ක කතාව අදාල වෙන්නෙ කොහොමද? ඒ වගේ අවස්ථාවකදිත් ඒ ගන්ධබ්බය අලුත් ගතිවලට පරිවර්තනය වීමක් සිද්ධ වෙනවා. චුති පටිසන්ධියක් ලැබුවොත්, මනුස්සයින්ට නම් පෙර අත්බැවේ ගති ලක්ෂණ ඒ විදිහටම එන්නෙ නෑ. අලුත් මිනිස් ගති තමයි එන්නෙ. නමුත් ඒ ගතිත් විවිධාකාරයි. තමන් ප්‍රගුණ කරගත්තු ගතිය තමයි එතනදි ප්‍රධාන

වෙන්නෙ. ඒ කාරණය තමයි එල්ල වෙන්නෙ. උදාහරණ විදියට කෙනෙක් ගෙදර ඉන්න කොට, සමහර විට ඉස්සර සිද්ධ වෙච්ච අකරතැබ්බ මතක් වෙලා දුක් වෙනවා, අඬනවා, තරහ යනවා. මේ වගේ විවිධාකාරයේ දුක්ඛ දෝමනස්ස තත්වයන්ට පත් වෙනවා. හැබැයි ඒ පුද්ගලයා මඟුල් ගෙදරකට ගියොත් මේ තත්ත්වය වෙනස් වෙනවා. එතකොට අලුත් පරිසරයක් එන්නෙ. මඟුල් ගෙදර ඉන්න කොට අර දුක්ඛ දෝමනස්සයන් ආස්වාදයන්ට වැහිල යනවා. ඒ පරිසරයෙදි පිරිස එකතු වෙලා සන්තෝසයෙන් අල්ලාප සල්ලාපයේ යෙදෙනවා, රස මසවුළු අනුභව කරනවා. මේ වගේ විවිධාකාරයේ විනෝදාස්වාද ජනක දේවල්. හැබැයි ඒ මඟුල් ගෙදර ඉන්න අවස්ථාවට විතරයි. ඒ වෙලාවෙ අර ගෙදර ඉඳෙද්දි ආපු සිතිවිලි මතක් වෙන්නෙ නෑ. මේ තමයි සාමාන්‍ය ස්වභාවය.

මෙන්න මේ වගේ චුති පටිසන්ධියක් ලැබුවොත්, අර සියල්ල එකින් එක වෙනස් වෙනවා. නව මානසිකත්වයකට ගියා වගේ අලුත් වෙනවා. එතකොට අර දින 7 ඒ විදියටම නෙවෙයි ගෙවෙන්නෙ. උදාහරණ විදියට අපි පොදු මානසිකත්වයකින් ගෙදර ඉන්නවා. එතකොට අපිට අපේ සාමාන්‍ය ජීවිතයේ දේවල් තමයි මතක් වෙන්නෙ. පොදුවේ විවිධාකාරයේ දේවල් මතක් වෙන්න පුළුවන්. ඒ වගේ විවිධාකාර සිතිවිලි, මතක සටහන් එනවා. නමුත් සියල්ලම සාමාන්‍ය සිතිවිලි විදියට තමයි එන්නෙ. දැන් අපි ඔහොම ඉන්න අතරතුර යම් විදියකින් මරණ ගෙදරක යනවා. තමන්ගෙ ඥාතියෙක් මිය පරලොව ගිහින් තියෙන්නෙ. ඒ වෙලාවෙදි අපේ මානසිකත්වයට ගෙදර ඉඳෙද්දි ආපු සිතුවිලි එන්නෙ නෑ. ඒ අවස්ථාවෙදි එන්නෙ සංවේගාත්මක සිතිවිලි, ඒ මරණ ගෙදර කටයුතු කරන්නෙ කොහොමද ආදී විස්තර මිසක් වෙනත් දේවල් නෙවෙයි. ඒ වගේම ඒ දවස අතහැරල මළ ගෙදර වෙනුවට මඟුල් ගෙදරක ගියා නම්, ඒ අවස්ථාවට ගැලපෙන දේවල් මතකයට එනව මිසක් අර මළ ගෙදර දේවල් මතක් වෙන්නෙ නෑ. ආගන්තුක යම් පරිසරයක් ඇල්ලුවද, ඒ පරිසරයට අනුව මානසිකත්වය සකස් වෙනවා.

ඒ වගේ චුත වෙලා පටිසන්ධි ලබන කොට මුල් තත්ත්වයට වඩා හුඟක් වෙනස් මානසිකත්වයක් ගන්ධබ්බයට එනවා. මොකද ඒ අවස්ථාවෙදි වස්තු රූපයත් එක්ක තමයි පරිවර්තනය වෙන්නෙ. එතකොට අලුත් ආරම්භයක් එනවා. ඒ නිසා සම්පූර්ණ මානසිකත්වයම ඒ අවස්ථාවට නැඹුරු වෙනවා. එතකොට ආරම්භයේදීම පෙර අත්බැවේ දේවල් මතක් වුනත් දැන් ආගන්තුක අදහස් එනකොට පරණ ඒවා අමතක වෙනවා. හොඳ හෝ නරක දෙපැත්තටම ඒක වෙන්න පුළුවන්. ඒක පාප කර්මයක් හෝ පුණ්‍ය කර්ම විපාකයක් වශයෙන් වෙන්නත් පුළුවන්. මේ වගේ විවිධ ක්‍රම තියෙනවා. ඒ වගේම සතර අපාගත වෙන්න යන කෙනෙක් නම්, සමහර විට කර්ම ශක්තිය ක්ෂණයකින් ගෙවිල අපාගත වෙන්න පුළුවන්. ඒකට දින 7 ක්ම යන්නෙ නෑ. ඒ වෙලාවට කර්ම විපාක සෘද්ධි තිබුනොත් ඒකෙන්ම නිර්මාණය කරල දෙනවා.

ඒ නිසා මේ දින 7 ක් කියන්නෙ උපරිම කාලය. සමහර විට ඇසි පිය ගහන මොහොතින්, විනාඩියෙන් 2 න් හෝ පැයෙන් වෙන්නත් පුළුවන්. ඒක අපිට



නිගමනය කරන්න බෑ. ඒ නිසාම තමයි වැඩිම ප්‍රමාදී පුද්ගලයට යන දින 7 ක කාලයක් ඇරල, 8 වෙනි දවසෙදි හත් දවසෙ දානෙ දෙන්නෙ. ඒ නිසා **මේ හත් දවසෙ දානය විශේෂයෙන්ම ඕන වෙන්නෙ, ජීවත්වෙලා ඉඳෙද්දි හරියට පිනක් දහමක් කර ගන්නෙ නැතිව නිකං කාල බීල ජීවත් වෙච්ච අයට. මොකද ඒ අයට ඒ ලෝකෙට පරිවර්තනය වෙන්නත් එච්චර කාලයක් යනවා. ඒ වගේම ලැබීම් අඩුයි.** එතකොට චුති පටිසන්ධි ලබපු අවස්ථාවක් නම්, එතනින් ආපස්සට බලල පෙර භවයන් බලන්න නම් මහ දිව්‍යසක් තියෙන්න ඕන. මේ එක ක්‍රමයක්. එහෙම නැතිව සාමාන්‍ය අයට ඒ වගේ දෙයක් බලන්න බෑ. අර විදියට චුත නොවී යන අත්බැව් තමයි බොහෝ කොටම ඔය ජාති ස්මරණ ඥානයෙන් පුනරුප්පත්ති කතා කියල සමහර ළමයි කියන්නෙ.

දැන් මේ කාරණය ගන්ධබ්බයගෙ මුල් දින 7 සම්බන්ධයෙන් පැහැදිලි කරන්න පුළුවන්. උදාහරණ විදියට කෙනෙක් චුති පටිසන්ධි නොවී මස් ලේ කයෙන් මළොත්, ඒ ගන්ධබ්බය රවි දවස ගෙවල ඊළඟට සඳු දවසත් ඒ ගන්ධබ්බ ලෝකෙ ගත කරල කුජ දවස ලබන කොට චුති පටිසන්ධියක් ලැබුවොත්, එතකොට ඊළඟ දවස් කීපය අර සාමාන්‍ය විදියටම සිද්ධ වෙන්නෙ නෑ. දැන් ක්ෂණික ආරම්භයක් නැවතත් ඇති වෙනවා. එහෙම ආවොත් ඒ ගන්ධබ්බයට විශේෂයෙන්ම ඒ ආසන්න කාලයේ නැගෙන්නෙ කර්ම, කර්ම නිමිති, ගති නිමිතිවලින් එකක්. එතකොට ඒ ගන්ධබ්බය අලුත් භවයකට හැඩ ගැහෙනවා. අලුත් භවයත් අර විදියටම රවි ක්‍රියාකාරීත්වයෙන් තමයි මුල ඉඳල පටන් ගන්නෙ. නමුත් එතනදි කලින් වගේ දවසක්ම ගතවෙන්නෙ නෑ. හරි වේගවත්.

සමහර විට එහෙම චුති පටිසන්ධි ලබන්න හේතු තියේ නම්, ඒ ආසන්න කාලයෙදි ගන්ධබ්බයට සූක්ෂම කය තවත් දින ගණනාවක් පවත්වන්න බෑ. ඒ ආසන්න කාල සීමාවෙදිම සියුම් කය බිඳිල තවත් එකකට පරිවර්තනය වෙනවා. ගන්ධබ්බය දින 7 ගත කරන කාලය තුළදි චුත වෙන මට්ටමක් ආවොත්, ක්ෂණයකින් ඒ ක්‍රියාවලිය සිද්ධ වෙනවා. චුති පටිසන්ධි වුනත් සමහර අයට ඒ ආසන්නයේ පෙර අත් බැවේ දේවල් මතක් වෙනවා. සමහර අයට අමතක වෙනවා. ඒක තීරණය වෙන්නෙ චුති පටිසන්ධි ලබන ස්වභාවය අනුව. ගන්ධබ්බයෙක් මවු කුසකට ඇතුල් වෙලා, මවු කුසේ ගතකරල, මවු කුසෙන් බිහිවීමේ ක්‍රම 4 ක් ගැන සැරියුත් මහ රහතන් වහන්සේගෙ දේශනාවක් තියෙනවා. ඒ අනුව සමහරෙක් මියගියාම දැන ගෙන මවු කුසකට ඇතුල් වෙනවා, දැන ගෙන මවු කුසේ ඉන්නවා, දැන ගෙන මවු කුසින් බිහි වෙනවා. තවත් කොටසක් නොදැන මවු කුසකට ඇතුල් වෙනවා, දැන ගෙන මවු කුසේ ඉන්නවා, දැන ගෙන මවු කුසින් බිහි වෙනවා. තවත් කොටසක් නොදැන මවු කුසකට ඇතුල් වෙනවා, නොදැන මවු කුසේ ඉන්නවා, දැන ගෙන මවු කුසින් බිහි වෙනවා. ඊළඟ කොටස නොදැන මවු කුසකට ඇතුල් වෙනවා, නොදැන මවු කුසේ ඉන්නවා, නොදැන මවු කුසින් බිහි වෙනවා. ඒ වගේම ධ්‍යානය පිළිබඳවත් ඒ ආකාරයට කරපු දේශනාවක් තියෙනවා. ධ්‍යානයට දැනගෙන සම වැදීම, දැන ගෙන ඉඳීම, දැන ගෙන නැඟී සිටීම කියන්නෙ ඒ වගේ අවස්ථාවක්.

ඒ අනුසාරයෙන් චුති පටිසන්ධි ලැබීමත් මේ විදියට තේරුම් ගන්න පුළුවන්. සමහරු දන්නෙ නෑ මැරෙන මොහොත, චුත වෙන මොහොත. හරියට හීනයක් පේන වෙලාවට අපිට ☞

අතීතය අමතක වගේ. කොහේ ඉන්නවද, කවුරු වෙලාද, ඒ එකක්වත් දන්නෙ නෑ. අපි දන්නෙ ඒ වෙලාවෙදි හීන ලෝකයේ ක්‍රියාවලිය විතරයි. අන්න ඒ වගේ නොදන මැරිල, නොදන චුති පටිසන්ධි වෙලා, නොදන ගන්ධබ්බ වෙන කොටසක් ඉන්නවා. හරියට නින්ද ගියා වගේ. ඒ වගේම දන ගෙන මැරිල, නොදන චුති පටිසන්ධි වෙලා, නොදන ගන්ධබ්බ වෙන කොටසක් ඉන්නවා. ඊළඟට දන ගෙන මැරිල, දන ගෙන චුති පටිසන්ධි වෙලා, නොදන ගන්ධබ්බ වෙන කොටසක් ඉන්නවා. ඒ වගේම දන ගෙන මැරිල, දනගෙනම චුති පටිසන්ධි වෙලා දන ගෙනම ගන්ධබ්බ වෙන කොටසක් ඉන්නවා. මෙයින් වැඩිපුරම ඉන්නෙ නොදන පරිවර්තනය වෙන අය.

උදාහරණ විදියට පුංචි ළමයෙකුට කවුරු හරි පිටස්තරයෙක් ගැහුවොත් රිදෙව්වොත් ඒ ළමය අඬනවා. ඒ ආසන්න කාලයේ ඒ ගහපු කෙනාව දැක්කොත් ඒ සිද්ධිය මතක් වෙලා ළමය කෑ ගහනවා, අඬනවා, බයේ දුවනවා. ඒ මතකය සාමාන්‍යයෙන් අවුරුද්දක් විතර යනකල් තියෙනවා. හැබැයි අවුරුදු 4 - 5 කින් ඒක මතක නෑ. නමුත් ඒ ආසන්න කාල සීමාවෙදි මතක තියෙනවා. නමුත් බොහොම කලාතුරකින් ඒ කාලයත් මතක තියෙන තීක්ෂණ ළමයි ඉන්නවා. මේ වගේ චුති පටිසන්ධි ලබපු ආසන්න කාලයේ, පෙර අත් භවය සමහර අයට මතකයි. කාලයක් යන කොට තමයි අමතක වෙන්නෙ. ඉතින් මතකය තියෙන කාලය ඥාති බත ගන්න ඒ ගන්ධබ්බයට ප්‍රමාණවත්. නමුත් එහෙමවත් මතක නැති කෙනෙක් කියන්නෙ, ඒ ගන්ධබ්බයට එහෙම හේතු වාසනාවක් නෑ කියන එක. එහෙම අමතක නම් ඥාති බත දීල අඬ ගැහුවට එන්න තේරෙන්නෙ නෑ. මේ කාරණය අපට නිගමනය කරන්න බැරි නිසා තමයි සාමාන්‍යයෙන් සිද්ධ වෙන ක්‍රමවේදය අනුව දින 7 කින් පස්සෙ ඥාති බත දීල බණක් කියන්නෙ. සමහරවිට ඒ හත් දවසෙ දානෙ අරගෙන බණත් අහල චුති පටිසන්ධි වෙන අයත් ඉන්නවා.

ඒ වගේම චුති පටිසන්ධියක් නොවී සිද්ධ වෙන මරණයකදි වුනත් ගන්ධබ්බයගෙ මේ මුල් දින 7 ගත කිරීම, ඒ විදියට මියයන හැම කෙනෙකුටම මුහුණ දෙන්න වෙන්නෙත් නෑ. සුගති ගත සත්වයෙක් උපදින කොට, සෝමනස්ස සහගත ඥාන සම්ප්‍රයුක්ත උත්කෘෂ්ට කියන සිතකින් උපන් අයට, යම් කිසි ක්ෂණික පාලනයක් කර ගැනීමේ හැකියාව මේ මුල් දින 7 තුළ තියෙනවා. ඒ වගේම සෝමනස්ස සහගත ඥාන විප්‍රයුක්ත උත්කෘෂ්ට, මධ්‍යම, ඕමක ආදී සිත් තියෙනවා. ඒ වගේ සිත්වලදි ඒ බලය දුර්වලයි. සුගතියේ ඉපදුනත් පැවැත්ම ගෙනියන්නෙ අර වගේ බාල හිතකින් නම්, ඒ පුද්ගලයට ඒ වගේ පාලනය කර ගැනීමේ හැකියාවක් නැතිව යනවා. නිකං පරඬැලක් වගේ. එතකොට අර ක්ෂණිකව නැගී එන කායික මානසික ශක්තිය ඒ ජාතියේ එකක්. ඒකෙන් පහසුවෙන් පෝෂණය ලබන්න බෑ.

එතකොට අර වගේ උසස්ම සිත්වලින් ඉපදිච්ච අයට තමයි ඒ වගේ ක්ෂණික ලැබීමක්, පාලනයක් පහල වෙන්නෙ. මණ්ඩුක දිව්‍ය පුත්‍රයා මැඩියෙක් වෙලා ඉඳලත් මරණ මොහොතෙදි බුදුන් වහන්සේගෙ හඬ අහල සමනන්තර ප්‍රත්‍යය ලැබිල, අපරාපරීය කුසල කර්මයක් මුල් කරගෙන අනන්තර ප්‍රත්‍යයක් ඇදිල ඇවිත් මතු වුනේ සෝමනස්ස සහගත ඥාන සම්ප්‍රයුක්ත උත්කෘෂ්ට විපාක සිතක්. ගන්ධබ්බයෙකුටත් පාලනයක් කර ගන්න නම්, උත්කෘෂ්ට හෝ අඩු ගණනෙ මධ්‍යම මට්ටමේ සිතක් හෝ තියෙන්න ඕන. මේ උත්කෘෂ්ට, මධ්‍යම, ඕමක සිත් කොටස් 9 කට බෙදෙනවා. ඉතින් මේ වගේ උත්කෘෂ්ට සිත් එන්නෙ බොහෝ කොටම මහ බෝසතාණන් වහන්සේලා වගේ ඉහළ කෙනෙකුට. සෝමනස්ස සහගත ඥාන සම්ප්‍රයුක්ත මධ්‍යම, ඕමක හිත් තියෙන අයටත් යම් කිසි බලයක් තියෙනවා. අර වගේ පාලනය කරන්න ඒ අයටත් ඒ ඒ මට්ටම්වලින් පුළුවන්.

එහෙම කෙනෙක්ගෙ ස්වභාවය හොයන්න ක්‍රමයක් තියෙනවා. කෙනෙක් නිදා ගෙන ඉන්න කොට කවුරු හරි ඇවිත් හදිසියේ ඇහැරවනවා. ඒ ඇහැරෙන කෙනා සෝමනස්ස සහගත ඥාන සම්ප්‍රයුක්ත උත්කෘෂ්ට සිතකින් උපන් කෙනෙක් නම්, ඇහැරෙනවත් එක්කම නිදාගෙන හිටියද කියල හිතන්නත් බෑ. ක්ෂණිකවම කතා කරනවා. කොච්චර තදින් නින්ද ගිහින් තිබුනත් කතා කළාම ක්ෂණිකවම ඇහැරෙනවා. කිසි අමාරුවක් නෑ. නිදි මතත් නෑ. එවෙලෙ කිව්ව දෙයක් වගේ සියල්ලම තේරෙනවා.

ඊළඟට මධ්‍යම, ඕමක කියල සිත් තියෙනවා. එතනදි ඥාන සම්ප්‍රයුක්ත මධ්‍යම වුනොත්, නින්දෙන් ඇහැරුනත් ඒ පුද්ගලයට තේරුම් ගන්න පුළුවන්. හැබැයි ටික වෙලාවක් යනවා. නැගිටල ටිකක් ඇහිපිය පොඩි කරල තමයි ''ඈහ්.... මොනවද කිව්වෙ?'' කියල ප්‍රතිචාර දක්වන්නෙ. තවත් කොටසක් ඉන්නවා සෝමනස්ස සහගත ඥාන විප්‍රයුක්ත උත්කෘෂ්ට, මධ්‍යම, ඕමක කියල. මේවායින් ඕමක සිතකින් උපන් කෙනෙක් නම්, නිදාගෙන ඇහැරුනාම ඒ අයට නියම ස්වභාවයට එන්න පැය 1/4 ක් හෝ ඊට වැඩි වෙලාවක් ගත වෙනවා. කොච්චර ඇහැරෙව්වත් ලේසියෙන් ඇහැරෙන්නෙ නෑ. ඇඹුම් ඇරල කෙඳිරිගාල එහාට මෙහාට ඇඹරි ඇඹරි ඉඳල තමයි නැගිටින්නෙ. පස්සෙ බලන කොට කියපු දේ තේරිලත් නෑ. දැන් මේ වගේ ස්වභාවයක් උපතින්ම තියෙන අය ඉන්නවා. ඒ නිසා ඒක හදන්න බෑ.

පටිසන්ධි සිත් 19 න් සතර අපාගත දුගතියේ උපදින්න හේතු වෙන්නෙ එක සිතයි. ඒ තමයි අකුසල විපාක උපේක්ෂා සහගත සංතීරණ සිත. සියලු සතර අපාගත වෙන්න යන සත්ත්වයින්ට චුති පටිසන්ධියෙදි ඒ සිත තමයි එන්නෙ. අනෙක් සිත් 18 ම සුගතියේ උපදින්න හේතු වෙන්නෙ. අන්න ඒවායින් පහළම තියෙන සිත්වලින් උපන් අයගෙ ස්වභාවය තමයි අර කලින් කිව්වෙ. ඒ 18 න් මූලික හිත්වලින් උපන් අය ක්ෂණිකවම ක්‍රියාත්මක වෙනවා. ඒ වගේ අයටම තමයි මරණාසන්න මොහොතක් විශේෂයෙන් දැනෙන්නෙ. අනෙක් අයගෙ ස්වභාවය හොයන්න පුළුවන් ක්‍රමයක් තියෙනවා. ඒ අයට පොඩි කම්පනයක් ඇති වුනාමත් නිච්චි නැතිව යනවා. ඒ සාමාන්‍ය අය. කලින් සඳහන් කළ තීක්ෂණ ශක්තිය තියෙන අයට එහෙම ලේසියෙන් සිහි නැති වෙන්නෙ නෑ. මානසික විකෘති වෙන්නෙ නෑ. ඒ වගේ කෙනෙක් ශල්‍ය කර්මයක් වගේ දේකට සිහි නැති කරල තිව්වත්, පසුව සිහි ගන්වල කතා කරන කොටම ප්‍රතිචාර දක්වල කතා කරනවා. නිදි මතේ නිච්චි නැතිව එහෙම ඉන්නෙ නෑ. ඒ ඒ අයගෙ මට්ටම්වල හැටියට ඒ ස්වභාවය අඩු වැඩි වෙනවා. නමුත් සමහර කෙනෙකුට නියම සිහිය එන්න වරුවක් විතර යනවා. කතා කළාමත් නිකං ගොළු වෙලා වගේ, ටිකක් වෙලා ගිහින් තමයි සාමාන්‍ය තත්වයට පත් වෙන්නෙ. පෙළක් අය ඉන්නවා, කතා කරන කොටම ප්‍රතිචාර දක්වල නම ඇහුවත් කියනවා. ගණනක් කිව්වත් ඒකත් හදල කියන්න පුළුවන් ක්ෂණික අවස්ථා තියෙනවා. ඒ කියන්නෙ සෝමනස්ස සහගත ඥාන සම්ප්‍රයුක්ත උත්කෘෂ්ට හිතකින් උපන් අය. මධ්‍යම හිතකින් උපදින අය තීක්ෂණ බවින් ඊට ටිකක් අඩුයි. මේ වෙනස අදත් සමාජයේ දකින්න පුළුවන්. නමුත් ඉතින් ඒ ගැන පරීක්ෂණ කරන්නෙ නැති නිසා තේරුම් ගන්න බෑ.

එතකොට මේ කියන දින 7 ක කතාවත් ඒ ආකාරයෙන්ම හැමෝටම සිද්ධ වෙන්නෙ නෑ. සාමාන්‍ය මනුස්ස ගන්ධබ්බයෙක් නම් රෑ දවල් දෙකේම ක්‍රියාත්මක වෙන්න උත්සාහ කරල බැරි වුනාම, අනේ මට මුකුත් කර ගන්න බැනෙ කියල අත්දකීමක් එනවා. නමුත් අර වගේ තීක්ෂණ නුවණ තියෙන ගන්ධබ්බයෙක් නම් එච්චර දුර යන්න දෙයක් නෑ. එහෙම ක්‍රියාත්මක වෙන්න සූදානම් වෙලා ☞

බැරි වෙන කොටම ක්ෂණයකින්ම නිගමනය කරනවා, මේ වැඩේ දැන් මට කරන්න බෑ කියල. නැවතත් එළවගෙන ගිහින් උත්සාහ කරල අත්දැකීම් ගන්න දෙයක් නෑ. ප්‍රඥාවෙන් තීරණය කරනවා. උදාහරණ විදියට ඒ වගේ තීක්ෂණ සිතක් තියෙන මියගිය කෙනෙක් රවි දිනයෙදි පැය 24 ම ක්‍රියාත්මක වෙන්න උත්සාහ කරන්නෙ නෑ. වතාවක් උත්සාහ කරල බැරි වෙනවත් එක්කම නිගමනයකට බහිනවා. කොයි ක්‍රියාවත් බෑනෙ කියල ඒ අනුසාරයෙන් ඉතිරි කාරණාත් නිගමනය කරනවා. මොහොතකින් ඒ අවස්ථාව ඉක්මවා යනවා. ඒ නිසා ඒ සම්පූර්ණ දවසම ඒ විදියට ගත කරන්න අවශ්‍ය නෑ. ප්‍රඥාව වැඩි නම් සාමාන්‍ය අය දවසක් තිස්සෙ කරන අත් හදා බැලීම් එක මොහොතකින් කරන්න පුළුවන්. ඒක සිද්ධ වෙන්නෙ විවිධ හිත්වල හැටියට. එතකොට මේ දින 7 විග්‍රහ කළේ සාමාන්‍ය ස්වභාවය පෙන්වන්න. නමුත් තීක්ෂණ මානසිකත්වය ඊට වඩා වෙනස්.

උදාහරණ විදියට මණ්ඩූක දිව්‍ය පුත්‍රය වෙලා උපදින්න පෙර ඒ මැඩියට නැගිල තියෙන්නෙ, සසරෙදි කරපු අපරාපරීය කුසල කර්මයක් වශයෙන් ඇදිල ආපු සෝමනස්ස සහගත ඥාන සම්ප්‍රයුක්ත විපාක හිතක්. හැබැයි ඒක මැඩියෙක් වෙලා ඉන්න කොට කරපු කුසලයකින් ආපු දෙයක් නෙවෙයි. නමුත් ඒ කාරණය පොත්පත්වල නෑ. බණ අහන කොටම ඒ සතා සෝමනස්ස සහගත ඥාන සම්ප්‍රයුක්ත සිතකින් ත්‍රිහේතුකව උපන්න කියල තමයි සමහර පොත්වල තියෙන්නෙ. නමුත් යථාර්ථයෙන් ගත්තම ඒක උපනිශ්‍රයක් වුනා විතරයි. මොකද තිරිසන් සතෙකුට කවදාවත් ඔය කියන මානසිකත්වයක් ගන්න ඥාන සම්ප්‍රයුක්ත වෙන්න පුළුවන් කමක් නෑ. චිත්ත ප්‍රසාදයක් එන්න හේතු වෙන පසුතලයක් තිබුනොත්, සසර කරපු පිං දහමක් ඇදිල එන එකයි වෙන්නෙ. නැත්නම් කෙනෙක් අහන්න පුළුවන්, බණ අහන සියලුම ගෙම්බන්ට සුගතිගාමී වෙන්න පුළුවන්ද කියල. බොහොම කලාතුරකින් සතෙකුට එහෙම උපනිශ්‍රයක් ලැබිල සුගතිගාමී වෙන්න පුළුවන් වුනත් බහුතරයකට එහෙම හැකියාවක් නෑ.

එතකොට කිරි වවුලො පන් සියයක්, මුවො පන් සියයක් පිරිත් හඬක් අහල ඒ විදියට සුගති ගත වුනා කියල කියනවා. එහෙම සුගති ගත වෙලා මනුස්සයො විදියට පිරිස පිටින්ම නැවතත් බණ අහන්න ආව කියල කියනවා. එතකොට හරියටම 500 ක් වගේ රවුම් ගණනක් වුනේ කොහොමද? ඒ කාලෙ ඒ ජාතියෙ සත්තු හිටියෙ 500 ද? කැලේ තව ලක්ෂ කෝටි ගණනින් කිරි වවුලො හිටියෙ නැද්ද? කෙනෙක් ප්‍රශ්නයක් අහන්න පුළුවන්. ඒකට හේතුවක් තියෙනවා. සසරෙදි යම් කිසි අයුරකින් ගුණ දහම් පුරාගෙන පින් දහම් කර ගෙන පිරිස් වශයෙන් එකට එන අය ඉන්නවා. හැබැයි ඒ පිරිස් මොනව හරි එකතු වෙලා කර ගත්තු පාපයකට වන්දි ගෙවන්න, ඒ පිරිස එක්කම ගිහින් සතර අපාගත සත්ව පිරිසක් වශයෙන් උපදින්න පුළුවන්.

හැබැයි මෙතනදි පන් සියක් කියන්නෙ ප්‍රාණ සියයක් හෙවත් සිය පණ වගේ හිටපු යම් කිසි පිරිසක් කියන අදහස මිසක් 1, 2, 3.... ආදී වශයෙන් සංඛ්‍යාත්මකව ගන්න 500 ක් නෙවෙයි. නමුත් අද හිතාගෙන ඉන්නෙ මුවෝ පන් සියක්, කිරි වවුලො පන් සියක් කියන කොට, සංඛ්‍යාත්මකව 500 ක් කියල. යම් කිසි හොඳ හෝ නරක කාරණයක් ඉටු කරන්න සිය පණ හෙවත් තමන්ගෙ පණ වගේ සමූහයක් ගම් පිරිසක් වශයෙන් එකතු වුනාද, ඒක පන්සිය කියන වචනයෙන් තමයි ඒ කාලෙ හැඳින්නුවෙ. මගේ පණ වගේ මේ පිරිස මට, මළත් එහෙමයි කියල අදත් කතාවට කියනවා. යම් කිසි පිරිසක් පණට පණ වගේ එකතු වෙලා ඉන්නව නම්, සිය පණ හෙවත් පන්සියක් කිව්වෙ ඒ අදහසින්. නමුත් මේක අද විග්‍රහ කරල නැති නිසා හිතන් ඉන්නෙ 1, 2, 3 ආදී වශයෙන් සංඛ්‍යාවක් කියල. ඒක සංඛ්‍යාත්මකව මෙච්චරයි කියල හරියටම කියන්න බෑ. සියයක්, දාහක්, දහ දාහක් හෝ ඊට වැඩි වෙන්නත් පුළුවන්. සංඛ්‍යාව මොකක් වුනත් පන්සියක් කියන්නෙ සිය පණ වගේ සමූහයක්. නමුත් ඒ අර්ථය වැහිල ගියාට පස්සෙ, මොකක්ද ඒ පන් සියයක කතාව කියල පෙළක් අය ඇහුවම උත්තර දෙන්න දන්නෙ නෑ. එතකොට විවිධ තර්කවාද මතු වෙනවා.

**සිය කියන්නෙ තමන්ගෙ කියන අදහස. පන් කියන්නෙ පණ. සිය පණ වගේ කියන්නෙ තමන්ගෙ පණ වගේ. යම් කිසි කටයුත්තක් කරන්න එකතු වෙච්ච පණ වගේ සමූහය තමයි පන් සියක් කියන්නෙ.** පන් සියක් අත්බැව් ආදී වශයෙන් කියන්නෙත් ඒ වගේ දෙයක්. ඒ කියන්නෙ ඒකට ගැබ් වෙච්ච කාල සීමාව. එතනදි භවය එකයි. නමුත් ඒ භවය තුළ චුති පටිසන්ධි නොවී මැරි මැරි ඉපදිලා ලබපු අත්බැව් හෙවත් ජාති ගණන කොච්චරද කියන්න බෑ. ඒ ගණන වෙනස් වෙන්න පුළුවන්. නමුත් භවය එකම නිසා සිය පණ කියල කියනවා. එතකොට චුති පටිසන්ධි නැතිව මැරිල, ඒ භවයටම හිමි අත්බැව් ගණනාවක් ගියාම ඒකටත් සිය පණක් හෙවත් පන්සියක් අත් බැව් කියල කියනවා. ඒ භවය ඇතුලත මැරි මැරි ඉපදිච්ච වාර ගණන වෙනස් වෙන්න පුළුවන්. නමුත් අද මේ කාරණය පටලවා ගෙන. එතකොට අර වගේ සසරෙ එකට ආපු පිරිසක් එකතු වෙලා සමහර විට ගමේ ඉන්න හාමුදුරු නමක් පන්න ගන්න පුළුවන්. නමුත් උන් වහන්සේ සීලවන්ත ගුණවන්ත හාමුදුරුවො නමක් වුනොත්, දැන් ඉතින් මහ පාපයක්. ඒ කරගත්තු පාපයට ඒ පිරිස පිටින්ම ඊළඟ අත්බැවේ බිම අඩියක් ගහන්න බැරි තැනක උපදින්න පුළුවන්.

දැන් අද කාලෙත් මේ වගේ පින් දහම් කර ගෙන ඉන්න උපාසක, උපාසිකා පිරිස් ඉන්නවා. හැබැයි අහවල් හාමුදුරුවො අපට ගැලපෙන්නෙ නෑ, මොහු දුස්සීලයි... ආදී වශයෙන් නිගමනය කරල දොස් කියන පිරිසකුත් ඒ අතර ඉන්නවා. නමුත් ඒ පිරිස පිටින් බලල එහෙම නිගමනය කළාට, උන්වහන්සේ සීලවන්ත ගුණවන්ත හාමුදුරුවො නමක් නම් දැන් මොකද වෙන්නෙ? මහ අපවාදයක් තමයි කර ගත්තෙ. හැබැයි මේ පිරිස සිල් ගන්න, පින් දහම් කරන උදවිය. නමුත් ඒ අයගෙ දෘෂ්ටියට අනුව උන්වහන්සේ දුස්සීලයි කියල නිගමනය කළා. එහෙම කරල උන්වහන්සේ ගමෙන් පැන්නුව නම්, ඒ උපාසක පිරිසටම එකට අපාගත වෙලා විඳවන්න සිද්ධ වෙනවා. නොදැන හෝ කර ගෙන තියෙන්නෙ මහ පාපයක්. එතකොට හේතුවට අනුකූල ඵලය විදියට බිම අඩිය ගහන්න බැරි වෙන්න, කොහේ හරි ගහක අත්තක වගේ එල්ලිලා ඉන්න සිද්ධ වෙන තැනක වවුලෙක් විදියට උපදින්න පුළුවන්.

හැබැයි ඒ පාපයේ විපාකය ගෙවිල ගියාට පස්සෙ, යම් කිසි සුදුසු පරිසරයක් ආවොත් එදා කරපු පිං දහම් නැවත ඇදිල එන්න පුළුවන්. එදාට මේ පිරිසට පිරිත් හඬක්, බණ හඬක් අහන්න ලැබුනොත්, පෙර සසර පුරුදු පුහුණු කරපු පුරුද්දට ඒ සංඥාව දැනෙනවා. එතකොට පෙර මනුස්ස වෙලා ඉඳෙද්දි කරපු අර වගේ යහපත් දෙයක් කර්ම නිමිත්ත විදියට ඇදිල ඇවිත් ඊළඟ අත්භවය ඒකෙන් උපදිනවා. ඒ ඉපදීම සෝමනස්ස සහගත ඥාන සම්ප්‍රයුක්ත විපාක හිතකින් වුනා නම්, ත්‍රිහේතුක පටිසන්ධියක් ලබල නැවත සුගතිගාමී වෙලා මගඵල ලබන්නත් පුළුවන්. එතකොට තිරිසන් වෙලා සිද්ධ කළේ පරිසරය සකස් කර ගැනීම විතරයි. ඒ නිසා තිරිසන් වෙලා කරපු පිනකින් සුගතියක උපන්න කිව්වොත් ඒක ගැලපෙන්නෙ නෑ. තිරිසන් භවයෙන් මිදෙන්න උපනිශ්‍රය වුනේ, පෙර සුගති අත්බැවකදි කරපු යහපත් දේවල්වල කර්ම නිමිත්තක්, තිරිසන් වෙලා ඉඳෙද්දි සුදුසු පරිසරයෙදි අපරාපරීය වශයෙන් ඇදිල ඒම.

මේ වගේ අවස්ථාවකදි, පොත්වල නැතත් මෙහෙම කාරණයක් නෑණ

නුවණට වැටහෙනවා. සතෙක් වෙලා සෝමනස්ස සහගත ඥාන සම්ප්‍රයුක්ත සිතකින් පිනක් කර ගන්න හැකියාවක් නෑ. නමුත් සමහර සත්තු පෙර සසරෙදි මනුස්ස වෙලා ඉඳෙද්දි පින් දහම් කරල තිබිල, පෘතජ්ජනව සසර සැරි සරන කොට හදිසියේ මැරෙන මොහොතෙදි පාප කර්මයක් ඇදිල ඇවිත්, චුති පටිසන්ධි වෙලා ක්ෂණිකව සතෙක් විදියට උපදින්න පුළුවන්. හැබැයි කරපු පින් දහම් කර්ම ගබඩාවෙ තියෙනවා. එතකොට සසර පුරුද්දට අර වගේ අවශ්‍ය පසුතලයක් ආවොත්, අතීතයේ සෝමනස්ස සහගත ඥාන සම්ප්‍රයුක්ත සිතකින් කරපු පිනක් තිබුන නම්, තිරිසන් වුනත් ඒ හැදිච්ච පසුතලයෙදි මරණාසන්න මොහොතක ඒක විපාක වශයෙන් ඇදිල ඇවිත් ඒකෙන් උපත ලබන්න පුළුවන්. නමුත් ඒක එන්නෙ සතා වෙලා ඉන්න කොට කරන පිනකින් නෙවෙයි. දැන් තියෙන සමනන්තරයට එදා තිබිච්ච අනන්තරයක් ඇදල ආවම එහෙම වෙනවා. ඒ අනන්තරය මනුස්සයෙක් වෙලා ඉඳෙද්දි කරපු එකක්. ඒ වගේ සිතක් සතෙකුට ඇදිල එන්නෙ විපාක වශයෙන්. හැම කුසල් සිතකම විපාක සිතක් තියෙනවා. මෙතනදි කුසල් සිත බිහි වුනේ පෙර භවයක. විපාක සිත කොයි වෙලේ හරි පරිසරය සකස් වුනාම විපාකයක් විදියට ඇදිල එන්න පුළුවන්. කුසල් සිතකින් කරපු දෙයක් කාලාන්තරයක් තිස්සේ තිබිල එහෙම ඇදිල එන්න පුළුවන්. ඒක හිතාමතාම කරන එකක් නෙවෙයි. හැදෙන පසුතලය අනුව සිද්ධ වෙන දෙයක්. අපරාපරිය කර්ම විපාකයක් විදියට එහෙම දෙයක් ඇදිල ඇවිත් සුගතිගාමී වෙන්න පුළුවන්.

දැන් ඊළඟට ගන්ධබ්බයගෙ මේ මුල් දින 7 ක සාමාන්‍ය ක්‍රියාකාරීත්වය නැවතත් විග්‍රහ කරල බැලුවොත්, මරණින් පසු එන ගන්ධබ්බයගෙ පළමු දවස තමයි රවි දවස කියන්නෙ. රවිගෙන් පෙන්වන්නෙ ක්‍රියාකාරීත්වය. මොකද එළියක් නැතිව කෙනෙකුට අඳුරෙ ක්‍රියාත්මක වෙන්න බෑ. හැම එළියක්ම දීමේ මූලිකයා තමයි රවි හෙවත් සූර්යා. සූර්යා පෑයුවම තමයි මිනිස්සු කඩිසරව වැඩ කරන්නෙ. සූර්යා බැහැල ගිය ගමන් මිනිස්සු නින්දට වැටෙනවා. යෑම් ඊම්, ක්‍රියාත්මක වීම් අඩු වෙනවා. ක්‍රියාත්මක වෙන්න නම් පළමු අවස්ථාවෙම රවිගෙ ස්වභාවයට එන්න ඕන. ඒ නිසා තමයි ගන්ධබ්බයගෙ පළමු දවසෙ ස්වභාවය පෙන්වන්න රවි උපමාවට ගත්තෙ.

ඊළඟට රවි දවස දීන වෙලා යන කොට, දැන් උත්සාහ කරල වැඩක් නෑ, සංවේග වෙලා වැඩක් නෑ කියල අදහස් ගන්නවා. ඊළඟට පෙර ක්‍රමය ක්‍රියාත්මක කරන්න බෑ කියල සඳු දවසෙ කල්පනා කරල ඊළඟට ඒකත් අත හරිනවා. මේ විදියට ඊළඟට සඳු දීන වෙලා යන කොට කුජ කියන තුන් වෙනි දවසෙ තමයි ඒ සඳහා නව උපක්‍රමයක් හොයන්න ඕන කියල තරඟකාරීත්වයට, සටනට බහින්නෙ. එතකොට සඳු දීන වෙන කොට කුජ ආරම්භ වෙනවා. කුජ දීන වෙලා බුධ දවසෙදි ඉගෙනීම් ලැබීම ආරම්භ කරල ඒක පූර්ණ වෙලා ශක්තිමත් වෙන්නෙ ගුරු දවසෙදි. බුධගෙන් තමයි ඉල්ලා හිටින්නෙ, පොඩි එකෙක් වගේ බලාපොරොත්තු වෙන්නෙ. හරියට අලුත උපන් ළමයෙක් මේ ලෝකෙ දේවල් ඉගෙන ගන්නව වගේ. ළමය උපන් ගමන් ඒ ළමයට වඩා ගන්න කියන්න බෑ. ඒ නිසා වඩාගන්න කල් ඉන්නවා. බඩගිනි වුනාම කන්න දෙනකල් අඬනවා. එහෙම තමයි මුල පටන් ගන්නෙ. ආරම්භ වෙන කොට ඒ ළමය දන්නවා, යමක් ලබාගන්න නම් අඬන්න ඕන, වඩා ගන්න කියල අත දික්කරන්න ඕන කියල. එහෙම තමයි පොඩි ළමයි මුලින්ම ඉගෙනීම ලබන්නෙ. නමුත් තවමත්



තනියෙන් කරගන්න බෑ. හැබැයි ඊට පස්සෙ එහෙම කටයුතු කර ගෙන යන කොට, ඒවා කරගන්න පුළුවන් නිසා ළමයට සතුටුයි. ඒ නිසා ළමය ඒවායින් අළුත් ගුරුහරුකම් ගන්නවා. ඒ අත්දැකීම් ලැබුවට පස්සෙ ඒ අනුසාරයෙන් යන්න එන්න, වැඩ කටයුතු කර ගන්න පුළුවන්.

ඊළඟට ගුරුගෙ පැත්ත ශක්තිමත් වෙන කොට, පෙර තිබිච්ච ගුරුහරු-කම්වලින් දැන් වැඩක් නෑ කියල, ඒ පිළිබඳ බලාපොරොත්තු අත හැරිල යනවා. නව ගුරුහරුකම් ක්‍රියාත්මක කරනවා. ගුරු දීන වෙන කොට දැන් අලුත් බලාපොරොත්තු ක්‍රියාත්මක කරන්න අවස්ථාව ලැබිල තියෙන නිසා, ඒ ලෝකෙ ජීවත් වෙන්න දැන් ගුරුහරුකම් ලැබිල තියෙන නිසා, ඊළඟට එන කිවි හෙවත් සිකුරු දවස තමයි සතුටු වෙන දවස. අද වුනත් කෙනෙකුට ලැබීම් පහළ වෙන කොට සිකුරු ලබලයි කියල කතාවට කියන්නෙ ඒකයි. අර පොඩි ළමයගෙ උදාහරණය ගත්තොත්, තමන්ගෙ වැඩේ කර ගන්න පුළුවන් වුනාට පස්සෙ සන්තෝසයෙන් උඩ පනිනව වගේ. ගුරු දීන වෙලා කිවි ආරම්භ වෙන කොටත් එහෙමයි. සන්තෝස වීම කියන්නෙ සිකුරු ආරම්භ වීම. ඊළඟට හත් වෙනියට එන ශනි දවසෙදි පරණ ජීවිතයේ ඒවා ඔක්කොම හෙණ ගැහුව වගේ පැත්තකට දාල අලුත් ලෝකෙට පූර්ණ වශයෙන් හැඩ ගැහෙනවා. මේ විදියට තමයි ඔය දින 7 ගෙවෙන්නෙ. නමුත් අර කලින් කියපු සිත්වල ස්වභාවය අනුව ඒ සඳහා ගත වෙන කාල වේලාව වෙනස් වෙන්න පුළුවන්.

දැන් එතකොට මේ දින 7 කොයි විදියට පූර්ණ වෙනවද කියල සාමාන්‍ය කෙනෙකුට බලා ගන්න විදියක් නැති නිසා තමයි, කෙනෙක් මියගිහින් දින 7 ම සම්පූර්ණ වෙනකල් ඉඳල හත් දවසෙන් පස්සෙ ඥාති බත (පෙරේත දානෙ) දීල බණ කියන්නෙ. නමුත් අද වෙන කොට ඒ කාරණයත් වෙනස් වෙලා. ඉතින් දවස් 7 ක් යන්න කලින් දානෙ දීල බණ කිව්වට ඒක ගන්න හැමෝටම තේරෙන්නෙ නෑ. ඒ නිසා ඒ දින 7 පූර්ණ වෙලා 8 වෙනි දවස ආරම්භ වෙලා තියෙන්න ඕන. ඉතින් ගන්ධබ්බය කොහේ හිටියත් දානෙ දෙන වෙලාවට ඒක ගන්න හේතු තියේ නම් එතනට ඇදිල එනවා. මොකද ගන්ධබ්බයෙකුට ලංකාව කියන්නෙ හරියට අතේ තියෙන ඇඟිලි බිත්තරයක් වගේ, ලෝකය කියන්නෙ අල්ලක් වගේ. ඒ තරම් අධි වේගවත්. ඒක තමයි පෙන්වන්න තියෙන උපමාව.

ඒ වගේම මේ ගන්ධබ්බ අවස්ථාව ඔප්පු වෙන තැනක් විනය පිටකයේ තියෙනවා. ඒ තමයි තමන්ගෙ මළ මිනියට ආවේස වෙලා ඉනි කුණෙක් වෙච්ච හාමුදුරු නමකගෙ කතාව. ඒ කතාව මීට පෙරත් සඳහන් කළා. ඒ අවස්ථාවෙදි තමන්ගෙ මළ මිනිය ළඟ ඒ ගන්ධබ්බය ඉඳල තියෙනවා. ඒ නිසා තමයි වෙනත් හාමුදුරු නමක් ඒ මළ මිනිය ඔතල තිබිච්ච සිවුර අරගෙන යන්න හදන කොට, ඒකට ආසාවෙන් අර ගන්ධබ්බය මළ මිනියට ආවේස වෙලා, අනේ මගේ සිවුර ගන්න එපා කියල පස්සෙන් පන්න ගෙන ගියේ. එතකොට ඒ සම්බන්ධ වුනේ අර අපවත් වෙච්ච හාමුදුරුවන්ගෙ ගන්ධබ්බ අවස්ථාව. ඒ නිසා කෙනෙක් මැරුනට පස්සෙ දින 7 ක් යන කල් ඒ මළ මිනියට සම්බන්ධ කරල තිබිච්ච කිසිම දෙයක් ගන්න එපා කියල බුදුන් වහන්සේ පෙන්නුවෙ හේතුවක් ඇතිව.

ඇයි එතකොට මේ කාරණය දවස් 7 කට සීමා කළේ? හත් දවසකින් පස්සෙ ඒ මළ මිනියත් එක්ක තියෙන සම්බන්ධය ඒ

ගන්ධබ්බයගෙන් ඇත් වෙන නිසා. නමුත් ඕකට අද හදාගෙන තියෙන මතය තමයි, හත් දවසින් පස්සෙ මළ මිනියෙ කැලි කැඩෙන නිසා උස්සගෙන යන්න දෙයක් නෑ කියල. නමුත් සියලු මිනිස්සු මළාට පස්සෙ දවස් 7 කින් කැලි කැඩිල විසිරෙන්නෙ නෑ. එම්බාම් කරල හරි, අධි සීතකරණයක දාල හරි, විවිධ බෙත් ගල්වල හරි මාස ගණනාවක්, අවුරුදු ගණනාවක් ගිහිල්ලත් පණ පිටින් වගේ තියෙන මළ මිනී තියෙනවා. ඊජිප්තුවේ පිරමීඩවල තැන්පත් කරල තියෙන මමී කියන්නෙත් ඒ වගේ අවස්ථාවක්. ඒ වගේම මළ මිනී තියෙනවා, පොළව යට වැළලුවත් මාස ගණනක් යන කල් මුකුත් වෙලා නෑ. එහෙම්ම තියෙනවා. එතකොට අර මතය ඔප්පු කරන්න බැරි හේතු පැහැදිලිවම අදටත් තියෙනවා. එහෙනම් මළ මිනිය ගාව අර ගන්ධබ්බය හිටපු නිසා තමයි, ඒකට ආවේස වෙලා කෑ ගහගෙන උස්සගෙන පන්නගෙන ගියේ. ඒ මළ මිනියට ආවේස වෙන්නත් ඉඩ තියෙන බව ඒකෙන් ඔප්පු වෙනවා.

ඉතින් සමහර අර්ථ කතාචාර්යවරු තමන්ගෙ මත ඉදිරිපත් කරල තියෙනවා, ඇට කටු ටික කැඩිල බිඳිල ගියාට පස්සෙ උස්ස ගෙන යන්න දෙයක් නැති නිසයි මේ දවස් 7 ක කතාව පෙත්වල තියෙන්නෙ කියල. නමුත් මේ මත සියල්ලම ඉදිරිපත් කරන්න හේතුව, හත් දවසෙ දාන කතාවයි, දවස් 7 ක් යන කල් ගන්ධබ්බය ඒ අවට ඉන්නව කියන කතාවයි යට ගහන්න. මොකද එදා හිටපු ආචාර්යවරු ගන්ධබ්බ අවස්ථාවක් නෑ කියන මතයෙ තමයි හිටියෙ. අන්තරාභවයක් නෑ කියන එක තමයි ඒකෙන් ඔප්පු කරන්න උත්සාහ කළේ. මොකද අන්තරා භවයයි, ගන්ධබ්බයයි දෙක එකට සම්බන්ධයි. ඒ නිසා ඒ අය ගන්ධබ්බ අවස්ථාව පිළිගත්තෙත් නෑ. ඒ කතාව යට ගහන්න, දන්න ඔක්කොම උපක්‍රම යොදල තියෙන්නෙ. නමුත් ධර්මානුකූලව බලන කොට ඒ එකක්වත් සාර්ථක නෑ. **එතකොට දින 7 ක් යන කල් මළ මිනියට දාල තිබ්බච දෙයක් ගන්න එපා කියල බුදුන් වහන්සේ දේශනා කළේ, ඒ කාලය යන කල් ගන්ධබ්බය මළ මිනිය ආශ්‍රිතව ඉන්න පුළුවන් නිසා.**

දැන් මේ කාරණය ඔප්පු වෙන මෑත කාලීන නවීන විද්‍යා පර්යේෂණයක් තියෙනවා. ඒ අනුව මළ මිනියක් වැළලුවම ඒකට උඩින් මිනිහෙක්ගෙ උසට එක්තරා වළාකුලක් වගේ රෑනක් එහෙ මෙහෙ හෙල්ලි හෙල්ලි තිබුනලු. ඒ අයගෙ කිරිලියන් කැමරාවල ඒ බව සටහන් වෙලත් තිබුනලු. නමුත් මේ සඳහා ඒ අය දෙන භෞතිකවාදී මතය තමයි, ඒ මළ මිනියෙන් පිට වෙන එක්තරා වායුවක් නිසා එහෙම වෙනව කියල. හැබැයි තෝර ගන්න බැරි නිසා තමයි එහෙම නිගමනය කරල තියෙන්නෙ.

මේ කාරණය ඔප්පු වෙන තවත් තැන් කිහිපයක් ධර්මයේ සඳහන් වෙනවා. ගෝධික හාමුදුරුවො බෙල්ල කපාගෙන පිරිනිවන් පාපු අවස්ථාවෙ, ඒ කාරණය දන්නෙ නැතිව මාරයා ඇවිත් දුමාරයක් වගේ ගෝධික හිමියන්ගෙ දේහය වටා එහෙ මෙහෙ කැරකුණා. එතකොට බුදුන් වහන්සේ කියනව මහණෙනි, අර දුමාරයක් වගේ එහෙ මෙහෙ යන්නෙ මාරයා කියල. නමුත් මාර දිව්‍ය පුත්‍රයා කියන්නෙ ඇස, කන, නාසය, දිව, ශරීරය එක්ක හොඳට අඟ පසඟ තියෙන ලස්සන දෙවි කෙනෙක්. නමුත් බාහිර ලෝකයට පේන්නෙ දුමාරයක් හෙල්ලෙනව වගේ. අදත් මේ දුමාරයක් වගේ දැකල තියෙන්නෙ මියගිය කෙනෙකුගෙ සියුම් මනෝමය කයක්. ඒකත් ඇස, කන, නාසය, දිව, කය සහිතයි. නමුත් අනිත් අයගෙ මස් ලේ ඇහැට පේන්නෙ නිකං දුමාරයක් වගේ.

ධර්මයේ සඳහන් වෙන තවත් කතාවකට අනුව, ඒ කාලෙ හිටපු බ්‍රහ්මයෙක් බඹ ලොව ඉඳන් බුදුන් වහන්සේ බැහැ දකින්න මනුස්ස ලෝකයට ඇවිත් දුමාරයක් වගේ නිකං එහාට මෙහාට වැනෙමින් හිටියා. ඊට පස්සෙ උන්වහන්සේ, බ්‍රහ්මය ඕලාරික කයක් මවා ගන්න කියල කිව්වම තමයි ඝනීභවන කයක් මවා ගත්තෙ. එතකොට ඒ වෙලාවෙ ඒ බ්‍රහ්මයට ඇස, කන, මන ප්‍රධාන කරගෙන බ්‍රහ්ම කයක් තිබුණා. නමුත් පිටට පෙනුනෙ දුමාරයක් වගේ. ඒ නිසා පුද්ගලයගෙ පෙනීම එකක්, ඇත්ත ස්වභාවය තව එකක්.

ඒ වගේම මීදුමක් අතරින් කවුරු හරි ඉන්න කොටත් නිකං ඡායාවක් වගේ පේන්නෙ. ඒ ශරීරයේ කොටසක් වැහිල තව කොටසක් පේනව නම්, බාහිරින් පේන්නෙ භූතයෙක් වගේ. එක හැඩරුවක ඉන්න කෙනෙක් විදියට නෙවෙයි පේන්නෙ. හැබැයි ඒ අපේ ඇහැට පේන හැටි මිසක් භූතයෙක් නෙවෙයි. නමුත් හැබෑවටම භූතයා කියන්නෙත් ඒ වගේ කෙනෙක් නෙවෙයි. හොඳට අඟ පසඟ තියෙන කෙනෙක්. නමුත් අපේ ඇහැට පේන්නෙ කොටස් වශයෙන්. එතනදි මස් ලේ ඇහැට පේන කොටසක් සහ නොපෙනෙන කොටසක් තියෙනවා. සමහර විට සියුම් ශරීරයක් තියේ නම් ඒකෙත් ඇට සැකිල්ල ඝනී භවනයි. ඒ ශරීරයේ මාංසය අති සියුම්. දැන් මස් ලේ ඇහෙන් බලන කොට ඝනී භවන වෙච්ච ඇට සැකිල්ල තමයි හොඳට පේන්නෙ. මාංසය විනිවිඳ යනවා. එතකොට ඇට සැකිලි පෙරේතයෙක් යනව කියල නිගමනය කරනවා. නමුත් ඒ වගේ අයත් ඉන්නවා.

හැබැයි ඊටත් වඩා අති සූක්‍ෂම ක්‍රමයක් තමයි X කිරණ ක්‍රමය. බැරි වෙලාවත් X කිරණයක් හා සමානව අපේ මස් ලේ ඇහැ ක්‍රියාත්මක වුනොත්, පාරෙ තොටේ යන එන මිනිස්සු පේන්නෙත් ඇට සැකිලි වගේ. එතකොට දැන් මේ පේන විදියට මිනිස්සු පේන්නෙ නෑ. නමුත් අපේ ඇහැට පේන්නෙ මේ ඝනීභවන කය. මේ ඝනීභවන කයේ වැදිල ආලෝකය පරාවර්තනය වෙන නිසා ඒ තියෙන හැඩරුවින්ම ඝනීභවන කයක් විදියට පේනවා.

ඒ වගේම මියගිය අය යළි මනු ලොව ඉපදිලා කියන පුනර්භව කතා තියෙනවා. ඒ විදියට ඉපදිච්ච එක්තරා ළමයෙක් තමන්ගෙ පෙර අත්භවය දැකල කියපු කතාවක් නිසා ඒ ළමය හිටපු ස්ථානයට, මිනිය වළදාපු තැනට එක්ක ගෙන ගිහින් තියෙනවා. මම එදා යට කළේ මෙන්න මෙතන, එතනදි මගේ ශරීරය කඩියො කෑව කියල ඒ ළමය කියල තියෙනවා. පසුව මේ කතාවෙ ඇත්ත නැත්ත හොයල බලන කොට ඒ ගෙදර අයටත් මතකලු, ඒ මිනිය වළලපු තැන කඩි ගුලක් තිබුන කියල. බලන කොට යටට කඩි හාරනවලු. නමුත් වළලපු මිනිය නිසා ඒ අය ඒක ගණන් අරගෙන නෑ. එතකොට අර කඩි ගිහින් මළ මිනිය කාපු සිද්ධිය මේ ගන්ධබ්බය දැකල තියෙනවා. ඒ කියන්නෙ ඒ මුල් දවස් 7 තමන්ගෙ මළ මිනිය ආශ්‍රය කර ගෙන තමයි ගන්ධබ්බය ඉඳල තියෙන්නෙ. මේ තමයි අද තියෙන සාක්ෂි. නමුත් මේ සියල්ලම එදා තිබ්බච බුදු දහමෙ විග්‍රහයන්ට එකඟයි. අද මේ ගැන විමර්ශනාත්මකව හොයන්න බලන්නෙ නැති නිසයි පටලවාගෙන මේ කාරණය ප්‍රතික්ෂේප කරන තැනට ඇවිත් තියෙන්නෙ.

ඉතින් මේ කාරණාවලින්, කෙනෙක් මියගිහින් දින 7 ක් යන කල් මොනව හරි සියුම් කයක් මළ මිනිය ආශ්‍රිතව තියෙනව කියල ඔප්පු වෙනවා. වැඩි හරියක් මිනිස්සු මළාට පස්සෙ ගන්ධබ්බ ලෝකෙ හත් දවසක් ඉන්නව කියන කාරණය පැහැදිලියි. ඉතින් දින 7 ක් යන කල් ඔය මළ මිනිය ආශ්‍රය කර ගෙන ඇහැ ගහගෙන තමයි ඒ දින 7 ක්‍රියාත්මක වෙන්නෙ. දින 7 සම්පූර්ණ වෙන කල් ඒ බැල්ම සම්පූර්ණයෙන් ඉවත් වෙන්නෙ නෑ.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 39 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දායකත්වය -**

♦ ධම්මික සේනාධීර මහතා - නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ ♦ අසංග මංජුල කුමාර මහතා - හෝමාගම ♦ සමන් සිල්වා මහතා - කළුතර ♦ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ♦ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ♦ එස්.එම්. ජයසේකර මහතා - මාලබේ ♦ සාලින්ද ශ්‍රී ජයවර්ධන මහතා - මාලබේ ♦ ඩබ්.ඒ. තිළිණවතී මහත්මිය - කඩවත ♦ කැළුම් ලංකේශ්වර මහතා - නෙළුව ♦ සම්පත් ඉන්දික මහතා - වලස්මුල්ල ♦ තමර ධනුෂ්ක හෙට්ටිආරච්චි මහතා - කොලොන්නාව ♦ පර්ෆෙක්ට් කම්පියුටර් ආයතනයේ කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ♦ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ♦ නන් අයුරින් දායක වූ පින්වතුන්

**මූල්‍යමය දායකත්වය** -

♦ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ♦ ලියනගේ රංජන ප්‍රනාන්දු මහතා ඇතුළු පවුලේ සැම - ජාඇල - රු.10,000/- ♦ ප්‍රියනාත් ආරියරත්න මහතා ඇතුළු පවුලේ සැම - කුරුණෑගල - රු. 10,000/- ♦ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙව්න්යා දුව - ගල්කිස්ස - රු. 10,000/- ♦ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ♦ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, ඉරෝෂා ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා - ගල්කිස්ස - රු. 5,000/- ♦ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු. 5,000/- ♦ සමන්ත ආබෲ මහතා, සුනේත්‍රා ප්‍රේමරත්න මහත්මිය, මධුරි ආබෲ මෙනවිය - අම්බලන්ගොඩ - රු.3,500♦ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ♦ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ♦ අමිල සල්ගාදු මහතා - බෝමිරිය - රු. 3,000/- ♦ ඩබ්. චන්ද්‍රරත්න මහතා ඇතුළු පවුලේ සැම- පාදුක්ක - රු.3,000/- ♦ ටී.ටී.පී. සිල්වා මහත්මිය - නාගොඩ කළුතර - රු.2,500/- ♦ ඩබ්. ප්‍රේමවතී මහත්මිය සහ ඩබ්. ඒ. නලින සේකර මහතා - වළල්ලාවිට - රු.2,500/- ♦ වීණා අතුකෝරාල මහත්මිය සහ ජනිඳු බිම්සර පුතා - මීරිගම - රු. 2,000/- ♦ ෂවීන් ශ්‍රී ජයවර්ධන පුතා ඇතුළු පවුලේ සැම - මාලබේ - රු. 2,000/- ♦ රංජනී ජයසූරිය මහත්මිය - මීරිගම - රු.2,000/- ♦ ෂෙහානි බස්නායක මහත්මිය - මත්තෙගොඩ - රු. 2,000/- ♦ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු.1,500/- ♦ ඩී.ඩී.ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු.1,500/- ♦ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ♦ ඉරේෂා ඇන්ඩෲ මහත්මිය - හෝමාගම - රු.1,000/-♦ ස්වර්ණා ජයකොඩි මහත්මිය - කැස්බෑව - රු.1,000/- ♦ උපමාලි ද සිල්වා මහත්මිය - පාමංකඩ - රු.1,000/- ♦ බ්‍රිලීෂියා ඩොමින්ගො මහත්මිය - අම්බලන්ගොඩ - රු.1,000/- ♦ අමිල සුගතපාල මහතා - රු.1,000/- ♦ රුවන් රණසිංහ මහතා - පන්නිපිටිය - රු.1,000/- ♦ නදීශා හර්ෂනී ලියනගේ මෙනවිය - කළුබෝවිල - රු. 1,000/- ♦ එරංග ලියනගේ මහතා සහ බිසන්තිකා ගුණසේකර මහත්මිය - කළුබෝවිල - රු. 1,000/- ♦ නිහාල් ලියනගේ මහතා සහ චිත්‍රා ශ්‍රේරු මහත්මිය - කළුබෝවිල - රු. 1,000/- ♦ ඉන්ද්‍රානි විශාකා ජයසිංහ මහත්මිය - බොරලැස්ගමුව - රු. 1,000/- ♦ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා - ගල්කිස්ස - රු. 1,000/- ♦ නුවන් යාපා අමරසේකර මහතා - රදාවාන - රු. 1,000/- ♦ සී.එම්.පී.සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ♦ සේමිනි බුද්ධාරා දියණිය - දොඩංගොඩ, කළුතර - රු.1,000/- ♦ මෙරිල් ඩයස් මහතා සහ ඩිලානි ඩයස් මහත්මිය - නාවින්න - රු.1,000/- ♦ අසංක සෙනරත් අඹගල මහතා - රදාවාන - රු.1,000/- ♦ රත්න පෙරේරා මහතා ඇතුළු පවුලේ සැම - කැස්බෑව - රු. 1,000/- ♦ සුනිමල් කුමාරතුංග මහතා - අවිස්සාවේල්ල - රු.1,000/- ♦ ඩබ්.ඒ. මහින්ද ජයතිලක මහතා - වෙල්පල්ල - රු.1,000/- ♦ දුමිඳු යසිත් සමරරත්න පුතා ඇතුළු පවුලේ සැම - ගම්පහ - රු. 1,000/- ♦ චන්ද්‍රා ජයන්ති මහත්මිය - පිටිපන උතුර - රු.1,000/- ♦ එච්. මේරි නෝනා මහත්මිය - පිටිපන රු.1,000/- ♦ අයිරාංගනී කොස්තා මහත්මිය - පිටිපන රු.1,000/- ♦ ලයනල් හේවගේ මහතා, චන්ද්‍රානි මහත්මිය, ලක්මාලි හේවගේ සහ දිලිනි හේවගේ යන දරුවන් - දාම්පෙ - රු. 1,000/- ♦ එම්.එස්. ගලප්පත්ති මහත්මිය - මාලබේ - රු.1,000/- ♦ එස්.ඩී. පුණ්‍යාවතී මහත්මිය - පිළියන්දල - රු.1,000/- ♦ එම්. ශෂිනි අංජලී ලාලචන්ද්‍ර මහත්මිය- අත්තිඩිය - රු.1,000/- ♦ ජයනාත් සුබසිංහ මහතා - හෝමාගම - රු.1,000/- ♦ කුමුදුනී කහදූව මහත්මිය - තලපත්පිටිය - රු.1,000/- ♦ චන්ද්‍රා පෙරේරා මහත්මිය සහ ඉසුරු උදාන මහතා - පානදුර - රු.1,000/- ♦ කසුන් තාරක මහතා සහ සිතුමිණි ප්‍රබෝධා මහත්මිය - පානදුර- රු.1,000/- ♦ ඩබ්.කේ.ඩී. සංජීවනී මහත්මිය සහ චමින්ද මුණසිංහ මහතා - මතුගම - රු.1,000/- ♦ රංජිත් වික්‍රමසිංහ මහතා, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා, උදාන ආරියවංශ මහතා - මහරගම, ඉසුරු සම්පත් මහතා - කළුතර, චන්දිම ගුණදාස මහතා - මොරටුව, දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව, කුමාරි ගොඩවිට මහත්මිය - කුරුණෑගල, ශ්‍රී රංජිත් සිංහ මහතා - කැළණිය, යමුනා උඩුමලගල මහත්මිය - පිළියන්දල, රසික තුශාන්ත මහතා - හෝමාගම, චතුර සම්පත් ධනංගල මහතා - පාදුක්ක, ශ්‍යාමා ගීතාංගනී මහත්මිය - අබුඩාබි, තිස්ස අතාවුද මහතා - ජා ඇල, නිරංගා නදීශානි ගුණවර්ධන මහත්මිය - නුගේගොඩ - රු. 5,000/- ♦ එකතු වූ සියලු මුදල් පරිත්‍යාග- රු. 124,500/- ♦ පළමු පිටපත් 10000 සඳහා මුද්‍රණ වියදම රු. 232,500/- ♦අනෙකුත් වියදම් - 7,400/- ♦ සම්පූර්ණ වියදම - රු. 239,900/- මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

## හෙළ බොදු පියුම දහම් සඟරාව, පාසල් පුස්තකාල ඇතුළු පොදු ස්ථානවලට නොමිලේ ලබාදීම සඳහා රු. 56,000/- ක දහම් පඬුරක් පරිත්‍යාග කළ ලන්ඩන් නුවර පදිංචි පින්වතුන්

♦ තිසර කොටිගහවත්ත මහතා ♦ අශානි රත්නායක මහත්මිය ♦ මහේෂ් දිසානායක මහතා ♦ නාමල් සල්ගාදු මහතා ♦ නෙලුම් සල්ගාදු මහත්මිය ♦ චන්න කබ්රාල් මහතා ♦ සොමිඳු කබ්රාල් මහතා ♦ දේවින්ද කබ්රාල් මහතා ♦ අශානි උස්ලියනගේ මහත්මිය ♦ නිලන්ජන් වැලිකල මහතා ♦ අතුල ලියනගේ මහතා ♦ නිලන්ත බමුනු ආරච්චි මහතා ♦ කසුන් කුමාර මහතා ♦ කාමලිකා අබේවික්‍රම මහත්මිය ♦ ප්‍රසන්න පෙරේරා මහතා ♦ සුනිල් පෙරේරා මහතා ♦ විමල් එදිරිවීර මහතා ♦ ඔවිනි හංසලා දියණිය

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුඛිත මුදිත වෙත්වා, සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්‍ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

---

## සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුත්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

---

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net mp3.hiddendhamma.net www.helabodhupiyuma.net www.aaryadharma.org
විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අ:- 071 3046895

**දම් සභා ගුවන් හඬ** - www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ පුර සහ අමාවක පොහොය දිනයන්හි උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව.

ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.

---

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථාන:

1. ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ
2. නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ.
3. නිව් පියුම් කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 0773742023
4. තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම.
5. පිනැකල් නෙට් - ශානි ඉන්ස්ටිටියුට් - හයිලෙවල් පාර, ගොඩගම
6. තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක.
7. සුජය ෆාමසි - කටුබැද්ද හංදිය, මොරටුව.
8. ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල.
9. සමනල පොත්හල - නෙළුව.
10. නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර
11. මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල.
12. කේ. පී. ස්ටෝර්ස් - ගන්තුන, කෑගල්ල.
13. ලසන් ට්‍රේඩ්සෙන්ටර් - 8, අලුත්ගොඩ පාර, තිස්සමහාරාමය - 0718523556
14. නුගේගොඩ නාලන්දාරාම විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (ඉරිදා උදේ 9.00 සිට සවස 2.00 දක්වා පමණි.) (077 7577592)
15. දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 0713228571

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න -**
**ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***



# එළියෙන් අඳුරට...



එළියක් ලැබුනු කල ඉන් තව එළිය   ගෙන
පහනක් විලස වුවහොත් එළි ලැබෙන   සැණ
දවසක් එනව නිවනට මග රැගෙන   නැණ
දහමක් මෙලෙස ඇත ලෝ සත වෙතට   එන

දුලබව ලැබෙන පෙර පින් එල එළිය   ලොවේ
කළ යුතු වැඩ නොකර හිටි විට අපතෙ   යැවේ
වළකන විටදී දස රජ දම් ඇදෙන   පවේ
මළ විට මතු භවයෙ තව කප් කෙළද   දැවේ

පෙර පින් කුසල් බලයෙන් ලද භවය   මනු
කර ගෙන පවු කඳන් බිහිසුනු විලස   වුනු
පර තෙර නොදැක සසරෙහි කම් සුවය   තැනු
මරණය පෙනෙන විට කෙලෙසක සතුටු   වෙනු

අප බෝසත් තුමද පෙර කල රජ වූ   තැනේ
සැපවත් කරනු වස් කළ පවු ඇදුන   දිනේ
උපනෙන් නිරයෙ ඔසු පත් නම් ලැබුව   හෙණේ
නොපතා සිටිය ඉන් මතු රජ කමද   අනේ

සිටු රජ මැති ඇමතිවරු ලොව සැපත   ලද
ඉටු කළ යුතුව ඇති යුතුකම් නොකර   ඉඳ
නැටුවොත් ලද පිනෙන් සත හට නොකර   සොඳ
කොටු වෙත් සතරපායේ දුක් කඳුළු   මැද

ලැබුනු පිනෙන් තැන අර ගෙන කරන   වැඩ
දැනුනු විටදී දස අකුසල් ලෙසට   සැඩ
බැඳුනු එ හිත නොසලා දුන් විටදී   ඉඩ
තිබුනු තැනින් අඳුරට මිස නොමැත   ගොඩ

එළියෙන් පෙරදී ලද මෙ භවේ නොකර   එළී
වළියෙන් කල් ගෙවා අකුසල් කරන   කලී
කලියෙන් තිබුනු පින දුරු වී ඉපිද   යලී
දැලියෙන් පිරී යයි මතු භව දුකෙහි   ගිලී

ලොව සත දහමෙ පිහිටවමින් සසරෙ   දුකා
නවතනු පිණිස ලද පෙර පින් මහිම   නෙකා
අවබෝධෙට නොගෙන පෙන්වූ විටදී   යකා
භව ගණනකට අඳුරුයි ලද එළිය   මකා







පබැඳුම
නීතිඥ චන්දන සිරිවර්ධන







# ජය පැරදුම...












ගිය තැන අනුන් හෙළනා ජය ලොවට ණායයි
දිය තුල ලබන ජය මතු අත් බැවට නොයයි
ජය පැරදුම සමයි අට ලෝ දහම එයයි
සියලුම සත ලබන ජයකට නිවන කියයි

ගහ ගෙන මරා ගෙන ජය පැන් ලබන සැමා
වහ ගෙන යයි සසරෙ ලද පින් මහිම තමා
දහමට අනුව ගනු දෙනු එන විටදී හමා
අහනට කිසිවෙකුත් නැත දැන් වැඩිය පමා

බොරුවෙන් දුසිරිතෙන් ලබනා දිනුම සත
වරුවෙන් දෙකෙන් වැනසෙයි මළ විටදි ගත
පිරුමෙන් පෙරුම් ගුණ දම් ජය ලබන සිත
මරුගෙන් නොවැළකෙයි ඇත සදහටම සෙත

කය පවතන්ට තරගෙට නෙක ජය තැනුම
වැය වෙයි සසර ගමනෙදී නැත කිසි දිනුම
බිය විය යුතු කරයි නම් ඒ ගැන වැනුම
ජය නම් හැබෑවට තුන් ලොව ජය ගැනුම

දැහැමින් ජය ලබා දැහැමින් වැඩ කරනා
අහමින් බණ දහම් මතු නිවනට පුරනා
ලිහමින් ගැටළු දහමින් තනතුර දරනා
නහමින් හෙතෙම යයි ගුණයට නොම දිරනා

මම අපි විලස ලොව තුළ ජය ලබන දනා
නොම වෙයි ඒ ජය හැමටම එක විලසකිනා
හැමටම ජය ලබන්නට හැකි එකම තැනා
අම මහ නිවන් සුවයයි අති දුලබ වනා

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන











නීතිඥ චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී